# සිංහල
# භාෂාව හා සාහිත්‍යය

## 6 ශ්‍රේණිය

අධ්‍යාපන ප්‍රකාශන දෙපාර්තමේන්තුව

# ශ්‍රී ලංකා ජාතික ගීය

ශ්‍රී ලංකා මාතා
අප ශ්‍රී ලංකා, නමෝ නමෝ නමෝ නමෝ මාතා
සුන්දර සිරිබරිනී, සුරැඳි අති සෝබමාන ලංකා
ධාන්‍ය ධනය නෙක මල් පලතුරු පිරි ජය භූමිය රම්‍යා
අපහට සැප සිරි සෙත සදනා ජීවනයේ මාතා
පිළිගනු මැන අප භක්ති පූජා
නමෝ නමෝ මාතා
අප ශ්‍රී ලංකා, නමෝ නමෝ නමෝ නමෝ මාතා
ඔබ වේ අප විද්‍යා ඔබ ම ය අප සත්‍යා
ඔබ වේ අප ශක්ති අප හද තුළ භක්ති
ඔබ අප ආලෝකේ අපගේ අනුප්‍රාණේ
ඔබ අප ජීවන වේ අප මුක්තිය ඔබ වේ
නව ජීවන දෙමිනේ නිතින අප පුබුදු කරන් මාතා
ඥාන වීර්ය වඩවමින රැගෙන යනු මැන ජය භූමි කරා
එක මවකගෙ දරු කැල බැවිනා
යමු යමු වී නොපමා
ප්‍රේම වඩා සැම භේද දුරැර ද නමෝ නමෝ මාතා
අප ශ්‍රී ලංකා, නමෝ නමෝ නමෝ නමෝ මාතා

අපි වෙමු එක මවකගෙ දරුවෝ
එක නිවසෙහි වෙසෙනා
එක පාටැති එක රුධිරය වේ
අප කය තුළ දුවනා

එබැවිනි අපි වෙමු සොයුරු සොයුරියෝ
එක ලෙස එහි වැඩෙනා
ජීවත් වන අප මෙම නිවසේ
සොඳින සිටිය යුතු වේ

සැමට ම මෙත් කරුණා ගුණෙනී
වෙළී සමගි දමිනී
රන් මිණි මුතු නො ව එය ම ය සැපතා
කිසි කල නොම දිරනා

ආනන්ද සමරකෝන්



**"අලුත් වෙමින්, වෙනස් වෙමින්, නිවැරදි දැනුමෙන්**

**රටට වගෙ ම මුළු ලොවට ම වෙන්න නැණ පහන්"**

**<u>ගරු අධ්‍යාපන අමාත්‍යතුමාගේ පණිවුඩය</u>**

ගෙවී ගිය දශක දෙකකට ආසන්න කාලය ලෝක ඉතිහාසය තුළ සුවිශේෂී වූ තාක්ෂණික වෙනස්කම් රැසක් සිදුවූ කාලයකි. තොරතුරු තාක්ෂණය, සන්නිවේදනය ප්‍රමුඛ කරගත් සෙසු ක්ෂේත්‍රවල ශීඝ්‍ර දියුණුවත් සමඟ වත්මන් සිසු දරු දැරියන් හමුවේ නව අභියෝග රැසක් නිර්මාණය වී තිබේ. අද සමාජයේ පවතින රැකියාවල ස්වභාවය නුදුරු අනාගතයේ දී සුවිශේෂී වෙනස්කම් රැසකට ලක් වනු ඇත. එවන් වටපිටාවක් තුළ නව තාක්ෂණික දැනුම සහ බුද්ධිය කේන්ද්‍ර කරගත් සමාජයක වෙනස් ආකාරයේ රැකියා අවස්ථා ද ලක්ෂ ගණනින් නිර්මාණය වනු ඇත. ඒ අනාගත අභියෝග ජයගැනීම වෙනුවෙන්, ඔබ සවිබල ගැන්වීම අධ්‍යාපන අමාත්‍යවරයා ලෙස මගේත්, අප රජයේත් ප්‍රමුඛ අරමුණයි.

නිදහස් අධ්‍යාපනයේ මාහැඟි ප්‍රතිලාභයක් ලෙස නොමිලේ ඔබ අතට පත් වන මෙම පොත මනාව පරිශීලනය කිරීමත්, ඉන් අවශ්‍ය දැනුම උකහා ගැනීමත් ඔබේ ඒකායන අරමුණ විය යුතු ය. එමෙන් ම ඔබේ මවුපියන් ඇතුළු වැඩිහිටියන්ගේ ශ්‍රමයේ සහ කැපකිරීමේ ප්‍රතිඵලයක් ලෙස රජය විසින් නොමිලේ පාසල් පෙළපොත් ඔබ අතට පත් කරනු ලබන බව ද ඔබ වටහා ගත යුතු ය.

ලෝකය වේගයෙන් වෙනස් වන වටපිටාවක, නව ප්‍රවණතාවලට ගැළපෙන අයුරින් නව විෂය මාලා සකස් කිරීමටත්, අධ්‍යාපන පද්ධතිය තුළ තීරණාත්මක වෙනස්කම් සිදු කිරීම සඳහාත් රජයක් ලෙස අප කටයුතු කරන්නේ රටක අනාගතය අධ්‍යාපනය මතින් සිදු වන බව අප හොඳින් ම අවබෝධ කරගෙන සිටින බැවිනි. නිදහස් අධ්‍යාපනයේ උපරිම ප්‍රතිඵල භුක්ති විඳිමින්, රටට පමණක් නොව ලොවට ම වැඩදායී ශ්‍රී ලාංකික පුරවැසියකු ලෙස නැඟී සිටින්නට ඔබ ද අදිටන් කරගත යුතු වන්නේ එබැවිනි. ඒ සඳහා මේ පොත පරිශීලනය කිරීමෙන් ඔබ ලබන දැනුම ද ඉවහල් වනු ඇති බව මගේ විශ්වාසයයි.

රජය ඔබේ අධ්‍යාපනය වෙනුවෙන් වියදම් කරන අතිවිශාල ධනස්කන්ධයට වටිනාකමක් එක් කිරීම ද ඔබේ යුතුකමක් වන අතර, පාසල් අධ්‍යාපනය හරහා ඔබ ලබා ගන්නා දැනුම හා කුසලතා ඔබේ අනාගතය තීරණය කරන බව ද ඔබ හොඳින් අවබෝධ කර ගත යුතු ය. ඔබ සමාජයේ කුමන තරාතිරමක සිටිය ද සියලු බාධා බිඳ දමමින් සමාජයේ ඉහළ ම ස්තරයකට ගමන් කිරීමේ හැකියාව අධ්‍යාපනය හරහා ඔබට හිමි වන බව ද ඔබ හොඳින් අවධාරණය කර ගත යුතු ය.

එබැවින් නිදහස් අධ්‍යාපනයේ උපරිම ප්‍රතිඵල ලබා, ගෞරවනීය පුරවැසියකු ලෙස ඔබට හෙට ලොව දිනන්නටත් දේශ දේශාන්තරවල පවා ශ්‍රී ලාංකේය නාමය බබළවන්නටත් හැකි වේවා! යි අධ්‍යාපන අමාත්‍යවරයා ලෙස මම ශුභ ප්‍රාර්ථනය කරමි.



**අකිල විරාජ් කාරියවසම්**

අධ්‍යාපන අමාත්‍ය

# පෙරවදන

ලෝකයේ ආර්ථික, සමාජීය, සංස්කෘතික හා තාක්ෂණික සංවර්ධනයත් සමඟ අධ්‍යාපන අරමුණු වඩා සංකීර්ණ ස්වරූපයක් ගනී. මිනිස් අත්දැකීම්, තාක්ෂණික වෙනස්වීම්, පර්යේෂණ සහ නව දර්ශක ඇසුරෙන් ඉගෙනීමේ හා ඉගැන්වීමේ ක්‍රියාවලිය ද නවීකරණය වෙමින් පවතියි. එහිදී ශිෂ්‍ය අවශ්‍යතාවලට ගැළපෙන ලෙස ඉගෙනුම් අත්දැකීම් සංවිධානය කරමින් ඉගැන්වීම් ක්‍රියාවලිය පවත්වාගෙන යාම සඳහා විෂය නිර්දේශයේ දැක්වෙන අරමුණුවලට අනුකූලව, විෂයානුබද්ධ කරුණු ඇතුළත්ව පෙළපොත සම්පාදනය වීම අවශ්‍ය ය. පෙළපොත යනු ශිෂ්‍යයාට ඉගෙනීමේ උපකරණයක් පමණක් නොවේ. එය ඉගෙනුම් අත්දැකීම් ලබා ගැනීමටත් නැණ ගුණ වර්ධනයටත් චර්යාමය හා ආකල්පමය වර්ධනයක් සහිතව ඉහළ අධ්‍යාපනයක් ලැබීමටත් ඉවහල් වන ආශීර්වාදයකි.

නිදහස් අධ්‍යාපන සංකල්පය යථාර්ථයක් බවට පත්කරමින් 1 ශ්‍රේණියේ සිට 11 ශ්‍රේණිය දක්වා සියලු ම පෙළපොත් රජයෙන් ඔබට තිළිණ කෙරේ. එම ග්‍රන්ථවලින් උපරිම ඵල ලබන අතර ම ඒවා රැක ගැනීමේ වගකීම ද ඔබ සතු බව සිහිපත් කරමි. පූර්ණ පෞරුෂයකින් හෙබි, රටට වැඩදායී යහපත් පුරවැසියකු වීමේ පරිචය ලබා ගැනීමට මෙම පෙළපොත ඔබට උපකාරී වෙතැයි මම අපේක්ෂා කරමි.

මෙම පෙළපොත් සම්පාදනයට දායක වූ ලේඛක, සංස්කාරක හා ඇගයුම් මණ්ඩල සාමාජික මහත්ම මහත්මීන්ටත් අධ්‍යාපන ප්‍රකාශන දෙපාර්තමේන්තුවේ කාර්ය මණ්ඩලයටත් මාගේ ස්තුතිය පළ කර සිටිමි.

**ඩබ්ලිව්. එම්. ජයන්ත වික්‍රමනායක,**
අධ්‍යාපන ප්‍රකාශන කොමසාරිස් ජනරාල්,
අධ්‍යාපන ප්‍රකාශන දෙපාර්තමේන්තුව,
ඉසුරුපාය,
බත්තරමුල්ල.
2019.04.10

| | |
|---|---|
| **නියාමනය හා අධීක්ෂණය** | ඩබ්ලිව්. එම්. ජයන්ත වික්‍රමනායක<br>අධ්‍යාපන ප්‍රකාශන කොමසාරිස් ජනරාල්<br>අධ්‍යාපන ප්‍රකාශන දෙපාර්තමේන්තුව |
| **මෙහෙයවීම** | ඩබ්ලිව්. ඒ. නිර්මලා පියසීලි<br>කොමසාරිස් (සංවර්ධන)<br>අධ්‍යාපන ප්‍රකාශන දෙපාර්තමේන්තුව |
| **සම්බන්ධීකරණය** | ප්‍රගීතිකා ජයසේකර, සහකාර අධ්‍යාපන ප්‍රකාශන කොමසාරිස්<br>අධ්‍යාපන ප්‍රකාශන දෙපාර්තමේන්තුව |
| **සහාය සම්බන්ධීකරණය** | දිලේකා අමරසේන, සංවර්ධන නිලධාරි<br>අධ්‍යාපන ප්‍රකාශන දෙපාර්තමේන්තුව |

**සංස්කාරක මණ්ඩලය**

| | |
|---|---|
| 1. රත්නසිරි අරංගල | මහාචාර්ය, ශ්‍රී ජයවර්ධනපුර විශ්වවිද්‍යාලය |
| 2. ඩී.ඩබ්ලිව්. දිසානායක | ජ්‍යෙෂ්ඨ කථිකාචාර්ය, ජාතික අධ්‍යාපන ආයතනය |
| 3. ඊ. ආර්. නිමල් ප්‍රේමකුමාර | කථිකාචාර්ය, ජාතික අධ්‍යාපන ආයතනය |
| 4. කුමාර සේනාරත්න | සහකාර අධ්‍යාපන අධ්‍යක්ෂ, පළාත් අධ්‍යාපන කාර්යාලය, අනුරාධපුරය |
| 5. ප්‍රගීතිකා ජයසේකර | සහකාර කොමසාරිස්, අධ්‍යාපන ප්‍රකාශන දෙපාර්තමේන්තුව |

**භාෂා සංස්කරණය**
මහාචාර්ය රත්න විජේතුංග

**ලේඛක මණ්ඩලය**

| | |
|---|---|
| 1. නිශ්ශංක බණ්ඩාර | ගුරු සේවය<br>බප/ගම්/දොම්පෙ මහා විද්‍යාලය, දොම්පෙ |
| 2. අරුණ ඉන්දික වේරගල | ගුරු සේවය<br>කො/ ආනන්ද බාලිකා විද්‍යාලය, කොළඹ 10 |
| 3. විපුලි නිරෝෂිණී හෙට්ටිආරච්චි | ලේඛිකා |
| 4. එච්.ඒ. දිලුම් රත්නමාලා | සහාය කථිකාචාර්ය<br>සිංහල අංශය, කොළඹ විශ්වවිද්‍යාලය |

**සෝදුපත් කියවීම**
සමිතා විද්‍යාසේකර — උපකර්තෘ, සිංහල ශබ්දකෝෂ කාර්යාලය

**පිටකවර නිර්මාණය**
1. රුමේෂ් ද සිල්වා
2. ඩී. එල්. අමිඳු බුද්ධික — අධ්‍යාපන ප්‍රකාශන දෙපාර්තමේන්තුව

**පරිගණක අක්ෂර සංයෝජනය**

| | |
|---|---|
| 1. එස්.වී.ජී. එරංගා දිල්රුක්ෂි | අධ්‍යාපන ප්‍රකාශන දෙපාර්තමේන්තුව |
| 2. ජයනි චන්දිමා කරුණාරත්න | අධ්‍යාපන ප්‍රකාශන දෙපාර්තමේන්තුව |

# සංස්කාරක සටහන

" උගන්නැ සිය බස - මත් වන්නැ එහි රසයෙන්
දකින්නෙ'හි මහගු බව - කියා දෙන්නැ අනුනටත් "

2015 වර්ෂයේ සිට ක්‍රියාත්මක වන නව විෂය නිර්දේශයට අනුකූලව මේ 6 ශ්‍රේණිය පෙළ පොත සකස් කර ඇත්තේ ඔබට සිංහල භාෂාව හා සාහිත්‍යය හැදෑරීම සඳහා අත්වැලක් සැපයීමට යි. මේ පෙළ පොතේ පාඩම් අනුපිළිවෙළ ජාතික අධ්‍යාපන ආයතනය මඟින් නිර්දේශිත ඉගැන්වීම් අනුක්‍රමයට අනුකූල වෙයි.

මෙහි එන ඇතැම් පාඩම් විවිධ ලේඛකයන්ගේ කෘතිවලින් උපුටා ගෙන 6 ශ්‍රේණියේ සිසුන්ට යෝග්‍ය පරිදි සංස්කරණය කරනු ලැබ ඇති අතර මේ පොත සඳහා ම අලුතින් සම්පාදනය කරන ලද පාඩම් කිහිපයක් ද මෙහි ඇතුළත් වෙයි. විවිධ භාෂා කුසලතා වර්ධනයටත් සාහිත්‍ය රස වින්දනයෙන් ජීවිතය පිළිබඳ අවබෝධයක් ලබා ගැනීමටත් මේ පොත පරිශීලනය වැදගත් වේ. එහිදී ඔබේ ගුරුවරයාගේ හෝ වැඩිහිටියන්ගේ හෝ සහාය අවශ්‍ය විය හැකි ය.

තනි ව කියවා රස විඳිය හැකි කතන්දර, කවි, ලිපි ආදිය ද මෙහි අන්තර්ගත වෙයි. ඒ අතරින් බොහොමයක් විවිධ පොත්වලින් උපුටා ගත් කොටස් ය. ඒ පොත පත සොයා ගෙන කියවන්න.

මෙහි උපුටා ගෙන ඇති ලිපි ලේඛන රචනා කළ ලේඛකයන්ට අපගේ ගෞරව පූර්වක ප්‍රණාමය පිරිනමමු. එමෙන් ම මෙහි ඇතුළත් වන ගුවන්විදුලි වැඩසටහන ලබා ගැනීම සඳහා අවසරය ලබා දුන් ශ්‍රී ලංකා ජාතික ගුවන්විදුලි සංස්ථාවේ සභාපති හඩ්සන් සමරසිංහ මහතාට සහ අතිරේක අධ්‍යක්ෂ ජනරාල් ඒරානන්ද හෙට්ටිආරච්චි මහතාට අපගේ ස්තුතිය හිමි වේ. වැදි ජනයාගේ ඡායාරූප ලබා දුන් මහාචාර්ය ප්‍රේමකුමාර ද සිල්වා මහතා, කලා වැවේ ඡායාරූප ලබා දුන් එස්. එම්. අයි. කේ. කරුණාරත්න මහතා, සූර්යග්‍රහණයේ ඡායාරූප ලබා දුන් ශෙහාල් ජෝශප් මහතා සහ නන් අයුරින් දායක වූ සියලු දෙනා ද කෘතඥතා පූර්වකව සිහිපත් කරමු.

සෙසු විෂයයන් ඉගෙනීමේ දී ද භාෂා දැනුම අත්‍යවශ්‍ය වේ. එමෙන් ම සාහිත්‍යය පරිශීලනයෙන් දැනුම හා ප්‍රකාශන ශක්තිය දියුණු කර ගනිමින් සමබර පෞරුෂයෙන් යුතු මිනිසකු වීම ද ඔබේ අනාගත සාර්ථකත්වයට පිටිවහලක් වනු නො අනුමාන ය. "සිංහල භාෂාව හොඳින් ඉගෙන එහි රසයෙන් මත් වී එහි වටිනාකම මනාව වටහා ගෙන අන් අයට ද පහදා දෙන්නැ"යි යන කුමාරතුංග මුනිදාස මහතාගේ ඉහත කියමන ඔබට සිහිපත් කරමු. එමඟ යෑමට ඔබට ධෛර්යය හා ශක්තිය පතමු.

**සංස්කාරක මණ්ඩලය**

# පටුන


පිටු අංක

1 නරි නයිදේ රැවටිච්චි 1

2 උදය සිරි 7
- අපි කවි ලියමු 9

3 චීචෙං චූලගෙං යමු කිරි නෑනෝ 11
- මාතෘකානුකූල කතා 19
- සුබ පැතුම් පත් 19
- පෞද්ගලික ලිපි 21

4 අක්ෂරමාලාව හා පිලි 24

5 නාම පද හා එහි ප්‍රභේද 29
- වචන භේදය 30
- උක්ත අනුක්ත භේදය 36
- ලිංග භේදය 40

6 සිරිත් හොඳ දැන ගෙන 42

7 අලි උවදුර 45
- විශේෂණ පද 50

8 නලපාන ජාතකය 51
- මහාප්‍රාණ අක්ෂර 59
- සඤ්ඤක අක්ෂර 60

9 ක්‍රියා පද හා එහි ප්‍රභේද 62
- වචන භේදය 65
- පුරුෂ භේදය 66
- කාල භේදය 68
- ලිංග භේදය 70

10 වාක්‍ය නිර්මාණය 72

11 කලා වැවට පින් දීලා පලයල්ලා 75
- මාතෘකානුකූල රචනා ලිවීම 79

12 ඇවිදින කොළයා 81
- විරාම ලක්ෂණ 85

13 අග්ගළා කංඩෝං පුතා 89

14 සසඳ සසඳ හඳපානේ අපි යනවා 94

15 'සඳා මෙලෙස පුර දෙරණේ' 97

16 මරණ තුනක් ඇති මිනිසෙක් පැණි කෑ ය.. 101
- විශේෂණ පද 105

17 පුංචි පැළේ ගස වෙනා 107

18 වාසනාවන් 114

19 රාසිං දෙයියන්ට බැණ වැදුණ මුරකරුවා 116
- නිර්මාණාත්මක ප්‍රබන්ධ රචනා 121

20 සූරිය උදා වී යළි සැගවුණාදෝ 122
- බිත්ති පුවත්පත් ලිපි 133
- සඟරා ලිපි 135

21 සතුරු - මිතුරුව 137

# 1 නරිනයිදේ රැවටිච්චී

ලිවීමේ ක්‍රමයක් හෝ අකුරු නො දැන සිටි මිනිස්සු ඔවුන්ගේ අත්දැකීම්, දැනුම කටින් කට පවත්වාගෙන ආවෝ ය. ඒවා වර්තමානයේ ජනශ්‍රැති (Folk lore) නමින් හැඳින්වෙයි. ජනකතා, පිරුළු, ජන කවි, ජන නාටක, උපහැරණ ආදිය එයට අයත් වේ. පොත පතෙහි නො ලියවුණ ද ජනශ්‍රැති, ඒවා බිහි වූ ජන සමාජයේ සාහිත්‍යාංගයක් ලෙස සැලකිණි.

සිංහල සාහිත්‍යය පෝෂණයට ද ජනශ්‍රැතියේ දායකත්වය ලැබී ඇත. මුද්‍රණ ශිල්පය දියුණු වීමත් සමග කටින් කට පැවත ආ ජනශ්‍රැති එක් රැස් කොට ලියා තැබීමට ඇතැම් ලේඛකයෝ කටයුතු කළහ. 'නරි නයිදේ රැවටිච්චී' නම් ජන කතාව සිංහල ජනකතා සංග්‍රහ කරමින් ඒ. පී. ගුණරත්න විසින් සම්පාදිත *වටු කිරිල්ලී සහ තවත් කතා* නම් ග්‍රන්ථයෙන් උපුටා ගන්නා ලදි.

මේ කතාව ලියා ඇත්තේ අප ලියන ආකාරයට වඩා වෙනස් භාෂා විලාසයකින් බවත් වර්තමාන ව්‍යවහාරයේ නොමැති වචන හා යෙදුම් එහි ඇතුළත් බවත් ඔබට පෙනී යනු ඇත.

එකමත් එක ගමක ලොකු විලක් තිබුණා. මේ විලේ නිතර දිය හිඳෙන්නෙ නෑ. ඒ හින්දා මේ විලේ බොහොම වැවිලා තිබුණා ඕලු, නෙලුම්, මානෙල්. ඒ වගේ ම කුඩමස්සනුත් බොහොම හිටියා. කුඩමස්සන් අල්ලා ගෙන කෑමට නිතර රැක ගෙන ඉන්න කිරිකොක්කු, මානකොක්කු, මැටිකොක්කු, කණකොක්කු එහෙමත් විලේ වටේට ම තැන් තැන්වල හිටියා. ඔහොම තියන අතරෙදි එක කාලෙක හත් අවුරුදු නියගයක් ඇති වෙලා මේ විලත් ටිකෙන් ටික හිඳෙන්ට පටන් ගත්තා.

විල හිඳීගෙන යන කොට කොකුන්ට වඩ වඩා වාසි වෙන්ට පටන් ගත්තා. ඒ එක්ක ම මිනිස්සුත් ඇවිත් කරක් ගහලා කුඩා පාගලා කුඩමස්සන් අල්ලා ගෙන යන්ට පටන් ගත්තා. තවත් දිය අඩු වෙන කොට මිනිස්සු විලේ තැන් තැන්වල වැටි බැඳලා, දිය ඉහලා ඉන්න තරම් ඔක්කොම කුඩමස්සන් අල්ලා ගෙන ගියා. ඊට පස්සෙ විල ඔක්කොම කුඩමස්සන්ගෙන් හිස් උණා.

ඉතින් විල එහෙම පිටින් ම කුඩමස්සන්ගෙන් හිස් උණා ම ඒ විලේ හිටිය මානකොක්කු දෙන්නෙක් කතා කර ගත්තා. "දැන් ඉතින් අපට මේ විල

රැක ගෙන ඉඳලා ඇති කාරියක් නෑ. දැන් විලේ තියෙන්නෙ මඩ ටික විතරයි. කුඩමස්සනුත් නෑ. කෑමට වෙන දේකුත් නෑ. අපි ඉතින් ඉගිලිලා යමු වෙන රටක දිය ඇති විලක් බලා ගෙන'' කියලා.

මේ දෙන්නා මෙහෙම විලෙන් පිට වෙලා යන්ට කතා කර ගන්න කොට එතන ළඟ හිටිය ඉබ්බෙක් මේ කතාවට කන් දී ගෙන හිටියා. එහෙම හිටලා අර මානකොකුන් දෙන්නාට කතා කරලා කීවා. ''ඔය දෙන්නා නම් පින්වත් ඇත්තො. හිතු වෙලාවක හිතු රටකට පියාසර කර ගෙන යන්ට පුළුවනි. මාත් ඉතින් මෙච්චර කාලයක් මේ විලේ එකට හිටිය කෙනෙක් නේ. දිය ඇති තැනකට මාත් එක් කර ගෙන යන්ට බැරි ද?'' කියලා.

මේ කතාවට මානකොක්කු දෙන්නා හිනා උණා. හිනා වෙලා කීවා ''අනේ මෝඩ ඉබ්බෝ, අපි දෙන්නා පියාපත් ඇත්තන් නිසා පියාසර කර ගෙන යන්ට පුළුවනි. ඉබ්බන්ටත් පියාසර කරගෙන යන්ට පුළුවන් ද? ඉබ්බන්ට පියාපත් තියනවා ද?'' කියලා.

මේ කතාවට ඉබ්බා කීවා ''දුකට පත් උණ වෙලාවක පිහිටක් ඉල්ලන යාළුවකුට හිනා වීම ඒ තරම් වැදගත් කාරියක් නෙමෙයි. මගෙ ඉල්ලීම ගැන හිතා බැලීමයි යුතුකම. ඔය ඇත්තන්ගේ ඔය අලංකාර කළුපාට පියාපත් වගේ, ඔය අලංකාර දිග බෙල්ල වගේ අලංකාර මොළේකුත් තියෙන්ට පුළුවනි. මේ නාකි ගොරහැඩි ඉබි මොළේට කල්පනා නූණත් අහසත් පොළොවත් ජලයත් ගැන හොඳ ඉගෙනීමක් තියෙන ඔය ඇත්තන්ගේ උගත් මොළේට වැටහෙන්ට බැරිකමක් නෑ මේ අසරණයාට උපකාරයක් කරන හැටියක්'' කියලා.

ඒ ගමන ආයෙත් අර මානකොක්කු දෙන්නාගෙන් එකෙක් කීවා ''කොකුන් කැටුව ඉබ්බන්ට යන්ට පුළුවන් විදියක් ගැන අපට නම් හිතන්ට අමාරුයි. කරන්ට ඇත්තේ දිය තියෙන රටකට සේන්දු වෙන කල් පුරුදු පා ගමනෙන් නොනවත්තා ගමන් කරන එකයි. හාවුන් එක්ක තරගෙට දුවලා දිනන්ට පුළුවන් ඉබ්බකුට යොදුන් සීයක් හමාරක් යන්ට මහ කාලයක් ගත වෙන එකක් නෑ'' කියලා.

ඉතින් ඉබ්බා තව තවත් පිංසෙණ්ඩු වෙන්ට පටන් ගත්තා. ''මේ කරුණාවන්ත උගත් මිත්‍රයන් දෙන්නාගෙන් මේ අසරණ වයසක ඉබි පරාණෙට පිහිටක් නැත්නම්, ඉතින් ආයෙ ලබා ගන්ට වෙන්නෙ කාටත් බෑ නොකියා පිහිට වෙන මාරයාගෙ පිහිට තමා. දැන් මේ විලේ කුඩමස්සනුත් නෑ. ඕලු, නෙලුම් ගස්වල අල, මල් වගේ දේකුත් නෑ. හෙට, මේ විලට එන මිනිසුන් මා පෙරළා බැඳ ගෙන යනවාට අනුමානයක් නෑ. අනේ යන තැනකට මාත් කැටුව යන්ට'' කියලා. ඒ ගමන එක මානකොකෙක් කතා කරලා ඉබ්බාට කීවා ''හොඳයි,

එහෙනම්, මට කල්පනා වෙනවා එක උපායක්. ඒක ටිකක් අමාරු වැඩක්, ඒත් අපි කරන්නම්. හැබැයි මේ ඉබි උන්නැහෙ එක කාරණේකට එකඟ වෙන්ට ඕනෑ" කියලා.

ඉතින් ඉබ්බගෙ තියෙන ඕනෑකමේ මහත නිසා කාරණේ මොකක් ද අහන්නේවත් නැතුව එක පාරට ම කීවා "එක කාරණේකට නෙ මෙයි, දහ කාරණේකට උණත් මම එකඟ වෙන්නම්, හැබැයි යන තැනකට මාත් එක්ක ම යන්ට ඕනෑ" කියලා.

එතකොට අර කතා කරපු මානකොකා ආයෙමත් කීවා "එකඟ වෙන්ඩ ඕනෑ කාරණය මේකයි. ගමනෙ කෙළවරක් වෙලා බිමට බහින තෙක් කට අරින්ට බෑ. කිසි ම කතාවක් බෑ. මග තොට විස්තර අහන්ටවත් තව හුඟක් දුර ද, දැන් අපි කොයි හරියෙ ද? අච්ච බොහොම සැරයි නේ ද? ඔය වගේ කිසි ම දෙයක් ගැන කිසි ම කතාවක් කරන්ට, කොටින් ම කට අරින්ට තහනම්" කියලා.

ඉතින් ඉබ්බා පොරොන්දු උණා "කිසි ම කතාවක් කරනවා තියා කට අරින්ට හිතන්නෙවත් නෑ. කොහොම නමුත් මා කැටුව යාම විතරක් කරන්ට" කියලා. එහෙම ඉබ්බා එකඟ උණා ම එක මානකොකෙක් හයිය ඇති කෝටු කැල්ලක් හොයා ගෙන ආවා. හොයා ගෙන ඇවිත් ඉබ්බාට කීවා "මෙන්න මේ ලී කෝටුව මැද හයියෙන් කටින් ඩැහැ ගන්ට. හොඳ හැටි තදින් ඩැහැ ගන්ට ඕනෑ. ආයෙ මොන දේකටවත් කට අරින්ට විතරක් එපා. කට ඇරියොත් නම් ඉතින් බත් මුට්ටිය පොළොවෙ ගැහුවා වගේ හිටියි" කියලා.

"හා, හා, මම එහෙමත් කරනව ද?" කියලා ඉබ්බා ලීකෝටුව කටින් ඩැහැ ගත්තා. මානකොක්කු දෙන්නා ඒ කෝටුවේ කෙළවරවල් දෙක හොටින් ඩැහැලා උස්සා ගත්තා. උස්සා ගෙන බොහොම සීරුවෙන් ඉගිලී යන්ට උණා. හැබැයි කොයි එකටත් පාතින් යනවා වඩා හොඳයි කියලා මානකොක්කු දෙන්නා වඩා ඉහළින් පියාසර කළේ නැහැ.

මේ තුන්දෙනා ඔහොම යන කොට ඔන්න එක දෙණිපතක හිටපු නරියෙක් දුටුවා මේ ඇත්තන් යන මේ අපූරු ගමන. දැකලා නරියා හූ කියලා හිනා උණා. හිනා වෙලා උඩ බලා ගෙන හයියෙන් අඬ පාලා ඇහුවා "ඈ අප්පේ, කාට දැකුමක් ද ඔය තඩේ ගෙනියන්නෙ?" කියලා.

මේ නරියාගෙ කතාවට ඉබ්බාට හොඳට ම තරහ ආවා. තරහ ඇවිත් "මේ තඩ ගෙනියන්නෙ තොපේ නැන්දලෑ දිහාට" කියලා කියන්ට හිතා ගෙන කට ඇරියා විතරයි, නැට්ටෙන් ගැලවුණු තල් ගෙඩියක් වගේ ඉබ්බා ජොග් ගාලා දෙණියට වැටුණා. ඒ ගමන නරියා ඒක දැකලා "ඔන්න බොලේ අද අහසින්

වැටුණ මසක්'' කියාගෙන ඉබ්බා ළඟට දිව්වා. ඉබ්බත් නරියා එනවා දැකලා පා හතරයි, ඔළුවයි උගෙ ඉබි කබොල්ල ඇතුළට ඇද ගත්තා. නරියා දුවලා ගිහින් ඉව කරලා බැලුවා. එහෙන් දත ගැහුවා; මෙහෙන් දත ගැහුවා; මොන හැටියකටවත් හපන්ට නම් බෑ. ඒ ගමන නරියා, ඉබ්බා ඒ මේ අත පෙරළන්ට උණා.

ඔන්න මෙවෙලෙ ඉබ්බා කබොල්ල ඇතුළේ ඉඳ ගෙන හිනා වෙන්ට උණා. හිනා වෙලා නරියගෙන් ඇහුවා, ''මොකද යාළුවා, හපන්ට බැරි ද? කොහොම ද යාළුවා මා හපන්නෙ, මම මේ හත් අවුරුදු නියඟකට අහු වෙලා වේළිලා, වේළිලා කොට්ට වෙලා. දියක දාලා පොඟවලා ගත්තොත් මිස නැතුව නම් අවුරුද්දක් හැපුවත් හපන්ට නම් බෑ'' කියලා.

ඉතින් ඉබ්බා ආයෙමත් කීවා ''ඇයි මෝඩයො, ඔය තරම් දේකුත් නො දැන ද උඹ ඉබිමස් කන්ට තනන්නේ? දිය ගේන්ට බැරි නම් මාව උස්සා ගෙන ගිහින් දමාපන්කො දිය තියන තැනක'' කියලා.

''ඒකත් හරි තමා'' කියලා ඒ ගමන නරියා, ඉබ්බා කටින් ඩැහැ ගෙන ගියා ඒ අහල තිබුණ මහ විලකට. ගිහින් ඉබ්බා දියේ දමල පයින් පාගා ගෙන හිටියා. නරියා පාගා ගෙන ඉන්න හින්දා ඉබ්බාටත් යන්ට ඉඩක් නෑ. ඉබ්බත් ඔහොම හිටියා. හුඟක් වෙලා ගියායින් පස්සෙ නරියා ඉබ්බට කතා කරල ඇහුවා ''ආ මෝඩ ඉබ්බෝ, දැන් පෙඟුණා ඇද්ද'' කියලා.

ඉතින් ඉබ්බා කීවා ''දැන් නම් හුඟක් හරිය පෙඟුණා. නරි අයියගෙ පය තියන තැන විතරයි තව පෙඟෙන්ට ඇත්තෙ. පය ටිකක් බුරුල් කළොත් ඒ ටිකත් පෙඟෙයි'' කියලා. නරියත් අමුත්තක් නො කියා පය බුරුල් කළා. පය බුරුල් කරනවාත් එක්ක ම ඉබ්බා දියට ඇදිලා ගියා. ඒත් නරියා එක පාරට ම පැනලා අල්ලා ගත්තා දුවන ඉබ්බගෙ එක කකුලකින්. ඉතින් නරියා කකුලෙන් අල්ලා ගත්තාම ඉබ්බා දඟලන්නෙ නැතුව එහෙම ම හිටලා කීවා ''නරි අයියා රැවටිච්චී කෙටල අලේ එල්ලිච්චී'' කියලා.

නරියත් හිතුවා එහෙනං කෙටල අලේ තමා මට අහු උණේ කියලා ඉබ්බගෙ කකුල අත ඇරල ඒ ළඟ ම තිබුණ කෙටල අලයක් අල්ලා ගත්තා. ඒ ගමන ඉබ්බා නරියාට බහින්ට බැරි තරමට ජඹුරට ගිහින් නරියාට කතා කරලා ''බොල නරියෝ, තොපි එදත් නරි, අදත් නරි, තොපි කවදද ඉබිමස් කෑවෙ'' කියා ගෙන යන්ට ගියා.

## අරුත් පැහැදිලි කිරීම

| | | |
|---|---|---|
| කරක් ගහලා | - | කරක් ගෙඩිය නැමැති උපකරණයෙන් මාළු ඇල්ලීම |
| කූඩා පාගලා | - | වේවැල්වලින් වියා ගත් කූඩයකින් මාළු ඇල්ලීම |
| ඩැහැ ගත්තා | - | අල්ලා ගත්තා |
| දෙණිපතක | - | දෙණිය, කඳු දෙකක් අතර ඇති බිම් කොටස |
| අඬ පාලා | - | හඬ නගා/කෑ ගසා |
| තඩ | - | දෙපසින් කර තබා ගෙන යා හැකි පරිදි මැද බරක් ගැට ගසා ඇති ලීය |
| ඉබි කබොල්ල | - | ඉබි කට්ට |
| කොට්ට වෙලා | - | අධික ලෙස වේළිලා |
| තනන්නේ | - | සූදානම් වන්නේ |
| බුරුල් | - | ලිහිල් |
| කෙටල | - | ජලය ඇසුරේ වැවෙන පඳුරු වර්ගයක් |
| ජම්බුරට | - | ගැඹුරට |

## අවබෝධය

1. විල සිඳී යන විට වැඩිපුර ම වාසි අත් වූයේ කාට ද?
2. මානකොකුන් දෙදෙනා වෙනත් රටක විලක් වෙත යාමට තීරණය කළේ ඇයි?
3. වෙනත් විලකට ඔසවා ගෙන යාමට පෙර ඉබ්බාට දුන් අවවාද මොනවා ද?
4. ඉබ්බා ඔසවා ගෙන යාමට කොකුන් යෙදූ උපාය කුමක් ද?
5. උඩින් ගෙන ගිය ඉබ්බාට කට ඇරීමට සිදු වූයේ ඇයි ?
6. දියේ සිටි ඉබ්බා නරියාගේ ග්‍රහණයෙන් මිදී යාමට යෙදූ උපක්‍රමය කුමක් ද?

## ලිඛිත අභ්‍යාස

1. කථා ව්‍යවහාරයේ එන පහත සඳහන් යෙදුම් ලේඛන ව්‍යවහාරයට හරවා ලියන්න.

   i. ඒ හින්දා
   ii. කන් දී ගෙන හිටියා
   iii. තනන්නේ
   iv. හිස් උණා
   v. හපන්ට
   vi. හුඟක් හරිය

2. මෙම කථාවේ ඔබ සිත් ගත් අවස්ථාවක් මිතුරකුට විස්තර කරන ආකාරය ලියා දක්වන්න.

3. පහත සඳහන් පදවලට සමාන අර්ථ දෙන පද පාඩමෙන් උපුටා දක්වන්න.

   i. ගැඹුර
   ii. උපක්‍රමයක්
   iii. ශබ්ද
   iv. ඉගිල්ලෙනවා
   v. ජලය
   vi. ඉඩෝරය
   vii. අහගෙන හිටියා

4. මේ කතාවේ එන උපමා දෙකක් උපුටා දක්වන්න.

## ප්‍රායෝගික අභ්‍යාස

1. මෙම ජනකතාව ශබ්ද නඟා කියවන්න.
2. මෙහි ඇති සංවාද සහිත කොටස් ඇසුරින් කෙටි නාට්‍යයක් රඟ දක්වන්න.
3. සතුන් සම්බන්ධ වෙනත් ජනකතාවක් සොයා පන්තියට ඉදිරිපත් කරන්න.

# 2

# උදය සිරි

මිනිසා ද සෙසු සතුන් හා ගහකොළ, ඇළදොළ, කඳුහෙල් ආදිය මෙන් ම සොබාදහමේ නිර්මාණයකි. ඔහු ස්වභාවධර්මය තමන්ට රිසි පරිදි වෙනස් කිරීමෙන් සිය ගමන් මඟ සකස් කර ගත්තේ ය. එපමණක් නො ව ස්වභාවධර්මයෙන් චමත්කාරයක් විඳීමට ද මිනිසා සමත් වෙයි. සිය සිතැඟි සොබාදහම අනුව සකස් වන ආකාරය ද සොබාදහමින් ලබන වින්දනය, ආස්වාදය හා ප්‍රබෝධය ද අනාවරණය කරමින් ඔහු කලා නිර්මාණකරණයේ යෙදෙයි.

ටිබැටයේ සිකීම් ප්‍රාන්තයේ උපත ලබා ලංකාවට සංක්‍රමණය වී දිවි ගෙවූ සිකීම් මහින්ද හෙවත් ඇස්. මහින්ද හිමි විසි වන සියවසේ සිංහල කාව්‍ය ක්ෂේත්‍රය පෝෂණය කළ ලේඛකයන් අතරේ ප්‍රමුඛයකු සේ පිළිගැනේ. උන්වහන්සේ විසින් රචිත ‘උදය සිරි’ පද්‍ය පන්තියේ සොබාදහමේ ආශ්චර්යයෙන් මිනිස් ජීවිත ප්‍රබෝධවත් වන ආකාරය පැවසෙයි.

පිපේ නෙලුම් ඕලු ගඟේ විලේ ඇළේ
තිබේ වලාකුළු පහ වී නිලේ වෙලේ
නො පේන තෙක් ඈත මඟුල් ගෙයක් වගේ
සැදී සිටින්නේ ද ගසුත් වැලුත් ගලුත්

නිදන්නෙ ඇයි ? මේ ළමයෝ තවත් උදේ
නැඟී සිටින්නැයි අත ගා කියන්නා සේ
ජනේලයෙන් දැන් හිරු රැස් ගලා වැටී
සිඹී මගේ මූණ පුරා උරා අහෝ

පිපී ගියා වූ ගත මූකලන් කැලේ
මලේ කොළේ පාට මෙසේ මෙසේ වෙතී
නෙලුම් කුමාරීට කියන්නවුන් වගේ
විලේ පියාඹත් බමරෝ රැරුං ගගා

උදැල්ල හා කැත්ත කරේ තබා ලා
සැහැල්ලුවෙන් බෝම දෙපා නගා ලා
දැකුම්කලුයි දැන් ගොවියා ගමන් ගත්
උදේ සිරීගේ සිරි ඉන් වැඩී වේ

සමන් නෙලුම් හා මහනෙල් ද රෝස
මලින් නැගී ආ සුවඳත් උරා බී
හමන්නෙ මේ සීත සුළං අලුත් වූ
පණක් දිදී මෙන් මට මේ වෙලාවේ

නිකම් ඉඳීමෙන් පල නෑ ගෙ මුල්ලේ
තමන් තමන්ගේ වැඩෙහී යෙදෙත්වා
කියන්නවුන් මෙන් ගන නිල් කැලෑවේ
අඬත් නටත් ගස් අතරේ කුරුල්ලෝ

## අවබෝධය

**කවි පෙළ කියවා පහත දැක්වෙන ප්‍රශ්නවලට පිළිතුරු සපයන්න.**

1. කවියේ දැක්වෙන පරිදි නෙලුම් සහ ඕලු මල් පිපෙන්නේ කොහේ ද?
2. විලෙහි බමරුන් පියාඹන්නේ නෙලුම් කුමාරිට කුමක් කියන්නාක් මෙන් ද?
3. ගොවියා උදෑසන තම වගා බිම් කරා ගමන් කරන ආකාරය ලියන්න.
4. සීත සුළං හමන්නේ කවර මල්වල සුවඳ උරා ගෙන ද?
5. ගස් අතරේ කුරුල්ලන් නටා අපට දෙන පණිවිඩය කුමක් ද?
6. උදෑසන අසිරිය පිළිබඳව කවි පෙළෙන් පැවසෙන අදහස කෙටියෙන් ලියන්න.

## ප්‍රායෝගික අභ්‍යාස

**1. සොබා දහම ගැන ලියවී ඇති කවි එකතු කර පොත් පිංචක් සකස් කරන්න.**

## අපි කවි ලියමු

**වැස්ස පිළිබඳ ලියවී ඇති පහත දැක්වෙන ඡේද දෙක කියවන්න.**

- මිනිසාගේ පැවැත්මට වර්ෂාව අත්‍යවශ්‍ය ය. බීමට, නෑමට, රෙදි සෝදා ගැනීමට, වගාවට අවශ්‍ය ජලය ලැබෙන්නේ වර්ෂාව නිසා ය. වර්ෂාව නොමැති වූ කල නියඟ ඇති වේ. එවිට වගා බිම් පාළු වී ආහාර හිඟ වී යයි. මිනිසා ඇතුළු සියලු සතුන්ට ආහාර නැතිව යයි. වර්ෂාව වැඩි වූ කල ගංවතුර ඇති විය හැකි ය. එවිට අපි විවිධ ආපදා හා පීඩාවලට මුහුණ දෙන්නෙමු.

- හාත්පස පවතින අන්ධකාරය, විදුලි එළිය, අකුණු හඬ වැස්සක පෙර නිමිති ය. කුරුල්ලෝ කෑදලි කරා ඉක්මනින් පියාඹති. හෝ හඬ ළඟ ළඟ ම ඇසෙයි. ක්‍රමයෙන් වැහි බිඳු වහලක පතිතව බිමට වැටෙයි. සීතල සිරිපොද ගත කිලිපොළා යයි. ගේ වටා ඇදෙන දිය දහරවල පා කරන්නට අපි කඩදාසි ඔරු සෑදුවෙමු. මහ වැස්සේ තෙමී නටන්නට සිතෙහි මහත් ආශාවක් පැන නැගෙතත් අම්මාගෙන් ඊට අවසරයක් නැත. දිගු නියඟකට පසුව වසින වැස්සෙන් අවට බිම් ද උතුරා යයි. ඒ දකින අපේ සිත් ද සතුටින් උතුරා යයි.

ඉහත ඡේද දෙක ම ලියා ඇත්තේ වැස්ස පිළිබඳව ය. එහෙත් පළමුවන ඡේදයට වඩා වෙනසක් දෙවන ඡේදයෙහි ඇති බව ඔබට දැනෙන්නට ඇත. පළමුවන ඡේදය වැස්ස පිළිබඳ වාර්තාවක ස්වරූපයෙන් ලියවුණකි.

දෙවන ඡේදය වැස්සෙහි සුන්දරත්වය පිළිබඳව නිර්මාණාත්මකව ලියවුණකි. එහි භාෂාව භාවිත කර ඇති ආකාරය තරමක් වෙනස් ය.

වැස්ස ගැන ලියා ඇති කවි ද ඇත. පහත දැක්වෙන්නේ වැස්ස ගැන ලියා ඇති එබඳු කවියකි. (රචකයා - මහගම සේකර)

වැස්ස වගේ ආකාසෙන් වහින්න මං ආසයි
වතුර වගේ වැව් විල්වල පිරෙන්න මං ආසයි

ලියැදි දිගේ එහෙන් මෙහෙන් ගලන්න මං ආසයි
ළපටි ගොයම් දලුත් එක්ක නටන්න මං ආසයි

ඉහත ඡේද දෙක කියවන විට දැනෙන මිහිරට වඩා වැඩි මිහිරක් කවිය කියවන විට අපට දැනේ. එම කවියේ සෑම පදයක් ම එක ම අකුරකින් අවසන් වී ඇත. එය එළි සමය වශයෙන් හැඳින්වේ. ‘උදය සිරි’ කවි පෙළෙහි එළි සමය නැති කවි ද ඇති බව ඔබට වැටහෙනු ඇත.

වාර්තාවක හෝ ලිපියක හෝ නැති තාලයක් කවියට ඇත. කවිය කියවන්නේ තාලයකට ය. වැස්ස ගැන ලියා ඇති ඉහත කවියේ පද ගළපා ඇති ආකාරය හා තාලය ගැන අවධානය යොමු කරන්න. මෙබඳු සරල කවි ඔබට ද නිර්මාණය කළ හැකි ය. ඒ සඳහා පොත පත කියවා ලබන දැනුම මෙන් ම පද ගැළපීමේ හැකියාව ද තිබීම අවශ්‍ය වේ. නිතර නිතර කවි කියවීමෙන් ලිවීමෙන් කවි නිර්මාණය කිරීමේ හැකියාව වැඩිදියුණු වීමට ඉවහල් වේ. එක ම කවිය වුව ද නැවත නැවත සකස් කර ලිවීමෙන් වඩාත් හොඳ කවි බිහි වේ. යම් කිසි මාතෘකාවක් පිළිබඳව ඔබේ සිතට එන හැඟීම් සියල්ල කඩදාසියක සටහන් කර ගන්න. පසුව වඩාත් ම උචිත වචන ගැළපෙන පරිදි යොදන්න. ඔබ අතින් මිහිරි කවියක් ලියැවෙනු ඇත.

## ප්‍රායෝගික අභ්‍යාස

1. **පහත දැක්වෙන කවිවල අඩු පද ලියන්න.**

කිරි මැණිකෙගෙ ටිකිරි හිනා
වැහි වතුරට එකතු වුණා
ගමේ වැවට ගොස් වැටුණා
..............................................................

අහසේ තරු දිලිසෙනවා
හඳ මාමා නැග එනවා
..............................................................
..............................................................

සුළඟක් වී සිසිල දෙන්න මං හරි ආසයි
..............................................................
..............................................................
..............................................................

2. **ඔබ කැමති මාතෘකාවක්/තේමාවක් තෝරා ගෙන කවි 2ක් නිර්මාණය කරන්න.**

- ඔබ ලියූ කවි ඔබේ මිතුරා/මිතුරිය සමග හුවමාරු කර ගෙන ඔහුගේ/ඇයගේ අදහස ලබා ගන්න. ඒ අනුව කවිය නැවත සකස් කරන්න.
- ඔබ ලියූ කවි, පන්තිය ඉදිරියේ ගායනා කරන්න.
- ඔබ ඇතුළුව පන්තියේ මිතුරු මිතුරියන් විසින් නිර්මාණය කළ කවි එකතු කර නිර්මාණ සංග්‍රහයක් සකස් කරන්න.

# 3 චීවෙං චුලගෙං යමු කිරි නෑනෝ

ශ්‍රී ලංකාවේ ආදිවාසීන් ලෙස සැලකෙන්නේ අතීතයේ සිට අප රටේ විසූ වැදි ජනයා ය. ඉන්දියාවේ සිට පැමිණි විජය කුමරුගේ සහ ඒ අවදියේ ලංකාවේ විසූ කුවේණි නැමැති යක්ෂ ගෝත්‍රික කුමාරියගේ දරුවන් වූ ජීවහත්ථ හා දිසාලා යන දෙදෙනාගෙන් වැදි ජනයා පැවත එන බව බොහෝ දෙනාගේ අදහස වෙයි. විසි වන සියවස ආරම්භය තෙක් ම මුළුමනින් ම වනගත ජීවිතයක් ගත කළ වැදි ජනයා මේ වන විට අසල්වැසි සිංහල හා දෙමළ ගම්වල ජනයා හා මිශ්‍ර වී ඔවුන්ගේ සමාජ චාරිත්‍ර හා ජීවන රටා අනුගමනයෙන් වෙනස්වීම්වලට ලක්ව ඇත. වැදි ජනයා පිළිබඳව ඩී. ජී. සෙලිග්මාන් හා බ්රෙන්ඩා සෙලිග්මාන් යන විදේශීය විද්වතුන් මෙන් ම නන්දදේව විජේසේකර, පී.බී. මීගස්කුඹුර යන දේශීය විද්වතුන් ද පර්යේෂණාත්මක ග්‍රන්ථ ලියා ඇත. ආර්.එල්. ස්පිට්ල් වෛද්‍යවරයා වැදි ජනයා සමග වෙසෙමින් ලත් අත්දැකීම් නිර්මාණාත්මක ප්‍රබන්ධ ස්වරූපයෙන් ලියා තැබී ය. මේ පරිච්ඡේදය වෛද්‍ය ආර්. එල්. ස්පිට්ල් ලියූ *Vanished Trails* කෘතියේ සිංහල පරිවර්තනය වන *මැකී ගිය දඩමං* කෘතියෙන් (පරිවර්තක ඒ. පී. ගුණරත්න) උපුටා ගත්තකි.

"...බිබිලේ මඩකලපුව අතර පැරණි වැදි රට වශයෙන් හැඳින්වුණ කොටසේ වර්ග කීපයක වැද්දන්ගෙන් මිශ්‍රව දැනට ඉතිරිව සිටින ටික දෙනා වූ මේ වැද්දෝ මෙතෙක් විසූ ගල් ගෙය හැර මඟට බැස්සෝ ය. ආරක්ෂා විරහිත නිර්භීත දක්ෂ මේ කුඩා පිරිසේ එක ම ආරක්ෂක ආයුධය වූයේ ඔවුන්ගේ ම දෛවය යි.

දිවයිනේ අනිකුත් මිනිසුන්ට අතීත කතාවක් පමණක් වූ මිනිස් සංහතියේ අතපල්ලෙන් වැටුණ මේ වැදි පිරිසේ දර්ශනය ඉතා දිළිඳු එකක් වී ය. මේ මුළු පිරිසේ ම ඇඳුම් එකට එක් කළ විට සාමාන්‍ය කැලෑබද ගමක එක් මිනිසකු අඳින තරමේ රෙදි පිළි එහි නො වී ය. මේ කඩමාලු කැබලි ඉණ දවටා ගත් මොවුන්ගේ ශරීර උණුසුම්ව තබා ගැනීමට ශීතල රාත්‍රි කාලවල දී ඔවුන්ට ලැබුණේ අවුළුවා ගත් ගිනි මැලයේ උණුසුම ම පමණකි.

මේ මුළු පිරිසේ ම ආරක්ෂාවට හා ආහාර සපයා ගැනීමටත් ඔවුන් අතර ආයුධ වශයෙන් තිබුණේ පොරමොලාගේ දුන්න හා ඊතල හයත්, (මේ ඊතලයක්

විද හැරිය විට මොන වෙහෙසක් දරා හෝ නැවත සොයා ගනී). පොරවත්, දැන් කයිරා හා ගමා ද ආඩම්බරයෙන් කර ගන්නා ගෙන යන ඩොන්ගා හා වේලා ද සතු ව තුබුණ පොරෝ කෙටි දෙකක් පමණකි. මොවුන්ගේ ප්‍රධාන ආරක්ෂා විධි වූයේ නපුරු සතුන් හමු වූ විට සමූහ වශයෙන් වේගයෙන් කෑ ගෑම හා මන්ත්‍ර කියා කෑ ගෑමත් වලසුන් වැනි සතුන් පහර දෙන්ට එන විට ගස්වලට නැග ගැනීමත් පමණකි. වැද්දන් ගල් ගෙය හැර යන මේ සමයේ වන පෙදෙසට ඉඩවරය පවතින, එහෙයින් ම වන සතුන් දඩයමේ යෙදෙන කාලය යි. තම පිරිසේ වාසයට තැනක් සොයා යාමට වඩා වනයේ ප්‍රමාද වෙමින් යාමට පොරමොලා ඉටා ගත්තේ එහෙයිනි. මොවුන්ගේ පිරිසේ වැඩි දෙනා කුඩා ළමයින් වූ හෙයින් පිරිසේ ගමන ඉතා සෙමින් වී ය. මුල් දවසේ සැතපුමකට වඩා දුර ගමන් කළේ නැත. බලන තලාව පසු කළ පිරිස තොට ඔයේ අත්තක් වූ කරඳැත්තෙ ඇළ ඉවුරේ වැලිතලාවට පිවිසියේ ය. මෙතැන තාවකාලික නැවතීමකට ඉතා සුදුසු දර්ශනීය ස්ථානයක් වී ය. මෙහි වූ ගල්මැදේ වළ නම් දිය වළ මේ නම ලැබුවේ එය විශාල ගල් දෙකක් අතර පිහිටා තිබීම නිසා ය. ගල්මැදේ වළ දිය කඩිති දෙකකින් යුක්ත විය. මෙහි කුඩා මසුන් පෙරළෙමින් සිටිනු දක්නට ලැබීම වැද්දන්ගේ සතුටට හේතු විය. මැදි දවල් සැඩ හිරු රැසින් ගල රත් වී එයින් ගල අසල ම වූ කුඩා දිය වළේ දිය ද රත්ව තුබුණ හෙයින් එහි වූ කුඩමස්සු කිසියම් ඉවකින් සිහිල් දිය ඇති ගැඹුරු දිය වළක් නුදුරින් ඇති බව දැන එයට පැන ගන්නා අදහසින් දිය කඩිති දෙක අතර වූ අඩි හතරක් පමණ වූ ගල්තල්ලය මතට වරින් වරට පැන්නෝ ය. මෙයින් වැඩි හරියක් කුඩමසුන් උණුසුම් ගල් තලයේ එහා මෙහා පැන මිය ගිය අතර තවත් සමහරෙක් ආපසු තමා හුන් දිය කඩට ම පැන ගත්තෝ ය. වඩා වාසනාවත් ටික දෙනෙක් පමණක් බලාපොරොත්තු වූ පරිදි මහ දිය වළට පැන ගත්තෝ ය.

මොහොතක් වෙලා දිය වළ දෙස බලා සිටි පොරමොලා ගමා හා කයිරා අමතා "ගමා, කයිරා මේ කුඩමසුන්ට වහ තළාපියව්" යයි කීවේ ය. ඔවුන් මැළිකම් පානු දුටු හේ "හනික, හනික, බලා ඉන්ට කල් නෑ. අප හැම ම බඩගින්නේ" යයි ඔවුන් උනන්දු කළේ ය...

..."වරෙන් කයිරා" කියමින් ගමා ඉස්සර වී වනය දෙසට යන්ට වූ අතර පොරමොලා කහට පොතු විටක් සැපීමට ඇළ ඉවුරේ ඇණ බා ගත්තේ ය.

වනයට ගිය කොල්ලෝ ටික වේලාවකින් ම ආපසු පැමිණියෝ ය. ඔවුන් දෙදෙනා අත ම රියනක් පමණ දිග අත්දණ්ඩක් පමණ මහත වැල් කැබැල්ලෙක් බැගින් වී ය. මේ පුස්වැල් කැබලි ය. ගෙනා වැල් කැබලි ගල මත තබා

පොරෝ බන්දෙන් තැළූ ඔවුහු ඒවා දියට බහා කලතන්ට වූහ. සබන් පෙණ වැනි පෙණ බුබුළු එයින් මතු වන්ට වී ය. නැවත නැවත මේ වැල් කැබලි ගලේ ගසමින් දියෙහි කැලතූ ඔවුහු කුඩා මසුන් මත් වී දිය මත පෙරළෙන තුරු බලා සිටියහ. ටික වේලාවකින් මත් වූ කුඩමස්සු දියේ පා වෙන්ට වූහ. එහෙත් බලාපොරොත්තු වූ තරම කුඩමසුන් ඔවුන්ට නො ලැබිණි.

"මේක එක කටකටත් මදිනේ? මොකද කරන්නෙ?" පොරමොලා මසුන් දෙස බලා කීවේ ය.

"අපට කුකුරුමුවන් ගෙඩි ටිකක් කඩා ගන්ට ඇත්නම්!" කයිරා සුසුම් ලෑවේ ය.

"එහෙනම් ගිහින් හොයාගෙන වරෙල්ලා. අපි මෙහෙම ඉන්නම්." කොල්ලෝ නැවත වනයට ගියෝ ය.

වැඩි වේලා නො ගොස් ම ඔවුන්ට කුකුරුමුවන් ගසක් හමු විය. පේර ගෙඩි මෙන් හැඩය හා මහත ද ඇති ඉදී කහ පැහැව ගිය මේ ගෙඩි හුඟක් පොලුවලින් ගසා කඩා ගත් වැදි පැටවු දෙදෙනා ආපසු දිය වළ කරා අවුත් මේ ගෙඩි තළා දිය වළේ දමා කලතන්ට වූහ. මේ වර ඔවුන්ට වැඩි වේලාවක් බලා සිටින්ට නො වී ය. ලොකු ලොකු කුඩමස්සු රැන් රැන් මත් වී උඩ මතු වී බඩපැත්ත පෙරළී පා වෙන්ට වූහ. මෙහි දී ඔවුන්ට මසුන් රාශියක් අල්ලා ගත හැකි වූ නමුත් ජාති කීපයකට අයත් වූ මේ මස්සු අඟල් තුන හතරකට වඩා දිග නො වන කටු බහුල මස්සු වූහ. සුදහ ගින්දරේ පසු වන වැද්දන්ගේ බඩට වුවමනා කරන්නේ රසයට වඩා ආහාර ප්‍රමාණය වන හෙයින් එය ඔවුන්ට හොඳ ආහාරයක් විය.

කොලුපැංචන් කුඩමසුන්ට වහ තළන අතර තනිව වනයට ගිය පොරමොලා මී වද දෙකකුත් මැරූ තලගොයෙකුත් දැතින් ගෙන ආපසු පැමිණියේ කොල්ලන් කර තිබුණ සමත්කම ගැන ඔවුන් පැසසුවේ ය.

දින දෙකක් මෙතැන නැවතී සිටි මොවුහු ඇළ දිගේ ගමන් කොට මේ ඇළ තොට ඔයට සම්බන්ධ වන තැනට පැමිණියෝ ය. බොඩගහ වළ නමින් දන්නා මහ දිය වළක් මේ ඔය ඉවුරේ විය. මෙතැන කලින් තුබුණ විශාල බොඩගහක් නිසා දිය වළට මේ නම් ඇතිව තුබූ නමුත් ඒ මහ ගහ මෙවිට එහි නො වී ය. කලකට පෙර මැරී ගිය ඒ ගහ වෙනුවට උසට වැටුණ කුඹුක් ගහක් හා ඇටඹ ගහක් ද මෙහි විය...

...ඔය ඉවුරේ බොරලු සහිත බිමෙහි ගැහැනුන් සහ ළමයින් ද රැඳවූ පොරමොලා දිය කඩේ අනතුරුදායක කොටස දෙසට නො යන ලෙස ඔවුන්ට අවවාද කොට ගමා හා කයිරා ද කැටුව වනයට ගියේ ය.

මේ දිය වළ ගැඹුරු ය. ලොකු මස්සු ද බොහෝ වෙති. එහෙයින් පුස්වැල් හෝ කුකුරුමුවන් ගෙඩි හෝ තළා දැමීම ප්‍රමාණවත් නො වේ. මෙහි කුඩමසුන් මත් කිරීමට වඩා සැර දෙයක් අවශ්‍ය ය. එසේ ම බාගයට මත් වී උඩ පීනන ලොකු මසුන් විද මරා ගැනීමට කුඩා දුනු හී ද අවශ්‍ය වෙයි. මොවුන් මේ වනයට ගියේ එකී දේ සපයා ගෙන ඒමට ය.

පළමුකොට ම ඔවුහු දුනු හීවලට වුවමනා කරන උල්කෙන්ද හෝ ගැටවැල් සොයා ගියෝ ය. ඒවායින් දුනු හී දෙක ම තනා ගැනීමට ඔවුන්ට හැකි වෙයි. කෝටු කපා ඊතලමුණෙන් සැස සිහින් කර ඊ තනා ගන්නා ලදි. ගමා හා කයිරා ද පොරමොලාගේ දක්ෂකම් පරදවන්ට මෙන් අනලස්ව ක්‍රියාශීලීව මේ වැඩේ යෙදුණෝ ය. දුනු ලී පහක් කපා නුග අරළු පට්ටාවලින් තැනූ දුනුදියෙන් ගැට ගසන ලදි - පිහාටු නැති ඊ දඬු දොළහක් උල් කොට තනා ගන්නා ලදි. විත් කෑ මසකු ඊයත් ඇද ගෙන ගැඹුරට ගිය හොත් උඟ ඇද ගැනීම පිණිස එක එක ඊ ගස කෙළවරේ දිග පට්ටා ලනුවක් ගැට ගසා එය දුනු කෙළවරට සම්බන්ධ කරන ලදි. ළඟක සිට වුව ද සෙලවෙන යමක් කෙරේ නො වැරදී විදීමට පුහුණුවක් අවශ්‍ය ය. මේ අවශ්‍ය පුහුණුව ගමාට හා කයිරාට ද ලබා දෙන පොරමොලා කුඩමසකු වෙනුවට එල්වූ කොළයකට එල්ලය බලා විදීමට පුහුණු කරවූයේ ය.

කුඩමසුන් මත් කරවන බෙහෙත සඳහා ගල් අතර වැවෙන දළුක් ගස් සොයා සැතපුම් දෙකක පමණ දුරක් ගමන් කිරීමට ඔවුන්ට සිදු විය. කිරි ගැනීම සඳහා ඔවුන් විසින් කළ යුතුව තුබුණේ දළුක් ගසේ පොත්ත කීප පළකින් කපා යටින් ලබු කැටය අල්ලා සිටීම පමණකි. කිරිවලින් පොහොසත් දළුක් ගස මෙසේ කැපූ විට උල්පතකින් දිය එන්නාක් මෙන් දිගට ම කිරි වෑස්සෙයි. කීප වරක් මෙසේ කිරීමෙන් දළුක් කිරෙන් ලබු කැටය පුරවා ගැනීමට වැඩි වේලාවක් ගත නො වේ.

මොවුන් මසුන් මත් කරවීමට යන මේ දිය වළේ එක් පැත්තකින් දිය පිට වී ගලා යන හෙයින් ඔවුන් දමන මත් ද්‍රව්‍යය එතැනින් පිටව නො යන සේ ඇවිරිය යුතු විය. වඩා ගැඹුරු නැති කොටස වැලි සූරා රොක් කර වැටියක් බැඳ ගැනීමෙන් එසේ කළ හැකි විය. එහෙත් එහි මඳක් ගැඹුරු කොටසේ ඉනි සිටුවා අතුරිකිලි දමා වැටියක් බැඳීමට ඔවුන්ට සිදු විය.

මේ සියලු කටයුතු ඉවර වූ පසු පොරමොලා දළුක් කිරි පිරවූ ලබු කැටය අතින් ගෙන වළ වටා යමින් එය දිය මතුපිට ඉහිරවන්ට වී ය. දිය මතුපිට වූ අඳුරු නිල් පැහැය කිරි පැහැ විය. එයින් පසු ඔවුහු හැම දෙන දුනු හී ගෙන දණමතක් දියට බැස මත්වීමට පෙර පැන යන මසුන් රැකීමට තැන් තැන්වල

සිට ගත්හ. මුලින් ම වස මිශ්‍රණයේ ඉව දැනුණ කටු පෙතියෝ වළෙන් පැන දිය පහර දිගේ යන්ට උත්සාහ ගනිමින් දියෙන් පැන්නෝ ය. එහෙත් කොළ අතුවැටිය උඩ වැටුණු මේ මස්සු ආපසු දිය වළට ම පැන්නෝ ය. සමහර කුඩමස්සු වැල්ලෙන් කළ කුඩා වැටිය පැන පහසුවෙන් ගැලවී ගියහ. සුදු පාට බඩ ඇති එක් කටුපෙති වර්ගයකගේ පැන යාමට බාධා නොකළේ මිනිසුන්ට විෂ ඇති මකුළුගෙඩි කෑමට ප්‍රිය කරන මේ මසුන් මිනිසුන්ගේ ආහාරයට නුසුදුසු හෙයිනි.

පොරමොලාගේ බිරිඳ වූ කළු ද දුනුවායන්ට එක් වූ නමුත් ඩොන්ගාගේ වැන්දඹුව වැලිවැටියෙන් දිය බැස යාමට තැනක් කඩා හැර එතැන දණ ගසා ගෙන තමා හැඳගෙන හුන් කුඩා රෙදිකඩ අවුරා එතැනින් පැන යන්ට ආ කුඩා මසුන් රැසක් ම එකතු කර ගත්තී ය. විෂ ඇති පෙටියන් ඈ වටා පැන ගිය නමුත් ඕ තොමෝ ඔවුන් ගණනකට නො ගත්තා ය.

මේ අතර පොරමොලා හා කොලු පැටවු දෙදෙනා ද දුනු අතින් ගෙන මත් වී එහා මෙහා පීනන මසුන් විදීම පටන් ගත්හ. පොරමොලාගේ ඊයක් වැරදී ගියේ කලාතුරකිනි. හේ එක මසකු ඊයෙන් මුදා ඉණ බැඳ ගෙන සිටි වැල්පටේ අමුණා ඉවර වනවාත් සමග ම තවකකු විද්දේ ය. ගමා හෝ කයිරා හෝ එසේ මසුන් විදීමට සමත් නො වූහ. ඔවුන්ගේ ඉලක්කය වැරදී ගියේ ය. පසුව පොරමොලා ඔවුන් දෙදෙනා තමන් ළඟට කැඳවා තමා විදින හැටි හා ඉලක්කය නො වැරදී ගන්නා සැටි ද පෙන්වා දුන්නේ ය.

හැම විට ම අනිකාට වඩා දක්ෂයකු වූ ගමා මුලින් ම ලොකු මසකු විද්දේ ය. තමා විද හැරිය ඊය වැල්ලේ ඇනෙනු වෙනුවට දිය රැළි අතර කුඹ ගසක් මෙන් කෙලින් සිට නටා යනු දුටු ගමා එහි කෙළවරට ගැට ගසා තුබුණ පට්ටා ලනුවෙන් ඇද එය මෑත් කොට ගත්තේ ය. එය ලොකු ලූලකුගේ ඇඟෙහි ඇමිණී තිබිණි. ලූලා ඉතා ම රසවත් කුඩමස්සා වෙයි. ගමා ප්‍රීතියෙන් කෑ ගැහුවේ ය. අනික් වැද්දෝ ගමා හා එකතුව ප්‍රීතිය ප්‍රකාශ කිරීමට කෑ ගැහුවෝ ය. කයිරාට අත හුරු කර ගැනීම ප්‍රමාද විය. එහෙත් හවස් වන විට කළු මෙන් ම කයිරා ද වැල්ලේ ගොඩ ගැසී තුබුණ කුඩමසුන් ගොඩ තර කිරීමට උපකාර වූවෝ ය.

මෙහි දී අල්ලා ගත් මස්සු අඟල් හයක් අටක් දික් වූයෙන් ගල්මැදේ කුඩා වළෙන් ඇල්ලූ මසුන් මෙන් ප්‍රමාණයෙන් දෙගුණයක් පමණ ලොකු වූහ. එහෙත් දිය කඩිති දෙකේ දී ම අල්ලා ගනු ලැබුවේ එක ම වර්ගවල මස්සු ය. මෙහි වූ මසුන් අතර ලූල්ලු හා හිරිකණයෝ ද රසවත් මස්සු වූහ. පෙටියෝ, කාවයියෝ, දණ්ඩි, හුංගෝ, මගුරෝ, ආන්දු, කොළකණයි හා තිත්තයෝ ද

එහි සිටියහ. ලංකාවේ මිරිදිය කඩවල වසන කොයි වර්ගයේ කුඩමස්සුත් මේ ගැඹුරු දිය කඩේ විසුවෝ ය. ගංවතුරක් ආ විට මොවුහු වළෙන් පිට වී දිය පහරත් සමග වෙනත් තැන් කරා යති.

එදා අසු වූ මසුන්ගෙන් කොටසක් ලුණු, මිරිස් හා කොළවර්ග ද දමා තම්බා කෑ ඔවුහු ඉතිරි මසුන් ගොඩ කුඩා මැසි පිට තබා මඳ ගින්නේ වියළා ගත්තෝ ය.

පසුව දා උදයේ මේ දිය වළේ මැරී පාවෙමින් සිටි කුඩා මසුන් ඉතා ටික දෙනකු හැරුණ විට දියවළට වහ තළා දැමූ බවට අනික් කිසි ම ලකුණක් එහි නොවී ය. ගැඹුරේ සිටින ලොකු මසුන්ට කිසි ම හිරිහැරයක් සිදු වී නොමැත. එතෙක් නො ව ඉතා කුඩා මසුන් ද නො ගැඹුරු දියේ එහා මෙහා පීනමින් රංචු ගැසී සිටිනු දකින්නට ලැබීම පුදුම සහිත කරුණක් වී ය.

අල්ලා ගත් මසුන් හා අල ද වෙනස් වෙනස් ලෙස පිළියෙල කොට කමින් වැද්දෝ මෙතැන දින තුනක් ගත කළෝ ය. ජීවත් වීමේ ස්ථිර පදනමක් නැතිව සිටිනා නිසා මොහොතකට අතීත ජීවිතය සිහියට එන නමුත් දැන් නැවතත් ඔවුහු පසුගිය දා වූ දුක් කරදර අමතක කර දැමූ, ප්‍රීතිමත් පවුලක වැද්දෝ වූහ.

බොඩගහ වළ අනතුරුදායක තැනකි. ගැඹුරේ සැඟවී සිටින කිඹුලන් හැරුණ විට මේ අහලක මේ කාලයට අනික් දිය වළක් ඉතිරිව නැති හෙයින් රාත්‍රි කාලයේ හැම වර්ගයක ම වනසත්තු දිය බීමට මෙහි පැමිණෙති.

මහවනය රාත්‍රි කාලයේ ශාන්ත හෝ නිශ්චල හෝ නො වේ. කලබල සහිත ය. දවාලට වඩා බියකරු ය. එහෙයින් මේ පිරිස හැසිරුණු කොතැනක දී වුවත් හැන්දෑ යාමය ළං වන විට නෑ යකුන්ට යාදිනි කියන පොරමොලාගේ කට හඬ වනයේ රැව් දෙන්ට විය.

රාත්‍රි කාලයේ දී වරින් වර ගිනි මැලය අවුළුවමින් හා වනයේ වියළි පරඬලා තැළෙන හඬ ඇසෙන විට අඬහැර පාමින් ද පොරමොලා බොහෝ වේලා නො නිදා ගත කළේ ය. සමහර විට මේ ශබ්දයන් අහිංසක ඉත්තෑවකු වැනි සතකු නිසා ඇති වෙයි. දියකඩේ එහා කෙළවරින් දිය බීමට එන දිවියා එන්නේ නිශ්ශබ්දව නො දැනෙන සේ ය. හඳ ඇති එක් රැයක කුඩා ඇත් රැළක් එහි පැමිණ පොරමොලාගේ අඬ තැළීම ගණනකට නො ගෙන දියවළෙහි ලැග සිටියේ ය. දැන් මෙතැන හැර යා යුතු වෙලාව යයි එවිට පොරමොලා සිතා ගත්තේ ය.''





වැදි ජනයා විටෙක බිරිඳ මෙන් ම දරුවන් ද සමග දඩයමේ යති. මෙහි දැක්වෙන්නේ පාන්දරින් දඩයමේ යෑමට සූදානම් වන වැදි පුරුෂයා සිය බිරිඳ අවදි කරවා කියන ගීතයකි. මහාචාර්ය සුගතපාල ද සිල්වාගේ දඹානේ වැදි බස (1964) කෘතියෙන් මෙය උපුටා ගන්නා ලදි.

තෙන තෙදිනා නා තෙදිනා නේ බල //
චප්පී චලපිලි කීයන කාට //
එලිවිලි පංවිල වැන්නවි නෑනේ//
යන්නට නිදි කිම්දිය කිරි නෑනේ//
උ෧ඩෙං යන්නත් බොල් පිනි බැරි නං //
බීමෙං යන්නත් බොල් පිනි බැරි නං
දුන්න පිලාවට වර කිරි නෑනේ//
දුන්න පිලාවේ යන්නත් බැරි නං//
ඊතල් අවුරට වර කිරි නෑනේ//
ඊතල් අවුරේ යන්නත් බැරි නං //
චීචෙං චුලඟෙං යමු කිරි නෑනේ //

මේ වැදි ජන ගීයෙහි අර්ථය පහත පරිදි දැක්විය හැකි ය.

තෙන තෙදිනා ....//
කුරුල්ලන් ගී ගයන්නේ කාටද //
එළි වෙලා පහන් වෙලා වගෙයි //
ගමන යන්නට නින්දෙන් අවදි වී එන්න //
බොල් පිනි නිසා උඩිං යන්ටත් බැරි නම්//
බොල් පිනි නිසා බිමින් යන්ටත් බැරි නම්//
දුන්න පිලාවට එන්න//
දුන්න පිලාවේ යන්න බැරි නම් ඊතල අහුරට එන්න//
ඊතල අහුරේ යන්ටත් බැරි නම් සීතල සුළඟේ පහස විඳිමින් යමු //

## අවබෝධය

1. වැද්දන්ගේ දිළිඳු බව වඩාත් හොඳින් කියැවෙන පාඨය උපුටා දක්වන්න.
2. ගල්මැදේ වළ හා බොඩගහ වළ දිය කඩිතිවලට එම නම් ලැබීමට හේතු පහදන්න.
3. කුඩමස්සු අල්ලා ගැනීමට වැද්දන් යෙදූ උපක්‍රම මොනවා ද?
4. කුඩමසුන්ට අමතරව ඔවුන් එකතු කරගත් වෙනත් ආහාර වර්ග මොනවා ද?
5. ඔවුන් නතර වී සිටි ස්ථානයෙන් ඉවත් වී යාම සුදුසු බව පොරමොලා තීරණය කළේ කුමක් නිසා ද?

## ලිඛිත අභ්‍යාස

1. **පහත සඳහන් පදවලට සමානාර්ථ පද පාඩමෙන් සොයා ලියන්න.**
   - i. බඩගින්න -
   - ii. සාමූහිකව -
   - iii. භයානක -
   - iv. සමීපයට -
   - v. උදෑසන -
2. **පහත සඳහන් පදවලට විරුද්ධාර්ථ පද ලියන්න.**
   - i. දිළිඳු -
   - ii. උණුසුම -
   - iii. ගැඹුරු -
   - iv. නිශ්චල -
   - v. ප්‍රීතිය -

## ප්‍රායෝගික අභ්‍යාස

1. වැදි ජනයා පිළිබඳ තොරතුරු එක් රැස් කර පොත් පිංචක් සකසන්න.
2. වැදි ජන ගීය සාමූහිකව ගායනා කරන්න.
3. පහත ලබා දී ඇති මාතෘකා අතරින් එකක් පිළිබඳ වාක්‍ය රචනයක් ලියන්න.
   - i. වැද්දන්ගේ ජීවන රටාව
   - ii. විවිධ ජන කොටස්වල සිරිත් විරිත්
   - iii. ස්වාභාවික පරිසරය හා බැඳුණු ආදිවාසීහු

## මාතෘකානුකූල කතා

නිශ්චිත මාතෘකාවට අනුකූල වන පරිදි කතාවක් පැවැත්වීම මාතෘකානුකූල කතා ලෙස හඳුන්වයි. තමන්ට ලබා දී ඇති මාතෘකාව නිරවුල්ව සහ පරිපූර්ණව අවබෝධ කර ගැනීම, කතාව මැනවින් සංවිධානය කර ගැනීම කතාවේ සාර්ථකත්වය සඳහා වැදගත් වේ. එහි දී මාතෘකාවේ සෑම අංශයක් කෙරෙහි ම අවධානය යොමු කළ යුතු ය. කතාවේ මුල මැද සහ අග මැනවින් සංවිධානය කර ගැනීම කතාවක සාර්ථකත්වයට බෙහෙවින් බලපායි.

1. විවිධ ජන කොටස්වල චාරිත්‍ර වාරිත්‍ර
2. පරිසර හිතකාමී ජීවන රටාවකට හුරු වීමේ වැදගත්කම
3. උගතමනා ශිල්පයමයි - මතු රැකෙනා
4. ඔවා දෙනු පරහට - තමා සම්මතෙහි පිහිටා සිට
5. කියවීමේ අගය

## සුබ පැතුම් පත්

සුබ පැතීම හෙවත් සෙත් පැතීම සඳහා මෙන් ම සතුට ප්‍රකාශ කිරීම සඳහා ද සුබ පැතුම් පත් යැවීමේ සම්ප්‍රදායක් අද අප අතර පවතී. ජීවිතයේ වැදගත් අවස්ථා සේ ම සැමරුම්, ජයග්‍රහණ ප්‍රමුඛව විවිධ අරමුණු වෙනුවෙන් මේ සුබ පැතුම් පත් සකස් කෙරේ.

උපන් දිනය, විවාහය, විවාහ සංවත්සර, නව වසරට ආසිරි පැතීම, නත්තල, වෙසක් ආදි විශේෂ උත්සව සැමරීමට මෙන් ම විභාග, තරග ආදියෙන් ලත් ජයග්‍රහණ සහ තනතුරු උසස් වීම් වැනි අවස්ථාවල දී ශුභාශංසනාත්මක පණිවුඩ යැවෙයි. තව ද, රැකියාවෙන් විශ්‍රාම යාම, විදේශගත වීම් පමණක් නොව රෝගී අවස්ථාවල දී ඉක්මන් සුවය පතා ද සෙත් පතා යැවෙන අවස්ථා බොහෝ ය. ඒ අනුව සුබ පැතුම් පත් සැකසීමේ දී සැලකිය යුතු විශේෂ කරුණු කවරේ දැයි බලමු.

★ සුබ පැතීමේ නිමිත්ත/අදාළ කරුණ සඳහන් විය යුතු ය.
★ සුබ පැතුම් පත මෙන් ම එහි ලියැවෙන සුබ පැතීමේ සටහන ද වඩාත් ආකර්ෂණීය භාෂා ශෛලියකින් නිර්මාණාත්මක ලෙස ගොනු කර ගැනීම වැදගත් ය.

- ★ එම සටහන සංක්ෂිප්ත විය යුතු අතර අතිශය හෘදයංගම විය යුතු ම ය.
- ★ ඒ සඳහා යොදා ගනු ලබන භාෂා ශෛලිය යවන අය හා ලබන්නා අතර ඇති සම්බන්ධය අනුව ද වෙනස් විය හැකි ය.
- ★ කා විසින් කවුරුන් වෙත ද යන්න පැහැදිලිව සඳහන් විය යුතු ය.

මේ අනුව ඔබට ලැබී ඇති විවිධ සුබ පැතුම් පත් කියවා බලන්න. පහත පෙන්වා දී ඇති ආදර්ශ ද සුබ පැතුම් පතක් සකස් කිරීමේ දී ඔබට මග පෙන්වීමක් වනු ඇත.

**නිදසුන්:-** අන්තර් විද්‍යාලයීය මලල ක්‍රීඩා තරගයෙන් ජය ලැබූ ඔබේ පන්තියේ ම මිතුරකුට ලියූ සුබ පැතුමක්



නැගණියට යැවෙන උපන් දින සුබ පැතුමක්




### ලිඛිත අභ්‍යාස

1. **පහත දැක්වෙන අවස්ථා අතරින් දෙකක් තෝරා ඒට සුදුසු සුබ පැතුම් පත් සකස් කරන්න.**
   - ★ ලෝක ගුරු දිනය වෙනුවෙන් පන්ති භාර ගුරුතුමියට
   - ★ රැකියාවෙන් විශ්‍රාම යන විදුහල්පතිතුමාට
   - ★ උසස් අධ්‍යාපනය සඳහා විදේශගත වන අයියාට
   - ★ නිරෝගි සුවය පතා තම මුත්තණුවන්ට
   - ★ 21 වෙනි උපන් දිනය සමරන වැඩිමහල් සොහොයුරියට

## පෞද්ගලික ලිපි

සන්නිවේදන තාක්ෂණය මේ තාක් දුරට ව්‍යාප්ත වීමට පෙර කලක් අතිශයින් ජනප්‍රියව තිබූ ලිපි ලිවීම එදිනෙදා ජීවිතයේ දී අදටත් අපට ප්‍රයෝජනවත් වේ. එහෙයින් පෞද්ගලික ලිපියක් යනු කුමක් දැ යි යන්නත් ඒ ලිපි ලිවීමේ දී වැදගත් වන කරුණු කවරේ දැ යි යන්නත් සලකා බලමු.

තම පවුලේ අයෙකුට, හිත මිත්‍රාදීන්ට හෝ පෞද්ගලිකව දැන හඳුනා ගත් අයට හෝ වෙනත් කවර පුද්ගලයකුට හෝ පෞද්ගලික අවශ්‍යතා හෝ පෞද්ගලික සම්බන්ධතා මත හෝ යවන ලිපි පෞද්ගලික ලිපි වේ.

★ පෞද්ගලික ලිපියක,

1. යවන්නාගේ ලිපිනය හා දිනය
2. ආශීර්වාදය
3. ආමන්ත්‍රණය
4. අන්තර්ගතය/කරුණු
5. අවසානය

යන අංග ඇතුළත් විය යුතු ය.

පෞද්ගලික ලිපියක ඒ ලිපිය හුවමාරු වන දෙදෙනාට උචිත වන සේ ආශීර්වාදය, ආමන්ත්‍රණය, අවසානය යෙදිය යුතු ය. හිතවත් මිතුරකුට, වැඩිහිටියකුට, ප්‍රභූවරයකුට යවන ලිපිවල ඒ ඒ පුද්ගලයාට අනුව ඉහත දැක්වූ අංග තුන ද වෙනස් වන අයුරු විමසා බලන්න. ලිපියේ කරුණු විස්තරයේ හෙවත් අන්තර්ගතයේ භාෂා රටාව ද ලිපිය ලබන පුද්ගලයා හා යවන්නා අතර ඇති සම්බන්ධය අනුව වෙනස් වේ.

නිදසුනක් ලෙස සමීප හිතමිතුරකුට, ඥාතියකුට ලියන අන්දමට වඩා සංයමයක් ඇති භාෂා රටාවක් අනුව ඔබේ ගුරුතුමාට හෝ වෙනත් ප්‍රභූවරයකුට ලියන අයුරු සිතන්න.

★ මිත්තණියක සිය මුනුබුරාට යැවූ මේ ලිපිය කියවා බලන්න.

25/2 කන්දෙ ගෙදර,<br>
වට රවුම් පාර,<br>
පැල්මඩුල්ල.<br>
2015.11.23.

සෙත් වේවා !

ආදරණීය සුදු පුතාට,

ඉස්කෝලේ නිවාඩු දෙන්න ළඟ නිසා මේ ලිපිය ලියන්නේ සතුටුදායක ආරංචියක් කියන්න. මේ අවුරුද්දෙ පුතාලව ශ්‍රී පාදෙ වඳින්න එක්ක යනවා කියා මා පොරොන්දුවක් වුණා මතක ද? මද්දු නැන්දලා මේ නිවාඩුවේ මෙහෙ එන නිසා නුවර බාප්පලාටත් මෙහෙ ඇවිත් යන්න ඕනෑ ලු. ඉතින්, පුතාලා ආවොත් අපි හැමෝට ම ශ්‍රී පාදෙ කරුණා කරන්න පුළුවනි.

ඒ නිසා මේ නිවාඩුව ලැබුණු ගමන් ම අපි ගමනට පිටත් වෙමු. අපට තුන් සරණේ කිය කියා හිමේ නඟින්න පුළුවනි. සීත ගඟුලෙ නාලා, ඉර සේවෙත් බලලා ශ්‍රී පාදෙ වන්දනා කරමු.

මේ දවස්වල මෙහෙ හරි ම සීතලයි. කඳු යාය ම මීදුමෙන් වැහිලා බලන්න ලස්සනයි. පුතාලගේ ගමනට අඳින ඇඳුම් ගේන්න කියලා අම්මට කියන්න. තාත්තාටත් කලින් ම නිවාඩු ගන්න වෙවි නෙ. ඒ නිසා අපි කල් ඇතිව සූදානම් වෙලා මේ ගමන යමු. ඉතින්, මගේ පුතාටත්, පුතාගේ අම්මාටත් තාත්තාටත් සමන් දෙවියන්ගේ පිහිටයි.

මේ,

ආදරණීය අත්තම්මා

## ලිඛිත අභ්‍යාස

1. **මෙහි ඉහත දක්වා ඇති ලිපියට සුදුසු පිළිතුරු ලිපියක් හෝ ඔබ කැමති වෙනත් ප්‍රකට ආගමික සිද්ධස්ථානයක් කරා යෑමට ආරාධනා කරමින් ඔබේ මිත්තණියන්ට ලිපියක් හෝ ලියන්න.**

   උදාහරණ :- අනුරාධපුරය/මිහින්තලය/මඩු දේවස්ථානය/නල්ලූර් කෝවිල /මුස්ලිම් දේවස්ථානයක්
2. **ඉහත ලිපියේ දැක්වෙන විරාම ලක්ෂණ මොනවා ද?**
3. **පහත දැක්වෙන අයට ලියන ලිපියකට සුදුසු ආමන්ත්‍රණ සහ අවසානය ලියා දක්වන්න.**
   - ★ මාමාට
   - ★ අම්මාට
   - ★ ගුරුතුමියට
   - ★ මිතුරකුට
   - ★ පාසලේ විදුහල්පතිතුමාට
4. **මේ අවස්ථාවලින් එකක් තෝරා ලිපියක් ලියන්න.**
   - ★ පාසලෙන් දුර බැහැර ප්‍රදේශයකට මාරුවක් ලබා ගිය ඔබේ සිංහල ගුරුතුමියට
   - ★ පාසලේ පැවැත්වුණු තෑගි දීමේ උත්සවය ගැන විස්තර කරමින් වෙනත් පාසලකට අස් වී ගිය මිතුරකුට
   - ★ ඔබේ පාසලේ පැවැත්වෙන වාර්ෂික චිත්‍ර හා මූර්ති ප්‍රදර්ශනය නැරඹීමට පැමිණෙන්නැයි මිතුරකුට
   - ★ ඔබේ ප්‍රියතම රූපවාහිනී ළමා වැඩසටහන මෙහෙයවන නිවේදක මහතාට හෝ මහත්මියට

4

# අක්ෂරමාලාව හා පිලි

අප කතා කිරීමේ දී විවිධ ශබ්ද මුවින් නිකුත් වෙයි. ඒ ශබ්ද ලියා දැක්වීම සඳහා විවිධ සංකේත භාවිත කෙරෙයි. එම සංකේත අක්ෂර නමින් හැඳින්වේ. එක් භාෂාවකට අයත් අක්ෂර සියල්ල එකතු වූ විට එය හෝඩිය හෙවත් අක්ෂරමාලාව යනුවෙන් නම් කළ හැකි ය. නූතන සිංහල අක්ෂරමාලාව සහ පිලි පිළිබඳව මෙම පාඩම සකස් වී ඇත.

## සිංහල අක්ෂරමාලාව

| | | | | | |
|---|---|---|---|---|---|
| අ | ආ | ඇ | ඈ | ඉ | ඊ |
| උ | ඌ | ඍ | ඎ | ඏ | ඐ |
| එ | ඒ | ඓ | ඔ | ඕ | ඖ |
| (අ)ං | (අ)ඃ | | | | |
| ක | ඛ | ග | ඝ | ඞ | ඟ |
| ච | ඡ | ජ | ඣ | ඤ | ඦ |
| ට | ඨ | ඩ | ඪ | ණ | ඬ |
| ත | ථ | ද | ධ | න | ඳ |
| ප | ඵ | බ | භ | ම | ඹ |
| ය | ර | ල | ව | | |
| ශ | ෂ | ස | හ | ළ | ෆ |

අක්ෂරමාලාව කොටස් දෙකකට බෙදේ.

1. ස්වර
2. ව්‍යඤ්ජන

# ස්වර

සිංහල අක්ෂරමාලාවේ ඇති ස්වර පහත දැක්වේ.

| | | | | | |
|---|---|---|---|---|---|
| අ | ආ | ඇ | ඈ | ඉ | ඊ |
| උ | ඌ | ඍ | ඎ | ඏ | ඐ |
| එ | ඒ | ඓ | ඔ | ඕ | ඖ |

ස්වරයක් ඊට නියමිත රූපයෙන් ම ලියන්නේ වචනයක මුල් ශබ්දය හැටියට යෙදෙන අවස්ථාවල දී පමණි. ස්වර ශබ්ද වචනයක මැද හෝ අග යෙදෙන විට ඒවා ව්‍යඤ්ජන ශබ්දයක් හා එකතු කොට ලියනු ලැබේ. එවිට ස්වරයට නියමිත රූපය වෙනුවට ව්‍යඤ්ජනයට විශේෂ සංකේත කිහිපයක් එක් කර ගැනේ. ඒ සංකේත, පිලි යනුවෙන් හැඳින්වේ.

## ස්වර, වචනයක මුල යෙදීම

| | | | | | |
|---|---|---|---|---|---|
| අ | - | අම්මා | ආ | - | ආතා |
| ඇ | - | ඇඹුල් | ඈ | - | ඈත |
| ඉ | - | ඉවුර | ඊ | - | ඊතලය |
| උ | - | උකුස්සා | ඌ | - | ඌරා |
| ඍ | - | ඍජුකෝණය | එ | - | එන්න |
| ඒ | - | ඒදණ්ඩ | ඓ | - | ඓතිහාසික |
| ඔ | - | ඔංචිල්ලාව | ඕ | - | ඕලු |
| ඖ | - | ඖෂධ | | | |

## ස්වර, වචනයක මැද හෝ අග යෙදීම

| | | | | | | |
|---|---|---|---|---|---|---|
| ර් | - උ | → | රු | ඔරුව | ඔ+ර්+උ+ව්+අ |
| ද් | - ඇ | → | දැ | උදැල්ල | උ+ද්+ඇ+ල්+ල්+අ |
| ග් | - ඉ | → | ගි | ගිනි | ග්+ඉ+න්+ඉ |

## ව්‍යඤ්ජන

පහත දැක්වෙනුයේ සිංහල අක්ෂර මාලාවේ ඇති ව්‍යඤ්ජන යි.

| | | | | | |
|---|---|---|---|---|---|
| (අ)ං | (අ)ඃ | | | | |
| ක | ඛ | ග | ඝ | ඞ | ඟ |
| ච | ඡ | ජ | ඣ | ඤ | ඦ |
| ට | ඨ | ඩ | ඪ | ණ | ඬ |
| ත | ථ | ද | ධ | න | ඳ |
| ප | ඵ | බ | භ | ම | ඹ |
| ය | ර | ල | ව | | |
| ශ | ෂ | ස | හ | ළ | ෆ |

ස්වරයක් තනිව උච්චාරණය කළ හැකි නමුත් ව්‍යඤ්ජනයක් තනිව උච්චාරණය කිරීම අපහසු ය.

ක්     ග්     ච්     ජ්

මේ අක්ෂර ස්වරයක් සමග යෙදෙන විට උච්චාරණය කිරීම පහසු වේ.

ක් + අ → ක<br>
ග් + අ → ග<br>
ච් + අ → ච<br>
ජ් + අ → ජ

සෑම ව්‍යඤ්ජනයක් ම හල් කළ නො හැකි ය. එසේ හල් කළ නො හැකි ව්‍යඤ්ජන පහත දැක්වෙයි:

(අ)ං     (අ)ඃ<br>
ඟ     ඦ     ඬ     ඳ     ඹ<br>
ළ

ඉහත සඳහන් කර ඇති පරිදි ස්වර අක්ෂර, ව්‍යඤ්ජන අක්ෂර සමග එකතු වීමේ දී එය සංකේතවත් කෙරෙන පිලි රාශියක් සිංහල භාෂාවේ දක්නට ලැබේ. ඒ පිලි මෙසේ හඳුනා ගනිමු.

| ස්වරය | යෙදෙන පිල්ල | පිල්ලෙහි නාමය | පිල්ල අකුරුවල යෙදෙන ආකාරය |
|---|---|---|---|
| අ | පිල්ලමක් නැත | - | කවියා, රසිකයා, ගඟ |
| ආ | ා | ඇලපිල්ල | කාසිය, රබාන, මනාලිය |
| ඇ | ැ | කෙටි ඇදපිල්ල | කැකිරි, වැහැරෙනවා, පැහැ |
| ඈ | ෑ | දිගු ඇදපිල්ල | කෑම, හැන්දෑව, රෑන |
| ඉ | ි | ඉස්පිල්ල | කිතුල්, මාපිය, පිහිටි |
| ඊ | ී | දිගු ඉස්පිල්ල | කීර්තිය, අදීන, ශරීර |
| උ | ු ු ෘ | කෙටි පාපිල්ල | කුරහන්, උදුම්බරා, වගුරු |
| ඌ | ූ ූ ෲ | දිගු පාපිල්ල | කූඹියා, අනූව, රූපය |
| එ | ෙ | කොම්බුව | කෙක්ක, සැලෙනවා, මෙහෙ |
| ඒ | ේ | කොම්බුව සහ දීර්ඝත්ව සලකුණ | කේක්, මේසය, මහේෂිකාව |
| ඓ | ෛ | කොම්බු දෙක | වෛද්‍ය, වෛරය, ධෛර්යය |
| ඔ | ො | කොම්බුව සහ ඇලපිල්ල | කොස්, මොහොත, පොල් |
| ඕ | ෝ | කොම්බුව සහ දීර්ඝත්ව සලකුණ සහිත ඇලපිල්ල | කෝරලය, විනෝදය, යහළුවෝ |
| ඖ | ෞ | කොම්බුව සහ ගයනු කිත්ත | කෞතුකාගාරය, මහෞෂධ, භෞතික |
| ඍ | ෘ | ගැටපිල්ල | කෘමියා, අමෘතය, කර්තෘ |
| ඎ | ෲ | ගැටපිලි දෙක | කර්තෲන්, ශාස්තෲන්, වක්තෲන් |

## අවබෝධය

1. ස්වරයක් හෝඩියේ දැක්වෙන රූපයෙන් ම ලියන්නේ වචනයක කුමන ස්ථානයේ යෙදෙන විට ද?
2. හල් කළ නො හැකි ව්‍යඤ්ජන අක්ෂර දෙකක් ලියන්න.
3. පිල්ලකින් සංකේතවත් නො වන ස්වරය කුමක් ද?
4. එක ම ස්වරයක් සංකේතවත් කිරීමට විවිධ අකුරුවලට විවිධ පිලි භාවිත කෙරෙන ස්වර, පාඩමේ වගුවෙන් උපුටා ලියන්න.
5. පිලි දෙකකට වඩා භාවිත කරමින් සංකේතවත් කරන්නේ කිනම් ස්වරය ද?

## ලිඛිත අභ්‍යාස

1. පෙළ පොතේ ඇති පාඩම්වලින් ස්වර මුලට යෙදෙන වචන හා ව්‍යඤ්ජන මුලට යෙදෙන වචන දහය බැගින් වගුවක සටහන් කරන්න.
2. පහත සඳහන් අක්ෂර යෙදෙන වචන දෙක බැගින් ලියන්න.
   i. ඉ
   ii. උ
   iii. ඍ
   iv. ඓ
   v. ඖ
3. පහත සඳහන් පිලි යෙදෙන වචන දෙක බැගින් ලියන්න.
   i. ඇලපිල්ල
   ii. දිගු පාපිල්ල
   iii. ඉස්පිල්ල
   iv. කොම්බුව සහ ඇලපිල්ල
   v. කොම්බුව

## ප්‍රායෝගික අභ්‍යාස

1. දිනපතා පළවන පුවත්පතක් හෝ ළමා නවකතාවක් හෝ තෝරා ගෙන එහි ඇති පිලි යෙදෙන වචන අනුපිළිවෙළින් ලියා පොත් පිංචක් සකස් කරන්න. ඔබ තෝරා ගත් පිල්ල සහිත අක්ෂරය පාඨ කරන්න.
2. සිංහල අක්ෂරමාලාව පන්තිය ඉදිරියේ මතකයෙන් කියවන්න.

# 5 නාම පද හා එහි ප්‍රභේද

මනුෂ්‍යයා භාෂාව යොදා ගන්නේ තවත් කෙනකු සමග අදහස් හුවමාරු කර ගැනීමට හා තමන්ගේ හැඟීම් කියා පෑමට යි. භාෂාවක් මඟින් අදහස් පළ කරන එක ම සත්ත්වයා මනුෂ්‍යයා ය. අනික් සත්තු නාදය, ශරීර ඉරියවු හා ගඳ-සුවඳ මඟින් අදහස් හා හැඟීම් පළ කරති. අදහසක් හෝ හැඟීමක් කියා පෑමට මනුෂ්‍යයාගේ මුවෙන් පිටවන අර්ථයක් සහිත ශබ්ද, පද යනුවෙන් හැඳින්වෙයි. මේ පද ලේඛනයේ දී අකුරු මඟින් ලියා දැක්වෙයි.

පද වර්ග කිහිපයකි. නාම පද ඒ අතරින් එකකි. පුද්ගලයකු, තැනක්, දෙයක්, ගුණයක් හෝ තත්ත්වයක් නැත හොත් අදහසක් පිළිබඳ අර්ථයක් දෙන්නේ නාම පද යි.

ඒක වචන හා බහු වචන භේදය, උක්ත අනුක්ත භේදය හා ලිංග භේදය පදනම් කරගෙන නාම පද වර්ගීකරණය කෙරෙන ආකාරය මෙම පාඩමේ දැක්වේ. ඒ සඳහා නිදසුන් උපුටා ගෙන ඇත්තේ කතන්දර කිහිපයකිනි.

අනාදිමත් කාලයක් පුරා එක්තරා වනයක වන සත්තු යහතින් දිවි ගෙවූහ. ඔවුහු එකෙකා කෙරෙහි කාරුණික වූහ; මෛත්‍රී සහගත වූහ. එහෙයින් ම ඒ වනය බෙහෙවින් සාමකාමී විය.

මෙසේ කලක් ගත වෙත් ම එහි වූ රුකක අමුතු සතකු වාසය කරන්නේ යැයි රාවයක් පැතිර ගියේ ය. මේ පණිවිඩය රැගෙන ආ වන සතා, පිරිසක් එක් රැස් වී සිටින සෑම විට ම මේ ගැන කියා සිටින්නට විය. මෙයින් මේ පුවත මුළු වනය පුරා ඉතා ඉක්මනින් ප්‍රචලිත වූයේ ය. සත්තු කැලැඹුණහ. කුමක් කළ යුතු දැයි ඔවුහු නො දත්හ. සතුන් අතරින් වඩාත් උපක්‍රමශීලී සේ ප්‍රකටව සිටි නරියාට මේ පිළිබඳ වැඩිදුර සොයා බැලීමේ කාර්යය පැවැරිණි. "නරිහාමි නුඹ කපටියා. නුඹට පුළුවනි මොන විදියකින් හරි මේ ගැන ඇත්ත තත්ත්වෙ දැන ගන්න" ඔවුහු කීහ. එහෙත්, නරියා පොදුජන යහපත වෙනුවෙන් තම ජීවිතය පරදුවට තැබීමට සූදානම් වූයේ නැත.

ඒකා මේ සඳහා අපූරු සැලැසුමක් යෙදී ය. හැම විට ම අනුන්ගේ ඕපාදූප සෙවීමට ආශා කළ එක්තරා පක්ෂියකු හට නරියා මේ කාර්යය පැවරී ය. "අපූරු අමුතු දෙයක් හොයා ගත්තොත් නුඹට මුළු කැලේ පුරා ම කියව කියවා

ඇවිදිතැකි" **නරියා කුරුල්ලාගේ** රුචිය වර්ධනය වන අයුරින් කතා කොට **කාරිය** සඳහා උඟ පොලඹවා ලී ය.

මෙයින් **උද්දාමයට** පත් ඒ **කුරුල්ලා** ද වහ වහා ආගන්තුක **සත්ත්වයා** සිටි විසල් **රුක** අසලින් පියාඹා යන්නේ, රත් **ගිනි බෝල** දෙකක් සහ අමුතු **ශබ්දයක්** ද ඒ කොළ පතරෙහි ඇති බව දකින්නේ ය.

මේ පුවත ඇසූ සියලු සත්තු **බියෙන්** තැති ගත්හ. ඔවුහු වහා මේ **වනය** හැර දමා යාබද වනය වෙත සංක්‍රමණය වන්නට පටන් ගත්හ. එහෙත්, ඒ විසල් රුකෙහි වාසය කෙළේ රත් **ඇස්** ඇති තරමක් ලොකු, අහිංසක **කුරුල්ලෙකි.** හිටිහැටියේ සියලු සතුන් වනය හැර දමා පිට වෙන්නේ කුමක් නිසා දැයි ඒ කුරුල්ලා පුදුමයෙන් කල්පනා කෙළේ ය.

දුර දිග නො බලා කටයුතු කළ හොත් කිසියම් පිරිසකට සිය **නිජබිම** පවා සදහට ම අහිමි වී යා හැකි ය.

භයංකර සත්ත්වයා
**ලියනාඩෝ ඩාවින්චිගේ උපමා කතා**

පරිවර්තනය :- තනූජා ධර්මපාල

මෙම උපමා කතාවෙහි කළු කර ඇති පද ගැන අවධානය යොමු කරන්න.

- **සත්තු, වනසතා, ඔවුහු** යන පදවලින් යම් කෙනෙකු හෝ සතෙකු ගැන ද
- **රුක, ගිනිබෝල** යන පදවලින් යම් දෙයක් ගැන ද
- **වනය, නිජබිම** යන පදවලින් යම් ස්ථානයක් ගැන ද
- **බිය, උද්දාමය** යන පදවලින් යම් ස්වභාවයක් ගැන ද කියවේ. මේවා සියල්ල නාම පද යි.

**නාම පදයක් යනු කුමක් දැයි හඳුනා ගනිමු.**
**යම් කෙනෙකු, සතකු, දෙයක්, ස්ථානයක් හෝ ස්වභාවයක් හැඳින්වීමට භාවිත කරන පද, නාම පද යි.**

## වචන භේදය

නාම පදවල වචන භේදයක් පවතී. ඒක වචන හා බහු වචන වශයෙනි.
**යම් නාම පදයකින් එක් අයකු, එක් දෙයක්, එක් ස්ථානයක් හෝ එක් ස්වභාවයක් ගැන කියවේ නම් ඒවා ඒක වචන නාම පද යි.**
**නාම පදයකින් බොහෝ අය, බොහෝ දේවල්, බොහෝ ස්ථාන ගැන කියවේ නම් ඒවා බහු වචන නාම පද යි.**

නාම පද

ඒක වචන | බහු වචන

## ලිඛිත අභ්‍යාස

1. **කතාවේ ඇති පහත දැක්වෙන නාම පද ඒක වචන, බහු වචන වශයෙන් වග ගත කරන්න.**

   සත්තු, ඔවුහු, වනය, රුක, රාවය, පක්ෂිවිධය, වන සතා, නරියා, කපටියා, ජීවිත, ඒකා, පක්ෂීහු, උඹ, සත්ත්වයෝ, බෝල, ඇස්, කුරුල්ලෝ, නිජ බිම.

| ඒක වචන | බහු වචන |
|---|---|
| | |
| | |
| | |
| | |
| | |

2. **ඒක වචන නාම පද දහයක් හා බහු වචන නාම පද දහයක් සොයා ලියන්න.**
3. **පහත දැක්වෙන නාම පද ඒක වචන නම් බහු වචන බවට ද බහු වචන නම් ඒක වචන බවට ද හරවා ලියන්න.**

   (ගොවියා, කම්කරුවෝ, නීතිඥයා, මිනින්දෝරුවෝ, වඳුරා, බල්ලෝ, බළලා, ඉබ්බෝ, ලේනා, නිවාසය, ගස්, සඟරාව, පුටුව, රූපවාහිනිය, පාසල, භෝජනාගාරය, විශ්වවිද්‍යාලය, පන්ති කාමරය, ආයතනය)

| ඒක වචන | බහු වචන |
|---|---|
| | |
| | |
| | |
| | |
| | |

1. මෙම උපමා කතාවේ ඇති නාම පද පිළිබඳව අවධානය යොමු කරමින් කියවන්න.
2. තවත් මෙවැනි කතාවක් සොයා එහි එන නාම පද ලකුණු කරන්න.

පෙර එක් **රජෙක්**හට **පුත්‍රයෙක්** වූයේ ය. ඒ පුත්‍ර තෙමේ දඩයමට ප්‍රිය ඇත්තේ විය. රජ ඕහට දඩකෙළි පිණිස නොයෙක් විට අවසර දුන්නේ ය. එතකුදු වුවත් නිතර ම පුතු කැටුව යාමට මහ ඇමතිහට අණ කළේ ය. එක් දිනෙක්හි රජ කුමර තෙම දඩයමට ගියේ ය. දඩයමෙහි දී දඩයම්කරුවන් විසින් මුවෙකු පැන්නූ කල කුමර තෙමේ මහ ඇමති තමා අනුව එන්නේ ය යි සිතා තද ඇල්මෙන් මුවෙකු ලුහුබඳවා ගත්තෙන් පිරිසගෙන් ඉවත්ව යන්ට වන. මග සොයා ගත නො හී මහ ඇමතිහු කරා නැවත ඊමට තැත් කළේ රට තොට නො දත් බැවින් බොහෝ ඈත මුළාව ඇවිද්දේ ය.

මෙසේ අසුපිටින් යද්දී බොහෝ සේ හඬ හඬා හුන් රූප ශෝභාවෙන් යුත් කාන්තාවක් අදිස්සියෙන් ඕහට සම්මුඛ වූවා ය. කුමර තෙමේ අසු නවත්වා ඈගෙන් අසනුයේ,

"තී කවරෙක් ද? කුමක් හෙයින් මෙහි හුදකලාව සිටින්නී ද? කිනම් දෙයක් ගැන අඬන්නී දැ"යි ඇසී. එවිට ඕතොමෝ උත්තර දෙන්නී,

"මම වනාහි භාරත දේශයේ (ඉන්දියා) රජකුගේ දුවක්මි. මම අසුපිට නැඟී මඳපවන් හමන වේලෙහි නිදිබරව අසුපිටින් වැටුණෙමි. අස්තෙමේ දිවගත. ඌට කුමක් වී දැයි නො දනිමි"යි කීවා ය.

තරුණ කුමර තෙමේ ඈ කෙරෙහි කරුණාවෙන් තම පිටිපසින් අසුපිට හිඳුවයි කීය. ඕතොමෝ ද සතුටින් එසේ කළා ය.

මෙසේ එදෙදෙන ජරාවාස වූ ගෙයක් පසුකර යද්දී කාන්තාව අසුපිටින් බසිනු කැමැත්තෙමි යි කීවාය. කුමරු **අසු** නැවැත් වූ විට ඕතොමෝ සුව සේ බිමට බැස්සා ය. හෙතෙමේ ද බැස අතින් අසු අල්වාගෙන ඒ ජරාවාස ගෙය කරා එළඹියේ ය. කාන්තාව වනාහි,

"දරුවෙනි සතුටු වෙව්. තොපට රුවැති තරුණ යෞවනයකු ගෙනාමි"යි කී කල එබස් ඇසූ කුමර තෙමේ කෙතරම් විස්මයට පැමිණියේ දැයි ඔබ වහන්සේට සිතිය හැක්කේ ය. දරුවෝ ද එබසට උත්තර දෙමින්,

“මැණියෙනි හෙතෙම කොතැන්හි ද? අපට බොහෝ ක්ෂුධා ඇති බැවින් දැන් ම ඔහු කමු” යයි කීවාහ.

රජ කුමර තෙමේ තමහට සිදුවෙන්ට එන අන්තරාය ඇසූ දෙයින් දැනගත. භාරත දේශයේ රජ කෙනෙකුගේ දුවෙක්මි යි කී කාන්තාව විවේක ස්ථානයන්හි වෙසෙමින් දහස් ගණන් මායම්වලින් මඟීන් අල්වා කන රාක්ෂසයකුගේ භාර්යාවකැ යි කුමර තෙමේ දැන බොහෝ බියපත්ව වහා ම අසු පිට නැඟීගත.

‘රජ දුවෙක්මි’යි කී කපටි කාන්තාව ඒ වේලෙහි ම අවුත්, ගොදුරු කොට ගත් කුමරු යන්ට සැරසුණ බැව් දැක මුරගා කියන්නී,

“කුමරුවනි, කිසි විටක බිය නොවව. නුඹ කවරෙක් ද? නුඹ කවරකු සොයන්නෙහි ද?” කීවා ය.

“මම වනාහි මංමුළා වූයෙමි. මග සොයා ගන්ට උත්සාහ කරමි”යි හෙතෙම කීය. එබසට ඕතොමෝ කියන්නී,

“නුඹ මංමුළා වූයෙහි නම් දෙවියන් වහන්සේට බාර වව, එවිට උන්වහන්සේ නුඹේ විපතින් නුඹ මුදන සේකැ යි” කීවා ය.

එවිට කුමර තෙමේ ස්වර්ගය දෙසට නෙත් ඔසවා, එසේ කී ඉක්බිති ෂිහර්සාදි,

“රජ්ජුරුවන් වහන්ස, පහන් වේගෙන එන බැවින් කථාව නැවැත්විය යුතු ය”යි කීවා ය.

එවිට දිනර්සාදි තොමෝ,

“ඒ තරුණ කුමරුහට කුමක් වූයේ දැයි දැන ගනු කැමැත්තෙමි. ඔහු ගැන මම චංචල ව සිටිමි”යි කීවා ය.

“හෙට වනතුරු සුල්තන් රජ මට ජීවත් වන්ට අවසර දෙන්නේ නම් නුඹේ සිත්හි නො සන්සුන්භාවය දුරලන්නෙමි”යි බිසව කීවා ය.

ශාෘරියර් රජ තෙමේ කුමරුහුගේ ගමන් කෙළවර දී කුමක් සිදු වී දැයි දැන ගනු කැමතිව ෂිහර්සාදිය නො මරා තව දිනක් කල් දුන්නේ ය.

දඬුවම් ලැබූ මහ ඇමතිහුගේ කථාවස්තුව
**ආරාබි නිශොල්ලාසය**

1. **පහත දැක්වෙන වාක්‍ය කියවන්න.**

i. මම උදෑසනින් ම සුබ පතමි.
ii. අපි උනන්දුවෙන් විභාගය සමත් වෙමු.
iii. නුඹ බිතුසිතුවම් නරඹන්නෙහි.
iv. නුඹලා බිතුසිතුවම් නරඹන්නෙහු.
v. ඔහු නිතර යහළුවන් ඇසුරු කරයි.
vi. ඔවුහු නිතර සතුන් ආරක්ෂා කරති.
vii. ඇතා පෙරහැර අලංකාර කරයි.
viii. ඇත්තු පෙරහැර අලංකාර කරති.
ix. සොයුරිය කවියක් ගායනා කළා ය.
x. සොයුරියෝ කවි ගායනා කළහ.
xi. ගස සැමට සෙවණ ලබා දෙයි.
x. ගස් සැමට සෙවණ ලබා දෙයි.

ඉරි ඇඳි නාම පදවලට අනුරූපව ආඛ්‍යාතය යෙදී ඇති අයුරු විමසා බලන්න. එසේ වන්නේ උක්ත නාම පදයට අදාළ පුරුෂයෙන් ආඛ්‍යාතය ද යෙදී ඇති නිසයි. උත්තම පුරුෂ, මධ්‍යම පුරුෂ, ප්‍රථම පුරුෂ යනුවෙන් සිංහල භාෂාවේ පුරුෂ තුනක් දක්නට ලැබේ. එකී පුරුෂවල නාම පද යෙදෙන අයුරු පහත සටහනින් දැක්වෙයි.

| පුරුෂ | ඒක වචන | බහු වචන |
|---|---|---|
| උත්තම පුරුෂ | මම ... (සමත් වෙමි) | අපි ... (සමත් වෙමු) |
| මධ්‍යම පුරුෂ | නුඹ ... (නරඹන්නෙහි) | නුඹලා... (නරඹන්නෙහු) |
| ප්‍රථම පුරුෂ | ඔහු ... (ඇසුරු කරයි) | ඔවුහු ... (ඇසුරු කරති) |
| | ඇතා ... (අලංකාර කරයි) | ඇත්තු .... අලංකාර කරති) |
| | සොයුරිය... (ගායනා කළා ය) | සොයුරියෝ...(ගායනා කළහ) |
| | ගස ... (ලබා දෙයි) | ගස් ... (ලබා දෙයි) |

1. ඉහත දී ඇති කතා වස්තුවෙහි එන නාම පද සියල්ල ලකුණු කොට ඒවා උත්තම, මධ්‍යම, ප්‍රථම යන පුරුෂ තුනට වෙන් කර දක්වන්න.
2. පෙළ පොතෙහි ඔබ කැමති පාඩමක් තෝරා ගෙන එහි නාම පද පුරුෂ තුනට වෙන් කොට දක්වන්න.

රෑකඩ කපන්නා, ගැමියන්ට වුවමනා දෙය පමණක් නො ව නුවරුන්ට වුවමනා දෙය ද සැපයුවෙකි. ගමෙහි බහුල කුරුල්ලන්ගේ, හාවන්ගේ, මුගටියන්ගේ, කබැල්ලෑවන්ගේ හැඩහුරුකම් හා විචිත්‍ර වර්ණයන් ද ආරූඪ කළ දඬුකඩවලින් ආස්වාදයක් ලැබුවෝ නාගරිකයෝ ය. ගම් වැසියෝ මේ සතුන්ගෙන් ම ආස්වාදය ලැබුවෝ ය. රෑකඩ කපන්නා, තම රෑකඩ නාගරිකයන්ට ම විකිණීමට සිතුවේ එහෙයිනි.

රෑකඩ කපන්නාගේ කම්මල වූ කලි කාමරයකින් ද ඉස්තෝප්පුවකින් ද යුතු, මැටි ගසා අතු සෙවෙණි කළ පැල්පතකි. කපා නිම කළ, නො කළ රෑකඩින් ද, සායම් ගා වේළීමට තැබූ විචිත්‍ර වර්ණයෙන් බබළන රෑකඩින් ද නියන්, කැති, පිහියා, කෙටේරි, සායම් ටින්, බුරුසු, සතුන්ගේ ඇට කටු, දත්, නිය, ඔලිඳ ඇට යනාදියෙන් ද පිරි ඔහුගේ කම්මලෙහි ඇතුළු කාමරය වූකලි නියම කටු ගෙයක් විය. ඉස්තෝප්පුවේ කොනක වූ වතුර සැළියක් ගත් ලිගල් තුනකින් යුතු උදුනෙන් දුම් නො නගින්නේ දවල් දොළහේ සිට එක දෙක වන තෙක් පමණි. එතැන් සිට රෑ හත වන තුරු උදුනෙන් නගින ගින්න නො නිවේ. වතුර හැළිය උපකාර වූයේ ඔහුගේ රෑකඩ කැපීමට නො ව ඔහු රෑකඩ කැපීමෙන් එකතු කරගත් සුළු මුදලට තවත් සත කිහිපයක් ලබා දීමෙන් ඔහුගේ ආදායම වැඩි කිරීමට ය.

රෑකඩ කපන්නාගේ ඉස්තෝප්පුව කෝපි කඩයකි. දවස් පතා උදය කාලයෙහි ද සවස් කාලයෙහි ද ගමේ වැඩිහිටියන් හා තරුණයන් කිහිප දෙනෙකුන් ද රෑ ස්වී, කටින් කඩාගත් හකුරු ඇබිත්තකින් හෝ දිවෙන් ගත් සීනි පුපුරු ටිකකින් හෝ දිව පොඟවා, කෝපි උගුරකින් උගුර ද තෙමා ගෙන, ඕපාදූප දෙඩීමෙන් ද බේගල් දෙසාබෑමෙන් ද විකට කතා කීමෙන් ද ප්‍රීති වූ සැටි මතක් වන විට, පුරාණ ඉංග්‍රීසි කවීන් එක් තැන් වී බීර බිබී දුම් උරමින් කාව්‍ය ශාස්ත්‍රය පිළිබඳ කථාවෙන් පමණක් නො ව, ඕපාදූප දෙඩීමෙන් ද, විනෝදාස්වාදය ලැබූ සන්ථාගාර අරභයා ඇතැම් ඉංගිරිසි පොතකින් දැනගත් තොරතුරු මගේ සිතට නැඟෙයි.

රූකඩ කපන්නාගේ කෝපි කඩයට රැස් වූ මහලු ගැමියෝ පොතින් පතින් හෝ ගුරුන්ගෙන් හෝ බොහෝ කොට ඉගෙනීමෙන් ලත් ප්‍රතිභාව ඇති කවීන් නො වූව ද ජීවිතය නමැති තක්සලාවෙන් ඉගෙනීමෙන් ලත් ප්‍රතිභාව ඇති කවීහු වූහ. පොතපතින් ලත් විනීතභාවයෙන් තොර වූ ඔවුන්ගේ කතාබහ, ඔවුන් ඇද බෑ බේගල්, දෙඩූ ඕපාදූප ග්‍රාම්‍යත්වයෙන් බර වුව ද වෘද්ධත්වයට හිමි තැන්පත් නුවණ, උපහාසය, උපාසකකම, සිනා රස යන මෙතෙක් සාහිත්‍ය රසයෙන් තොර නො වීය. මිනිසත් බවට හිමි දුක් පීඩා ප්‍රත්‍යක්ෂ කරගත් ඔවුන්ගේ කටින් ගිලිහුණ ඕපාදූප වූ කලි, කවීන්ගේ රචනයන්ට වස්තු විය යුතු, ජීව ශ්‍රෝතසයෙන් නිකුත්, ජීව බින්දුන්ගෙන් ගහන වී ය.

රූකඩ කපන්නාගේ කම්මල
**අපේ ගම**
මාර්ටින් වික්‍රමසිංහ

## උක්ත අනුක්ත භේදය

**උක්ත පදඃ**

i. ගුරුවරු ශිෂ්‍යයන් අගය කරති.
ii. වෛද්‍යවරු රෝගීන් සුවපත් කරති.
iii. පොලිස් නිලධාරීහු සැකකරුවන් උසාවියට ඉදිරිපත් කරති.
iv. මිනින්දෝරුවෝ ඉඩම් හිමියන් හමු වෙති.
v. ලේඛකයෝ පාඨකයන් දැනුවත් කරති.

මෙම වාක්‍යවල 'ගුරුවරු, වෛද්‍යවරු, පොලිස් නිලධාරීහු, මිනින්දෝරුවෝ, ලේඛකයෝ' යන නාම පද එම වාක්‍යයන්හි අවසාන ක්‍රියා සිදු කරන කර්තෘ පද යි. කර්තෘ කාරක වාක්‍යයක අවසාන ක්‍රියා පදයෙන් උක්ත වන කේවල නාම පද හා ද, හා, ත් යන සමුච්චයාර්ථ නිපාත යෙදී වාක්‍යයක කර්තෘ වශයෙන් යෙදෙන පදත්, ද්විත්ව කර්තෘ පද හා නාමාඛ්‍යාත පදත් කර්ම කාරක වාක්‍යයක කර්මය දැක්වෙන පදත් සැම විට ම උක්ත ස්වරූපයෙන් තබනු ලැබේ.

**අනුක්ත පදඃ**

මෙම වාක්‍යවල කර්ම පද ලෙස යෙදුණු 'ශිෂ්‍යයන්, රෝගීන්, සැකකරුවන්, ඉඩම් හිමියන්, පාඨකයන්' යන නාම පද අනුක්ත ස්වරූපයෙන් සිටී. කර්තෘ

කාරක වාක්‍යයක කර්මය වශයෙන් යෙදෙන නාම පදත් මෙන්, සේ, වැනි, කරා, උදෙසා, සඳහා යන නිපාත ආශ්‍රිත නාම පදත් වූ කෘදන්තයට මුලින් යෙදෙන නාම පද හා අසම්භාව්‍ය ක්‍රියා ආශ්‍රිත නාම පදත් සෑම විට ම අනුක්ත ස්වරූපයෙන් තබනු ලැබේ.

නාම පද

- උක්ත පද
- අනුක්ත පද

## ලිඛිත අභ්‍යාස

1. **ඉහත කතාවෙන් උපුටා ගත් පහත සඳහන් නාම පද උක්ත-අනුක්ත වශයෙන් හඳුනා ගෙන අදාළ කොටුවේ '✓' ලකුණ යොදන්න. උක්ත-අනුක්ත දෙකෙහි ම යෙදිය හැකි නාම පද ඇත්නම් අදාළ කොටු දෙකෙහි ම '✓' ලකුණ යොදන්න.**

| නාම පදය | උක්ත | අනුක්ත |
|---|---|---|
| කපන්නා | | |
| කුරුල්ලන් | | |
| හාවන් | | |
| මුගටියන් | | |
| කැබල්ලෑවන් | | |
| නාගරිකයෝ | | |
| ගම්වැසියෝ | | |
| පැල්පත | | |
| කටුගෙය | | |
| ඔහු | | |
| වැඩිහිටියන් | | |
| තරුණයන් | | |
| ගැමියෝ | | |
| කවීන් | | |
| කවීහු | | |

2. **හිස්තැන්වලට ගැළපෙන උක්ත පද වරහන් තුළින් තෝරා ලියන්න.**

i. (ළමයි/ළමයින්) ......................... බයිසිකල් පදිති.
ii. (මම/මා) ........................... ඔවුන් ඇමතුවෙමි.
iii. (කුරුල්ලෝ/කුරුල්ලන්) ........................... අහසේ පියාසර කරති.
iv. (ඔවුන්/ඔවුහු) ........................... නේවාසිකාගාරය තුළ රැඳී සිටිති.
v. (තොප/තොපි) ........................... පව් නො කරහු.
vi. (ගායිකාවක/ගායිකාවක්) ........................... සම්මාන ලැබුවා ය.
vii. (රජවරුන්/රජවරු) ........................... මහ වැව් තැනූහ.
viii. (සිංහයෝ/සිංහයන්) ...........................තණ කොළ නො කති.
ix. (භික්ෂූහු/භික්ෂූන්) ........................... සෙත් පිරිත් දේශනා කරති.
x. (චිත්‍ර ශිල්පීන්/චිත්‍ර ශිල්පීහු) .................... තම නිර්මාණ ප්‍රදර්ශනය කරති.

3. **හිස්තැන්වලට ගැළපෙන අනුක්ත පද වරහන් තුළින් තෝරා ලියන්න.**

i. මව (දරුවෝ/දරුවන්) ........................... පසසයි.
ii. මකුළුවෝ (කෘමීන්/කෘමීහු) ........................... ආහාරයට ගත්හ.
iii. විදුහල්පතිතුමිය (ශිෂ්‍යාවන්/ශිෂ්‍යාවෝ) .................... ආරක්ෂා කළා ය.
iv. මම (තොප/තොපි) ........................... හඳුනමි.
v. හාවෝ (ඉබ්බෝ/ඉබ්බන්) ........................... සමග තරඟයට දුවති.
vi. ඔහුගේ ගායනය (අප/අපි) ........................... පිනවී ය.
vii. ගැරඬියා (මීයෝ/මීයන්) ........................... අල්ලයි.
viii. රසිකයෝ (නිර්මාණකරුවන්/නිර්මාණකරුවෝ) ....................... අගයති.
ix. රෝගීහු (හෙදියන්/හෙදියෝ) ........................... කැඳවා ගත්හ.
x. ගුරුතුමා (මම/මා) ........................... ඇමතුවේ ය.

එකමත් එක රටක පවුලක සහෝදරයෝ හත් දෙනෙක් සිටියෝ ය. ඔවුන්ගෙන් බාල සහෝදරයාගේ නම මුවන්තිස්ස ය. අනික් සහෝදරයන් මෙන් ඔහු කෙත්වල වැඩට නො ගියේ ය. උදය ගෙදරින් පිටත්ව වනාන්තරයට වැද මුවන් පස්සේ එළවා ගෙන ගොස් උන් ඇල්ලීම ඔහුගේ පුරුදු ක්‍රීඩාව විය.

ඔහු මෙසේ සෙල්ලම් කොට ගෙදරට එන්නේ සවස් වන විට ය. ඔහු සමහර විට මුවකු කර තබා ගෙන එයි. කෙත්වල වැඩට නො යෑම ගැන අනික් සහෝදරයෝ ඔහුට හැමදා ම බැණ වදිති.

දවසක් මුවන්තිස්ස කුමාරයා උදලු කොටයකුත් රැගෙන කුඹුරට යන්ට සූදානම් වූයේ ය. අනික් සහෝදරයෝ සිනා සී ඔහුට සරදම් කළෝ ය. ඔහු

කෝප වී උදලු කොටය ඉවත දමාලා කැලයට වැදී කැලයෙහි තිබුණු වීර, පලු සහ කෝන් යනාදි මහ ගස් උදුරා දැම්මේ ය. ඔහු බිම සදාලා ගෙදර ඇවිත් වැපිරීමට වී ඉල්ලුවේ ය. සහෝදරයෝ වී නුදුන්හ. ඔහු මාමා වෙතට ගොස් බිත්තර වී ඉල්ලුවේ ය. මාමා ගොසින් හේන බලාලා ඇවිත් ඔහුට ලොකු වී බිස්සක් පෙන්නුවේ ය. මුවන්තිස්ස කුමාරයා අමුණු හැටක පමණ වී බිස්ස උස්සාගෙන ගොස් වැපුරුවේ ය.

පැසුණු පසු ඔහු ගොයම් කපා පාගා එක තැනක ගොඩ ගසා ගෙදර ඇවිත් සහෝදරයන්ට කතා කොට මෙසේ කීවේ ය. "ගොහින් බලාපල්ලා මගේ වී ගොඩ. ඒක උඩට නැංගා ම මේ රටේ ඈත තිබෙන දාගැබ්වල කොත් පෙනෙනවාදැ යි බලාලා පේනවා නම් මට කියනු."

සහෝදරයෝ ගොස් බාල මලණුවන්ගේ වී ගොඩ උඩට නැංගෝ ය. ඈත පිහිටි දාගැබ්වල කොත් හොඳට ම පෙනිණ. එහෙත් ඔවුහු කොත් නො පෙනෙන බව කීවෝ ය. එයින් උදහස් වූ මුවන්තිස්ස කුමාරයා කන්දක් පමණ උස් වූ ඒ වී ගොඩට පයින් ගසා ඉහිරවා ඇවිත් තම කඩුවත් අරගෙන ගෙයින් නික්මුණේ ය.

ගවු ගණනක් ගමන් කොට ගඟක් අසලට පැමිණි ඔහු කිතුල් ගහක් බිලී පිත්තටත් අලියකු ඇමටත් අවුණා ගෙන මාළු බාන තවත් යෝධයකු දුටුවේ ය. ඉතා ශක්ති සම්පන්න අතපය හා ලොකු කඳක් ඇති මොහු දුටු විගස 'මොහු නියම යෝධයෙකැ'යි මුවන්තිස්ස කුමාරයාට කියවුණි.

'මා මොන යෝධයෙක් ද, මුවන්තිස්ස කුමාරයා නොවැ යෝධයා'යි මාළු බාමින් සිටි යෝධයා කීවේ ය. එයින් පසු ඔවුහු එකිනෙකා දැන ඇඳින ගත්හ.

මාළු බාමින් සිටි යෝධයාගේ නම අලින්තිස්ස ය. වැඩිදුර යන්නට පෙර මොවුන්ට තවත් යෝධයෙක් හමු විය. විශාල යකඩ බෝල දෙකක් උඩ දම දමා අල්වමින් ගමන් කළ ඔහු දුටු විගස 'මොහු නම් හරිම යෝධයෙකැ'යි මුවන්තිස්ස කුමාරයා කීවේ ය. 'හරි යෝධයා මා නො ව මුවන්තිස්ස කුමාරයා'යි ඔහු ද කීවේ ය. ඔහුගේ නම යකඩතිස්ස ය.

මේ යෝධයෝ තුන්දෙනා ඔවුනොවුන් දැන ඇඳින ගෙන රක්ෂාවල් සොයමින් ගමන් කළෝ ය. තවත් ගවු ගණනක් ගමන් කළ විට ඔවුන් ළඟා වූයේ විශාල ගඟක් ළඟට ය. අලින්තිස්ස කුමාරයා ලොකු මාළුවකු බා ගත්තේ ය. තුන් දෙනාට ම බඩගිනි වී තිබුණ බැවින් ඔවුහු මාළුවා පුළුස්සා ගෙන කන්නට අදහස් කර ගත්හ. යකඩතිස්ස කුමාරයා ගහකට නැග දුම් නගින ගෙයක් ළඟක තියේ දැ යි බැලුවේ ය. ඈත දුම් නගින ගෙයක් දුටු ඔහු ගසින් බැස ගින්දර ගෙනෙන්නට ඒ ගෙය දෙස බලා නික්මුණේ ය.

එය රාස්සියකගේ ගෙදර යි. ඒ වෙලේ ඈ සිටියේ දරුවකු කොරහක තබා ගෙන නාවමිනි. යකඩතිස්ස කුමාරයා ඈ කරා ගොස් ගින්දර ටිකක් ඉල්ලුවේ ය. 'ළිප ළඟට ගොස් ළිපෙන් ගිනි පෙනෙල්ලක් අරගෙන යන්ට'යි කියමින් රාස්සි විශාල හැළියක් උසුලා ගත් ළිප්ගල් තුනකින් යුත් ළිපක් පෙන්නුවා ය. කුමාරයා ගොස් ගිනි පෙනෙල්ලක් ගන්ට පාත් වූ කල රාස්සි ඔහු එතන ම වූ බිංගෙය තුළට තල්ලු කළා ය. බොහෝ වේලාවක් ගෙවී ගොසිනුත් යකඩතිස්ස කුමාරයා නා නිසා අලින්තිස්ස කුමාරයා පිටත් වූයේ ය.

**ඥානෝදය කතා** - මාර්ටින් වික්‍රමසිංහ
රන් කෙඳි කුමාරිකාව
**තුන් බෑ යෝධයෝ**

## ලිංග භේදය

මේ වාක්‍ය දෙස බලන්න.

i. යකඩතිස්ස කුමරයා ගින්දර ඉල්ලුවේ ය.
ii. රාස්සි ළිපක් පෙන්නුවා ය.
iii. ළිපේ ගින්දර දැල්වෙයි.

මෙහි, 'යකඩ තිස්ස කුමාරයා' යන්නෙන් පුරුෂවාචී බවක් ද
'රාස්සි' යන්නෙන් ස්ත්‍රීවාචී බවක් ද
'ගින්දර' යන්නෙන් අප්‍රාණවාචී බවක් ද හැඟෙයි.

ඒ අනුව,
මිනිසුන්, සතුන් හා කල්පිත ජීවීන් (දේව, යක්ෂ, ආදි) හඟවන නාම පද සචේතන, එනම් පණ ඇති හෙවත් ප්‍රාණවාචී පද ලෙස ද ගස් වැල් හා සෙසු අප්‍රාණික දෑ හඟවන නාම පද අප්‍රාණවාචී හෙවත් අචේතනික නාම පද ලෙස ද සැලකෙයි.

ප්‍රාණවාචී නාම පද අතරින්

- පුරුෂවාචී බවක් හඟවන නාම පද පුරුෂ ලිංග නාම පද වශයෙන් ද
- ස්ත්‍රීවාචී බවක් හඟවන නාම පද ස්ත්‍රී ලිංග නාම පද වශයෙන් ද

අප්‍රාණවාචී බවක් හඟවන හෙවත් අචේතන ගණයේ නාම පද නපුංසක ලිංග නාම පද වශයෙන් ද හැඳින්වේ.

නාම පද

- ප්‍රාණවාචී හෙවත් සචේතන නාමපද
  - පුරුෂ ලිංග නාම පද
  - ස්ත්‍රී ලිංග නාම පද
- අප්‍රාණවාචී හෙවත් අචේතන නාම පද
  - නපුංසක ලිංග නාමපද

1. **පහත දැක්වෙන නාම පද පුරුෂ ලිංග, ස්ත්‍රී ලිංග, නපුංසක ලිංග වශයෙන් වගු ගත කරන්න.**
   (ගිරවා, පොත, පෑන, නිවස, වඳුරා, ගැහැනිය, මහිලාව, බල්ලා, බැළලිය, ගස, ගඟ, කුරුල්ලා, යහළුවා, ලේඛිකාව, ගුරුතුමිය)

| පුරුෂ ලිංග | ස්ත්‍රී ලිංග | නපුංසක ලිංග |
| --- | --- | --- |
| | | |

2. **තුන් බෑ යෝධයෝ කතාවේ ඇතුළත් නාම පද පුරුෂ ලිංග, ස්ත්‍රී ලිංග, නපුංසක ලිංග වශයෙන් වර්ග කර දක්වන්න.**

# 6 ‘සිරිත් හොඳ දැනගෙන....’

**සුසිරිතෙහි යෙදෙමින් දුසිරිතෙන් ඈත් වෙමින් සදාචාර සම්පන්න ජීවිතයක් ගත කිරීමට මග පෙන්වන *සිරිත් මල්දම* උපදේශ සාහිත්‍යයෙහි ලා සැලකිය හැකි කාව්‍ය කෘතියකි. පහසුවෙන් මතකයේ රැඳෙන සරල සුගම බස් වහරකින් මේ කවි පබඳන ලද්දේ ඇම්.ඇල්. සිල්වා ගුරු මුහන්දිරම්තුමා විසිනි. ළමා වියේ සිට යහපත් පුරුදු ආකල්ප ඇතිව සමාජයට වැඩදායක ලෙස ජීවිතය හැඩ ගස්වා ගන්නා ආකාරය මේ කවිවලින් කියැවේ.**

1. නමින් පට බැන්දත්
රනින් රුවනින් දිලුණත්
කුලෙන් රජ වුවත්
එයින් එල කිම සිරිත් හැරියොත්

2. ඉර උදා වන්නට
පළමුව නැගිට සිහි කොට
අලසකම් දුරු කොට
කරන් වැඩපළ දියුණු වන්නට

3. වැඩක නො යෙදූ සිත
නරක අතට ම පෙරළෙත
කිමෙක වන යහපත
වැඩක එබැවින් යොදනු තම සිත

4. හිස අවුල් කරගෙන
කිළුටු වැරහැලි ඇඳගෙන
පඹයෙකුගෙ විලසින
ඉඳුම හොඳ නෑ බූත කරමින

| | | |
|---|---|---|
| 5. | අතින් අත බැඳ | පෙළ |
| | නො යන් මං | මාවත්වල |
| | තැනින් තැන | කඩවල |
| | නො යන් කරුණක් නැතිව | කිසි කල |
| 6. | කෑමට කෑදරකම් | නො කරන්නේ |
| | තව මට කියමින් කෑ | නො ගසන්නේ |
| | තරහට කෑමක් විසි | නො කරන්නේ |
| | එළි පිට හිටගෙන කෑම | නො කන්නේ |
| 7. | ඇඟ වැසුමෙන් නිසි ඇඳුම් | අඳින්නේ |
| | බඩ නෙරුමෙන් රෙදි ඇඳ නොම | ගන්නේ |
| | හිස වැසුමෙන් කිසි තැන | නො වදින්නේ |
| | සුදුසු තැනින් නිසි ලෙස | පලයන්නේ |
| 8. | උතුමන් ඉදිරියෙ කෙළ | නො ගසන්නේ |
| | ඉඳිමින් එහි පා දිගු | නො කරන්නේ |
| | එලෙසින් ඉඳ ඇනුම් | නාරින්නේ |
| | සියතින් එලෙස ම හිස | නො කසන්නේ |
| 9. | එක ම වැඩක නිතර ම | නො යෙදෙන්නේ |
| | වෙන ම වෙන ම වැඩ සලකා | ගන්නේ |
| | පෙනුම ඇතුව හොඳ වැඩ | කරපන්නේ |
| | තරම නො දැන වැඩකට | නො බසින්නේ |
| 10. | හිසකේ විදා ගෙන යම් තැනකට | නො යමි |
| | හිසකේ විදා ගෙන උතුමන් වෙත | නො යමි |
| | හිසකේ විදා ගෙන දොරකඩ | නොම ඉඳිමී |
| | හිසකේ විදා ගෙන සබ මැද | නො ගැවසෙමී |
| 11. | අනුන්ට බුහුමන් දී | සලකන්නේ |
| | තමන්ට බුහුමන් ලැබෙයි | එයින්නේ |
| | අනුන්ට තම වංශය | කියමින්නේ |
| | ලබන්ට නම්බුව | නො සිතාපන්නේ |

## අවබෝධය

1. යහපත් සිරිත් අත් නො හැරීමේ වැදගත්කම ප්‍රකාශ වන කවිය උපුටා දක්වන්න.
2. මේ කවියට අනුව ආහාර අනුභවයේ දී වැදගත් වන සිරිත් මොනවා ද?
3. පාඩමේ කියැවෙන ආකාරයට ඇඳුම් පැළඳුම් පරිහරණයේ දී සලකා බැලිය යුතු කරුණු මොනවා ද?
4. උතුමන් ඉදිරියේ හැසිරිය යුතු ආකාරය කවියා දක්වා ඇත්තේ කෙසේ ද?

## ලිඛිත අභ්‍යාස

1. **නිවසේ දී, පාසලේ දී, මහ මග දී ඔබ පිළිපදින හොඳ සිරිත් මොනවා ද?**
2. **පහත සඳහන් පදවල අර්ථය ප්‍රකාශ වන සේ වාක්‍ය නිර්මාණය කරන්න.**
   i. පට බැඳීම
   ii. රුවනින්
   iii. විදා ගෙන
   iv. වැරහැලි

3. උදය ම පුබු දී
   මුහුණට දිය දී
   කුලදෙවි නම දී
   ගේ දොර හම දී
   **මෙම කවියේ කියැවෙන යහපත් සිරිත් දෙකක් උපුටා දක්වන්න.**

## ප්‍රායෝගික අභ්‍යාස

1. **සිරිත් - දුසිරිත් ගැන ඔබ අසා ඇති වෙනත් කවියක් ලියන්න.**
2. **පන්තිය කණ්ඩායම්වලට බෙදී ඔබේ පාසලට හෝ පන්ති කාමරයට වඩාත් වැදගත් වන ගුණධර්ම කවියට නගා දර්ශනීය පෝස්ටරයක් නිර්මාණය කරන්න.**

# 7

# අලි උවදුර

කුමාරතුංග මුනිදාස සිංහල භාෂා සාහිත්‍ය ක්ෂේත්‍රයෙහි විශාල පෙරළියක් සිදු කළ පඬිවරයෙකි. කුමාරතුංග මුනිදාසයන්ගේ සාහිත්‍ය සේවාව අංශ කිහිපයකට විහිදෙයි. ළමයින් සඳහා රචිත ගද්‍ය හා පද්‍ය නිර්මාණ ඒ අතරින් ප්‍රමුඛ වෙයි. *හත්පණ, හීන්සැරය, මගුල්කෑම* එතුමන් විසින් ළමයින් සඳහා රචිත ප්‍රබන්ධ වන අතර කුමර ගී ආදි පද්‍ය කෘති ඒ ඒ වයස් මට්ටම අනුව ශ්‍රේණිගතව ඉදිරිපත් කර ඇත. පාසල් සිසුන් සඳහා එතුමන් විසින් සම්පාදිත *කියවන නුවණ* (හයවන ශ්‍රේණිය) කෘතියෙන් උපුටා ගත් කතාවක් මෙහි දැක්වේ.

ඒ කළුවර දවසෙකි. හිරු බැසැ සතර පැයකට වඩා ගෙවුණේ යැයි නො සිතමි. එදා මට බඩ පුරා කන්නට ආහාරයක් නො ලැබුණු හෙයින්, ළඟැ මැ ගම්මානයකට ගොස්, කුඹුරකට වැදී ගොයම් ටිකක් වත් කන්නට රෑ බෝ වන තෙක් බලා සිටියෙමි. නිකම් මැ සිටියේ නො වේ. වැඩි රසක් නැතත් අසලැ වූ ගසෙකැ අත්තක් මගේ සොඬට පැමිණියේ යැ. මම ඉන් කොළ ටික ටික වරින් වර කටට යැවුවෙමි.

දිග හූවක් ඇසෙන්නට වියැ. එ, මා පෙර ඒ තරම් අසා පුරුදු හිවල් හූව නො වේ. නො බැසැ මැ, නො නැඟැ මැ, එක් පමණට පැවැති තියුණු හඬෙකි. හිවල් හූව නඟී, බසී, නඟී, බසී. එබඳු නැඟීමෙක් බැසීමෙක් මේ හඬෙහි නුවූයේ යැ. මා යන්නට සිතා සිටි කුඹුර මගේ සිතින් ඈත් වියැ. කොළ අත්ත ද කටට මුත් සිතට නො වන්නේ යැ. දැන් සිත නටවන්නේ මේ අලුත් හඬ යි. නුපුරුදු හඬක් ඇසුණු විටැ පරීක්ෂාකාරී වීම අප කා ගේත් සිරිත නො? ඒ සිරිත වැඩි වේලාවක් පවත්වන්නට මට නො ලැබුණේ යැ. මගේ සොඬත් වලගත් මා නො දන්වා මැ, සැණින් දිසා මාරුවක් කෙළේ යැ. මා එක් වර මැ උඩ යන්නට වන් සැටියෙක් ද හැඟිණි. එවර ඇසුණු හූව එතරම් තියුණු යැ, එතරම් භයංකර යැ.

ඒ හූව මහ දරුණු සතකුගෙන් ආ බවට මට දැන් සැකයෙක් නැත්තේ යැ. පෙර කිසි කලෙකැ නුවූ වෙනසෙක් මගේ සිතට වදින්නට වියැ. භය මට එ තරම් පුරුදු නො වන බව ඔබ දනිති. එදා එක වරට මැ මගේ සිත එය වහ වහා පුරුදු කරන බව මට හැඟුණේ යැ. ඒ හැඟීම කෙබඳු දැයි මා සලකා

බැලූයේ එතැනට බොහෝ ඈත දී යැ. ඇයි? හූව එවූ සතා අහස පොළොව දෙදරවා ගෙනැ ආයේ, මට පෙනෙන්නට මැ වී යැ.

මගේ පාදයෝ මට වඩා හොඳ හපන්නු යැ. ඔහු මට කොතරම් හිතවත්තු ද යනු ඉඳුරා වැටැහුණේ එදිනැ යැ. වෙන දා මගේ සිත නො දන්වා එක ද පාදයෙක් නො සෙලැවුණේ යැ. පාදයෝ සිත දන්වන්නට තව මොහොතක් නැවැතුණාහු නම්, මේ පුවත ඔබට කියන්නට වත් මට අවසරයෙක් නො ලැබෙන්නේ යැ. අනේ, පාදයෙනි, තොපට පින් සිදු වේවා. තොප එදා මා වන මැදට ගෙනැ ගිය තරම් ඉක්මනට මට එය සිතීම ද නො හැකි යැ. එදා නම් තොපට පින් දෙන්නට ද මට සිහි මඳ වියැ. කමා කරවු.

වන මැදැ දී මම බියෙන් ගැසි ගැසී, මඳ කොටැ පසු පස බැලූයෙමි. භයානක යි! භයානක යි! ඒ සතා ඇදෙන්නේ පළමු මට පෙනුණු සැටියට නම්, එය මගේ මේ මහ හිසට කුඩා වෙතොත් මඳෙකි. ඒ ඇසින් මහත් ආලෝකයක් නික්මී, වන මැදැ ගව්වක් පමණ ඈතට විහිදී ගියේ යැ. ආලෝකය සුදු යැ. මට ඒ ඇස දකින්නට ලැබුණේ මොහොතෙකි. එතරම් වේගයෙන් සතා ඇදී ගියේ යැ. අහෝ, ඒ සතාගේ දිග මහත! මා වැනි අලි දහසක් එක් තැන් වී, හිසින් හිස දී සිටි දෙදෙනා බැගින් පන්සියයක් පෙළට සිටැ, එසේ සිටියවුන් පිටැ නැඟී ඉතිරි පන්සියය සිටිය හොත්, ඒ සතාගේ දිගට මහතට සරිලන අලි වැළක් වෙති යි සිතමි. මේ ගණන මා සිතා ගත්තේ පසු වැයැ. එ වේලේ නම් මට මගේ හිස් ගණන ද මතක නැති වියැ. ඔහුට පාද බොහෝ ගණනෙක් වූයේ යැ. හොඳ සිහියෙන් සිටි විටෙකැ වත් එය ගණන් කිරීම නො හැකි යැ. ගණන් කිරීම තබා, පා නැඟීම හෙළීම වත් කෙසේ කැරිණි ද යනු නො කියැ හැකි යැ. ගමන එතරම් වේගවත් යැ. එය එසේ වුව ද, ඒ සතාගේ ඉතා විශාල මුඛ මහත් ගණනක් බව ද සියල්ල එකට එක ළං වැ අංශයෙහි පිහිටි බව ද හොඳින් පෙනුණේ යැ. මා සිටියේ සතාගේ දක්ෂිණාංශයේ යැ. වාමාංශයෙහිත් මුඛ වී ද නො වී දැ යි නො දනිමි. පෙනුණු මුඛවලින් නම් ආලෝකයෙක් නිකුත් වූයේ යැ.

ඒ සතාගේ ගමන තමා ගමන! එතරම් දිග එතරම් මහත ශරීරයක් ඇදෙන කලැ අහස පොළොව දෙදැරීම පුදුමයෙක් නො වේ. පුදුමයට කාරණය නම්, දිවෙමින් මැ ඔහු ලන හතිය යි. එය ගව්වක් දුරට ඇසේ යැයි සිතමි. හති ලන කලැ මුඳුනින් මහ කළු වලාකුළු නික්මෙයි. හිස් මුඳුනෙහි නාසය වී ද, කටෙක් වී දැ යි නො දනිමි. කුමක් වූවත් එහි විවරය ඉතා මහත් වියැ යුතු යි. එයින් නිකුත් වනුයේ නිකම් මැ කළු වලාකුළු නො වේ. මැද තුරෙහි ඉතා මහත් ගණනක් දීප්තිමත් තාරකා ද වෙයි.

ඉතින් මේ සතා ගැනැ ඔබගේ හැඟීම කෙසේ ද? අපි, අලි මේ වනයේ අනාදි කාලයක් මුළුල්ලේ විසූමු. සත්‍ය වශයෙන් අපගේ හැඟීම වූයේ, මේ, අලිනට ඇරුණු වනයෙකැ කියා යැ. හැඟීම දැන් වෙනස් කරන්නට කාලය නො පැමිණියේ ද? ඒ සතාගේ ආහාරය කුමක් දැයි නො දනිමි. මස් බුදින්නෙක් නම් දිනකට අලින් පනසකුත් මඳ වෙති යි සිතමි. ගහ කොළ කන්නෙක් නම් මේ මහත් වනය සත් අට දිනකට වඩා නො සෑහේ. ඒ කුමක් කෙසේ වුව ද අපට ලැබූ දශාව භයංකර යැ. අප්‍රතික්‍රියාවස්ථාව කඳ මැදට මැ පැමිණෙන්නට පළමු වාසයට වෙන වනයක් සොයා ගැනීම නුවණට හුරු යැ මගේ කල්පනාව.

## අරුත් පැහැදිලි කිරීම

| | | |
|---|---|---|
| නො බැසැ ම | - | අඩු නොවී |
| නො නැඟැ ම | - | වැඩි නොවී |
| සිත නටවන්නේ | - | සිතවන්නේ, හිතෙන්නේ |
| දිසා මාරුවක් | - | පැති මාරුවක් |
| තියුණු | - | සියුම්, තීක්ෂණ |
| පරීක්ෂාකාරී වීම | - | විමසිලිමත් වීම |
| භයංකර | - | බියකරු, බිය ගෙන දෙන |
| පාදයෝ | - | කකුල්/පා |
| අලි වැළක් | - | අලි පේළියක් |
| මුඛ | - | කවුළු/ජනේල |
| මහත් ගණනක් | - | විශාල ප්‍රමාණයක්/වැඩි ගණනක් |
| දක්ෂිණාංශයේ | - | දකුණු පැත්තේ (දක්ෂිණ+අංශයේ) |
| වාමාංශයේ | - | වම් පැත්තේ (වාම+අංශයේ) |
| විවරය | - | සිදුර, විවෘත වූ කොටස |
| මැද'තුරෙහි | - | මැද හරියේ (මැද+අතුරෙහි) |
| අනාදි කාලයක් | - | ඉතා ඈත කාලයේ සිට |
| මස් බුදින්නෙක් | - | මස් කන්නෙක් |
| ලැබූ දශාව | - | ලැබූ කලදසාව |
| අප්‍රතික්‍රියාවස්ථාව | - | ප්‍රතිකර්මයක් කළ නො හැකි අවස්ථාව (අ+ප්‍රති+ක්‍රියා+අවස්ථාව) |
| කඳ මැදට | - | ඉතා සමීපයට (කට ළඟට ම) |

## අවබෝධය

1. අලියාට ඇසුණු හූවෙහිත්, හිවල් හූවෙහිත් වෙනස කුමක් ද?
2. අලියා වේගයෙන් දිවූ බව හැඟවෙන වාක්‍යය උපුටා දක්වන්න.
3. අලියා තමන් දුටු අමුතු සතාගේ විශාලත්වය ප්‍රකාශ කළේ කෙසේ ද?
4. මෙහි දැක්වෙන සතාගේ ආහාරය කුමක් විය හැකි යයි ඔබ සිතන්නේ ද?
5. අලියා දුටු අමුතු සතාගේ බාහිර ලක්ෂණ සරලව පැහැදිලි කරන්න.

## ලිඛිත අභ්‍යාස

1. **අර්ථය සෘජුව ම නො කියා වක්‍රව කියැවෙන වැකි කීපයක් පහත දැක්වේ. ඒවායේ සෘජු අදහස ලියා දක්වන්න.**
   i. 'අසලැ වූ ගසෙකැ අත්තක් මාගේ සොඬට පැමිණියේ යැ'
   ii. 'කොළ අත්ත ද කටට මුත් සිතට නො වන්නේ යැ'
   iii. 'මාගේ සොඬත්, වලගත් මා නොදන්වා මැ සැණින් දිසා මාරුවක් කළේ යැ'
   iv. 'මේ පුවත ඔබට කියන්නටවත් මට අවසරයක් නො ලැබෙන්නේ යැ'
   v. 'හති ලන කලැ මුඳුනින් මහ කළු වලාකුළු නික්මෙයි'

2. **මෙම කතාව රචනා කර ඇති භාෂාවෙහි දක්නට ලැබෙන විශේෂතා දෙකක් ලියන්න.**

## ප්‍රායෝගික අභ්‍යාස

1. **මෙම කතාව නිවැරදිව උච්චාරණය කරමින් හඬ නඟා කියවන්න.**
2. **කුමාරතුංග මුනිදාස මහත්මාගේ වෙනත් ළමා සාහිත්‍ය කෘති සොයා කියවන්න.**
3. **ඊළඟ පිටුවේ දැක්වෙන්නේ 'සකස්කඩ' නම් පැරණි පොතෙන් උපුටා ගත් කොටසකි. එය නිවැරදි උච්චාරණයෙන් යුතුව ශබ්ද නඟා කියවන්න.**

# සකස්කඩ

නමඃ ශ්‍රී ඝණාය

දීපඞ්කරාහ්වය මුනීශ්වර පාදමූලේ
සන්ත්‍යජ්‍ය ලබ්ධමමෘතං කරුණාං විධාය
අත්‍යාහිතං පරිහිතං සුකෘතං විශේෂාත්
සිද්ධං නමෝස්තු සුගතාය ජගද්ධිතාය.

අප තථාගතයන් සංසිද්ධාශේෂ සම්භාර විශේෂ සාක්ෂාත්කරණීය සර්වපාපමලප්‍රක්ෂාලනක්ෂම ආත්ම මෝක්ෂ නිරපේක්ෂ වැ, උදයව්‍යය භඞ්ග භයාදීනවාදි නවමහා විදර්ශනඥාන පරම්පරාධිගත නිර්වාණ මහා සසරට පරිධාවමාන සමස්ත සත්ත්ව මාතඞ්ගයා මහා කරුණාඞ්කුශයෙන් හම්න වැ, ජාති ජරා භඞ්ග භඞ්ගීභඞ්ග භයානක රාගද්වේෂාමර්ශ මදමාන සාරම්භාදික්ලේශ මකර නිකරාකීර්ණ සංසාර මහාර්ණවාවතීර්ණ ද්වාෂෂ්ටි දෘෂ්ටිජාලාවබද්ධ, සර්වසත්ත්ව සමුද්ධරණානුබද්ධ බුද්ධි ඇති වැ

කායජීවිත නිරපේක්ෂාභිජාත නිර්භරාභ්‍යාහිත සර්වලෝකෛකදීපායමාන දීපඞ්කර තථාගත ව්‍යාකරණාභිෂේකයෙන් උදීර්ණක්ලේශමලාපගම කොටැ නිර්මල වැ අනේක මුක්තිමුක්තානුයාත සම්‍යක් සම්බෝධි සම්භාර භාරාලඞ්කාරයෙන් සමලඞ්කෘත වැ-ශශ්ව-දුපාස්‍යමාන පාරමිතා දූතිකානුනීයමාන ධර්ම රාජ්‍ය ලක්ෂ්මී සඞ්ගම ගමන මඞ්ගලයට ආරම්භ කොටැ...

## විශේෂණ පද

පාඩමේ සඳහන් පහත දක්වා ඇති පද ගැන ඔබේ අවධානය යොමු කරන්න.

කළුවර දවසකි
දිග හූවක්

මෙහි **දවසකි, හූවක්** යනු නාම පදයි. මෙම නාම පද විස්තර කිරීම සඳහා කළුවර, දිග යන පද යොදා ගෙන ඇත. කිසියම් පදයක් විස්තර කෙරෙමින් ඊට ඉදිරියෙන් යෙදෙන පද විශේෂණ නමින් හැඳින්වේ. ඒ අනුව **කළුවර, දිග** යන පද විශේෂණ පදයි. පහත සඳහන් පද ද විමසන්න.

උස ළමයා
ලොකු පොත
දිග මේසය

### ලිඛිත අභ්‍යාස

1. **විශේෂණ පද සහිතව ලියා ඇති නාම පද පහක් පාඩමෙන් උපුටා ලියන්න. විශේෂණ පදය යටින් ඉරක් අඳින්න.**
2. **පහත සඳහන් විශේෂණ පද, එක් පදයක් නාම පද දෙකක් සමග වන ආකාරයට යොදා වචන දහයක් සකස් කර ලියන්න.**

   i. සුදු　　ii. කුඩා
   iii. උස　　iv. සිනිඳු
   v. දීර්ඝ
3. **ඉහත අභ්‍යාසයේ දී සකස් කළ විශේෂණ සහිත නාම පද යොදා වාක්‍ය නිර්මාණය කරන්න.**

# 8 නලපාන ජාතකය

**පන්සියපනස් ජාතක පොත ලියැවුණේ කුරුණෑගල රාජධානි සමයේ දී ය. එය බුදුන් වහන්සේගේ පූර්ව ජන්ම පිළිබඳ කතා පුවත් සමූහයක් ලෙස සැලකේ. එයට මුල් වූ කතා ලියැවී ඇත්තේ පාලි භාෂාවෙනි. ජාතක පොතෙහි ඇතුළත් කතා සංඛ්‍යාව 547ක් වුව ද ආසන්න ම දහයේ ගුණාකාරය සලකා එය 550ක් සේ පිළිගන්නා බව ග්‍රන්ථ නාමයෙන් පෙනෙයි. ජාතක කතාවලට අනුව බෝසත්තුමා ලේන, මුව, ආදි සත්ත්ව කුලවල ද උපත ලබා ඇත. මෙම පාඩමේ එන නලපාන ජාතකයේ දී බෝසත්තුමා වඳුරු රජකු ලෙස දැක්වේ. සිය වානර සමූහයාගේ ජීවිත දිය රකුසකුගෙන් බේරා ගැනීමට එම වඳුරු රජතුමා ප්‍රඥාවන්තව කටයුතු කළ ආකාරය මෙම කතාවට පාදක වී ඇත.**

තව ද එක් සමයෙක්හි දෙව් බඹුන් මුදුනෙහි කෙළනා පා පියුම් ඇති ලෝකස්වාමි වූ සර්වඥයන් වහන්සේ කොසොල් දනව්වෙහි සැරිසරා ඇවිදිනා සේක් නලපාන නම් ගමට පැමිණ නලපාන පොකුණ සමීපයෙහි වූ වැටකේ වනයෙහි වසන සේක් බට දඬු අරභයා මේ ජාතකය වදාළ සේක.

එසමයෙහි භික්ෂූන් වහන්සේ නලපාන නම් පොකුණෙන් පැන් සනහා ඉඳිකටු කුළා නිසා සාමණේරයන් වහන්සේ ලවා බට දඬු කප්පවා ගෙන්වා ගෙන ඒ සියලු බට දඬු ගැට නැතිව ඒකච්ඡිද්‍රව දිගට ම සිදුරු නියාව දැක බුදුන් කරා ගොස් "ස්වාමිනී, අපි ඉඳිකටු කුළා නිසා බට දඬු ගෙන්වූම්හ. ඒ බට දඬු මුල පටන් අග දක්වා දිගට ම සිදුරු ය. මේ කිමෙක්දැ"යි විචාළෝ ය. සර්වඥයන් වහන්සේ එබස් අසා "මහණෙනි, මේ මාගේ පුරාතනයෙහි අධිෂ්ඨානයෙකැ" යි වදාරා ඉකුත් වත් දක්වා වදාළ සේක.

යට ගිය දවස එවන ළැහැබ වල් වූයේ ය. එපොකුණෙහි එක් දිය රකුසෙක් පොකුණට බට මිනිසුන් කන්නේ ය. එසමයෙහි බෝධිසත්ත්වයෝත් තිත් මුවකු සා මහතැති වඳුරු රජව අසූ දහසක් පමණ වඳුරන් විසින් පිරිවරන ලදුව වඳුරු මුළ පරිහරණය කෙරෙමින් ඒ වනයෙහි වසන්නාහු ය. ඒ මහ බෝසතාණෝ වානර සමූහයාට අවවාද දෙන්නාහු "දරුවෙනි, මේ වනයෙහි විෂ වෘක්ෂයෝත් අමනුෂ්‍යාධිගෘහීත වූ පුෂ්කරණීහුත් වෙති. එසේ හෙයින් තොපි හැම නො කෑ විරූ ඵලාඵලයෙක් කතොත් වේවයි නුපු විරූ පැනක් බොතොත් වේවයි මා විචාරා ම කව බොව"යි විධාන කළෝ ය. ඒ

වානරයෝත් එබස් "යහපතැ"යි පිළිගෙන එක් දවසක් පෙර නො ගිය විරූ තැනකට ගොස් එතැන්හි දහවල් දෙවරු ඇවිද පැන් සොයන්නාහු, එක් පොකුණක් දැක පැන් නො බී ම බෝධිසත්වයන්ගේ ඊම බලා උන්නාහු ය. එකල්හි බෝධිසත්වයෝ අවුත් "කිමෙක් ද? දරුවෙනි, පැන් නො බොව් දැ"යි කිවූ ය. වානරයෝ කියන්නාහු "නුඹ වහන්සේ එන තෙක් බලා උනුම්හ"යි කිවූ ය. බෝධිසත්වයෝ "දරුවෙනි, තොප කළ දේ යහපතැ"යි කියා පොකුණ සිසාරා ඇවිද පියවර පරීක්ෂා කරන්නාහු දියට බට පියවර ම දැක දියෙහි ගොඩ නැගි පියවරක් නොදැක "ඒකාන්තයෙන් මේ අමනුෂ්‍ය පරිගෘහීත වූ පොකුණක් වුව මැනව"යි දැන පැන් නො බී උන්නා වූ තොප විසින් කළ දෑ ඉතා යහපත් වන්නේ ය. "මේ අමනුෂ්‍යාධිගෘහීත පොකුණෙකැ"යි කිවූ ය.

උදක රාක්ෂසයා ද ඒ වඳුරන් දියට නො බස්නාවුන් දැක නිල් වූ බඩ හා ධවල වූ මුඛ ඇතිව රත් වූ අතුල් තල, පතුල් තල ඇතිව භයංකර වේශයෙන් දිය දෙබෑ කොට නික්ම "කුමක් නිසා උනු ද? පොකුණට බැස පැන් බොව"යි කීය. එකල මහ බෝසතාණෝ ඕ හට කියන්නෝ "මේ පොකුණෙහි උපන් උදක රාක්ෂසයා නම් තෝ දැ"යි විචාළෝ ය. "එසේ ය මම ය" කී කල්හි "පොකුණට බටුවන් කන්ට ලැබෙන්නේ දැ"යි කිවූ ය. "එසේ ය ලබමි, මම මීට බට යටත් පිරිසෙයින් පක්ෂීන් පටන් කිසි කෙනෙකුන් නො හරිමි. තොප හැම දෙනාත් කන්නෙමි වේ දැ"යි දිය රකුසු කී ය. එබස් ඇසූ බෝධිසත්වයෝ "අපි තොප විසින් අප හැම දෙනා කෑ නො දෙම්හ"යි කිවූ ය. "එසේ කල පැනුත් බොන්නෙව් දැ"යි දිය රකුසු කී ය. "එසේ ය පැනුත් බොම්හ. තොප වසඟයටත් නො පැමිණෙම්හ"යි කිවූ ය. "එසේ කල කෙසේ පැන් බොව් දැ"යි උදක රාක්ෂසයා කී කල්හි "කිමෙක් ද? තෝ බැස පැන් බොති යි සිතන්නෙහි දැ"යි බෝධිසත්වයෝ කියා "අපි හැම අසූ දහසක් පමණ වඳුරෝ පොකුණට නො බැස ම එකී එකී බට දණ්ඩක් ගෙන ඇඹුල් දණ්ඩෙන් පැන් බොන්නවුන් මෙන් තාගේ පොකුණෙන් පැන් බොම්හ. එසේ කල්හි තොපි අප හැම දෙනා කන්ට අසමත් වන්නෙහි වේ දැ"යි කිවූ ය. මෙසේ කියා මහ බෝසතාණෝ එක් බට දණ්ඩක් ගෙන්වා හැර ගෙන පාරමී ධර්මයන් ආවර්ජනා කෙරෙමින් සත්‍යක්‍රියා කොට මුඛයෙන් පිඹපූහ. බට දණ්ඩ ඇතුළෙන් කිසි ම ගැටයක් නැතිව මුල සිට අග දක්වා හැම තැන සිදුරු විය. මෙම ක්‍රමයෙන් අනිකුත් බට දඬු ගෙන්වා පිඹ දුන්නේ ය. තව ද මෙසේ කල්හි පිඹ නිම වන්නට නො පිළිවන්ය යි කියා බෝධිසත්වයෝ මේ පොකුණ වට කොට හට ගත් සියලු බට දඬු ඒකච්ඡිද්‍ර වේව"ය කියා අධිෂ්ඨාන කළෝ ය.

බෝධිසත්වවරයන්ගේ කුසල් මහත් බැවින් සිතූ දෙය සමෘද්ධ වන්නේ ය. එසේ හෙයින් එතැන් පටන් ඒ පොකුණ වට කොට සියලු ම බට දඬු ඒකච්ඡිද්‍ර

විය. ඒකරන්ධ්‍ර විය. මේ කල්පයෙහි කල්පස්ථායික වූ ප්‍රාතිහාර්ය සතරෙක් වන්නේ ය. ඒ සතර කවරේ ද? යත්, චන්ද්‍රයාගේ ශශ ලාඤ්ඡනය මේ කල්පය මුළුල්ලෙහි ගින්නෙන් නො දවන්නේ ය. වට්ටක ජාතකයෙහි ගිනි නිවී ගිය තැන් මේ කප මුළුල්ලෙහි ගින්නෙන් නො දවන්නේ ය. ඝටීකාර නම් කුම්භකාරයාගේ ගෙය පිහිටි තැන් සියලු මේ කප නො තෙමී තිබෙන්නේ ය. මේ පොකුණ පිරිවරා සිටි සියලු බට දඬු මේ කප මුළුල්ලෙහි ඒකරන්ධ්‍ර ව තිබෙන්නේ යයි මෙසේ කල්පස්ථායී වූ ප්‍රාතිහාර්ය සතරෙක් වන්නේ ය. බෝධිසත්වයෝ මෙසේ අධිෂ්ඨාන කොට එක බට දණ්ඩක් ගෙන උන්නාහු ය. ඒ අසූදහසක් පමණ වානරයෝත් එකි එකී බට දණ්ඩක් ගෙන පොකුණ පිරිවරා උන්නාහු ය. ඔහු හැම දෙනාත් බෝධිසත්වයන් බට දණ්ඩෙන් උරා පැන් බොන්නට පටන් ගත් කල්හි හැම දෙන ම ගොඩ හිඳ බට දණ්ඩෙන් උරා පැන් පූවාහු ය. මෙසේ ඔවුන් හැම දෙනා පැන් පූ කල්හි උදක රාක්ෂසයා කිසිවක් නො ලැබ නො සතුටු වූ සිත් ඇතිව තමා වසන්නා වූ ස්ථානයට ම ගියේය. බෝධිසත්වයෝත් සහපිරිවරින් වලට ම වන්නාහුය. ශාස්තෘ වූ සම්‍යක් සම්බුදුරජාණන් වහන්සේ “මහණෙනි, මේ බට දඬු සිදුරු වීම මාගේ ම පුරාතන අධිෂ්ඨානයෙකැ”යි මේ ධර්ම දේශනාව ගෙන හැර දක්වා වදාරා පූර්වාපර සන්ධි ගළපා මේ නලපාන ජාතකය නිමවා වදාළ සේක.

## අරුත් පැහැදිලි කිරීම

| | | |
|---|---|---|
| අතුල් තල | - | අල්ල |
| අමනුෂ්‍යාධිගෘහීත | - | අමනුෂ්‍යයන් අරක් ගත් |
| ආවර්ජනා කෙරෙමින් | - | මෙනෙහි කරමින් |
| ඇඹුල් | - | සුදු මහනෙල් |
| ඉඳිකටු කුළා | - | ඉඳිකටු දමන කොපුව |
| උදක රාක්ෂසයා | - | දිය රකුසා |
| ඒකච්ඡිද්‍ර | - | එක් සිදුරක් ඇති |
| ඒකරන්ධ්‍ර | - | එක් සිදුරක් ඇති |
| ඒකාන්තයෙන් | - | නිසැකයෙන්, නිශ්චිතව |
| කල්පස්ථායික | - | කල්පයක් පවතින |
| කෙළෙනා | - | ක්‍රීඩා කරන්නා වූ |
| දණ්ඩෙන් | - | (මල්) නටුවෙන් |
| දනව්ව | - | රාජ්‍යයක ජනාවාස වූ විශාල ප්‍රදේශය |
| ධවල | - | සුදු |

| | | |
|---|---|---|
| නියාව | - | බව |
| නිසා | - | පිණිස |
| නො කෑ විරූ | - | පෙර නො කන ලද |
| නො ගිය විරූ | - | පෙර නො යන ලද |
| නුපූ විරූ | - | පෙර නො බොන ලද |
| පරිගෘහීත | - | අරක් ගත් |
| පාපියුම් | - | පාද නමැති නෙලුම් මල් |
| පිරිවරා | - | වටා රැස් වී |
| පුෂ්කරණීහු | - | පොකුණු |
| පූර්වාපර සන්ධි ගළපා | - | කතාවක ආරම්භයේ සහ අවසානයේ සම්බන්ධය ගෙන හැර දක්වා |
| ප්‍රාතිහාර්ය | - | හාස්කම/මනුෂ්‍යත්වය ඉක්මවූ පුදුම සහගත සිදුවීම |
| ඵලාඵලයෙක් | - | ලොකු කුඩා ගෙඩි වර්ග |
| (පොකුණට) බට | - | (පොකුණට) බැස්සා වූ |
| බටුවන් | - | බැස්ස අය |
| බඹුන් | - | බ්‍රහ්මයන් |
| බෝසතාණන් | - | බුද්ධත්වය පිණිස පෙරුම් පුරන්නන් |
| මුවකු සා | - | මුවකු තරම් |
| යටත් පිරිසෙයින් | - | අඩු ම වශයෙන් |
| ලෝකස්වාමී | - | ලොවට නායක වූ; එනම් බුදුරජාණන් වහන්සේ |
| වඳුරු මුළ | - | වඳුරු රංචුව |
| වලට | - | කැලෑවට |
| වල් වූයේ ය | - | කැලෑවක් බවට පත් විය |
| වසඟයට | - | යටතට |
| සත්‍ය ක්‍රියා | - | තමාගේ සත්‍ය වූ ගුණයක් සලකා එම සත්‍යයේ බලයෙන් තමාගේ අදහස ඉටුවේවා යි කරන අධිෂ්ඨානය |
| සමෘද්ධ වන්නේ ය | - | සාර්ථක වන්නේ ය, සඵල වන්නේ ය |

| | | |
|---|---|---|
| සර්වඥ | - | ලොව සියල්ල දත් උත්තමයා; එනම් බුදුරජාණන් වහන්සේ |
| සහපිරිවරින් | - | පිරිවර සහිතව |
| සිසාරා | - | වටයක් ගමන් කර |
| ශශ ලාඤ්ඡනය | - | හාවාගේ සලකුණ |
| වනය | - | කැලය |

## අවබෝධය

**පාඩම කියවා පහත සඳහන් ප්‍රශ්නවලට පිළිතුරු ලියන්න.**

1. වඳුරු රංචුව ඔවුන්ට හමු වූ පොකුණෙන් පැන් නො බිව්වේ ඇයි?
2. වඳුරු නායකයාගේ පරීක්ෂාවට අනුව ඒ පොකුණ කෙබඳු පොකුණක් ද?
3. උදක රාක්ෂසයාගේ ස්වරූපය ලියන්න.
4. වඳුරු පිරිස පොකුණට නො බැස පැන් බිව්වේ කෙසේ ද?
5. වඳුරන් පොකුණට නො බැසීම නිසා උදක රාක්ෂසයා කළේ කුමක් ද?
6. නලපාන ජාතක කතාවෙන් ගත හැකි ආදර්ශය කුමක් ද?

## ලිඛිත අභ්‍යාස

1. **සුදුසු පිළිතුරු යොදා හිස්තැන් පුරවන්න.**

   i. බුදුරජාණන් වහන්සේ නලපාන ගමට වැඩම කර නලපාන පොකුණ සමීපයෙහි වූ ............................ වාසය කරන අවස්ථාවේ .................. අරහයා නලපාන ජාතකය දේශනා කළහ.

   ii. භික්ෂූන් වහන්සේ නලපාන නම් පොකුණෙන් පැන් සනහා ............. ................. සඳහා ................................ ලවා බට දඬු කප්පවා ගෙන්වා ගත්හ.

   iii. ඒ කාලයෙහි බෝධිසත්ත්වයෝ තිත් මුවකු තරම් මහත ඇති වඳුරු රජකුව ................... පමණ වඳුරන් පිරිවරා ගෙන වාසය කළෝ ය.

   iv. මහ බෝසතාණෝ එක් බට දණ්ඩක් ගෙන්වා ගෙන ....................... ආවර්ජනා කරමින් ............................ කොට මුඛයෙන් පිඹීම නිසා සියලු බට දඬු ...................... විය.

2. පහත සඳහන් ප්‍රකාශ කා විසින්, කා හට, කියන ලද දැයි ලියන්න.

i. "මහණෙනි, මේ මාගේ පුරාතනයෙහි අධිෂ්ඨානයකැ"
ii. "කිමෙක් ද දරුවෙනි, පැන් නො බොව් ද?"
iii. "එසේ ය, පැනුත් බොම්හ. තොප වසඟයටත් නො පැමිණෙම්හ"

3. පහත සඳහන් ප්‍රකාශ ඔබේ වචනයෙන් ලියන්න.

i. "ස්වාමීනී, අපි ඉදිකටු කුළා නිසා බට දඬු ගෙන්වූම්හ"
ii. "දරුවෙනි, මේ වනයෙහි විෂ වෘක්ෂයෝත් අමනුෂ්‍යාධිගෘහීත වූ පුෂ්කරණිහුත් වෙත්..."
iii. "ඒකාන්තයෙන් මේ අමනුෂ්‍ය පරිගෘහීත වූ පොකුණක් වුව මැනව"
iv. "බෝධිසත්ත්වවරයන්ගේ කුසල් මහත් බැවින් සිතූ දෙය සමෘද්ධ වන්නේ ය.
v. "මේ කල්පයෙහි කල්පස්ථායී වූ ප්‍රාතිහාර්ය සතරෙක් වන්නේ ය."

## ප්‍රායෝගික අභ්‍යාස

1. මෙම පාඩම නිවැරදි උච්චාරණය සහිතව ශ්‍රැති ගෝචර ශෛලියෙන් පන්තිය ඉදිරියේ හඬ නගා කියවන්න.
2 පහත සඳහන් වන්නේ 'නරිබෑනා' නාට්‍යයෙන් උපුටා ගත් කොටසකි. එය නාට්‍යානුසාරයෙන් කියවන්න.

**(නරි ගෙදර ගම දුව හඬමින් සිටී. නරියා ඇය සනසන්න වෑයම් කරයි.)**

**නරියා:** දැන් ඉතින් ඔහොම කනගාටුවෙන් ඉන්න එපා. මොකක් ද ඉතින් කනගාටුවෙන් ඉන්න තියෙන හේතුව. සත්තු උණාට අපිත් දන්නව දීග කන හැටි. (ගම දුව වැලපෙන සැටි බලා) ඉතින් ඕකට ඔය හැටි කෑගහන්න ඕනැ යැ. අදනෙ අම්මල එන දවස. දුවගෙ දෑවැද්දත් අරං එනව කිව්වෙ.

**(මේ අතර නෑගං පැමිණි අය පිටත සිට)**

නරි බෑනෝ මේ අහන්න
දෑවැද්දත් අරං මෙන්න
අපි ආවා දූ බලන්න
ගෙට එන්නට දොර අරින්න

**(දෙමවුපියන් පැමිණ හඬ ගාන ශබ්දය ඇසුණ නරියා ප්‍රීතියෙන් ඒ බව ගම දුවට පවසයි.)**

නරියා: ඉතිං සැනසෙන්න
හොඳින් පුළුවන් නෙ
දෙමවුපියො දෙන්න
ඇවිත් අර ඉන්නෙ
මෙතෙක් උඩ පැන්නෙ
ගමින් එනකන් නෙ
හුඟක් දැවැද්ද
ගෙනත් ඇති වෙන්නැ
ගොඩක් බඩු මුට්ටු
ගෙනත් ඇති වෙන්නැ
හොඳින් කලරින්න
ඉතින් පුළුවන් නෙ

ගම දුව: (කලබල වී හිස ඔසවා)
මොකක් ද කිව්වෙ?
ගමිං ඇවිදිල්ල!

නරියා: ගමිං ඇවිදිල්ල
ගමිං ඇවිදිල්ල
කැවුම් කෙහෙලුත් බො
අරං ඇවිදිල්ල
ඉතිං නැගිටින්න
දෙ ඇස් පිහගන්න
හොඳින් හැරහෙන්න
ගිහිං දොරරින්න
දෙමවුපියො දෙන්න
හොඳින් පිළිගන්න

**(ගම දුව විගස නැගිට ලකලැහැස්ති වී ගොස් දොර අරියි. ගමරාල, ගම මහගෙ සහ කපුරාල ඇතුළු වෙති. ගමරාලගේ හිස මත කැවුම් පෙට්ටියක් වෙයි.)**

නරියා: බලං අපි උන්නෙ
එහෙං එනකන් නෙ
මෙහෙං ඉඳ ගන්න
මෙහෙං ඉඳගන්න
(සියල්ලෝ ම වාඩි වෙති)
(ගම දුවට)

බුලත් විට කන්න
ගිහින් ගෙන එන්න
(ගම දූව පිට වෙයි)

**නරි බෑනා:** (ගම මහගෙට)
වැඩක් කර ගන්න
උදව්වට ගන්න
කෙනෙක් අරගන්න
තමයි මම ඉන්නෙ

**(ගම දූව ගෙනා ඉලත්තට්ටුව ගම මහගෙට පිළිගන්වමින්)**

බුලත් හැපියැක් ද
කොටන්ඩ ද නැන්දෙ

**ගම මහගෙ:** කමක් නැහැ බෑනො
හපන්නට හැක්කි

**(ගම මහගෙ ඉලත්තට්ටුව ගනියි. නරියා ගමරාල වෙත යයි.)**

**නරියා:** සුරුට්ටු ද බොන්නෙ
බුලත් ම ද කන්නෙ

**ගමරාල:** හෙනං ගෙන එන්න
සුරුට්ටුව බොන්න

**(නරියා ගම මහගෙගෙන් ඉලත්තට්ටුව ගෙන එය කපුරාලට පිළිගන්වයි. කපුරාල දාඩිය පිඹියි.)**

**නරියා:** පයිං ඇවිදිල්ල
මහන්සි ද මන්ද

**කපුරාල:** ගොඩින් පැන ගත්ත
හුඟක් ළඟ හින්ද

**නරියා:** (සුරුට්ටුව ගෙන ඒමට පිටත් වී නැවත හැරී)
මෙහෙත් හරි වැස්ස
එහෙත් හෙම වෙන්නැ

**සියල්ල:** අපොයි හරි වැස්ස
වෙලත් උතුරන්න

**(නරියා සුරුට්ටුවක් ගෙනවිත් ගමරාලට දෙයි.)**

## මහාප්‍රාණ අක්ෂර

පහත සඳහන් වචන නිවැරදිව උච්චාරණය කරන්න.

| (අ) | | (ආ) | |
|---|---|---|---|
| ක | කතරගම | ඛ | සංඛ |
| ග | ගංගාව | ඝ | සංඝයා |
| ච | චරිතය | ඡ | ඡන්දය |
| ජ | ජනතාව | ඣ | ඣාන |
| ට | ටකරම | ඨ | පීඨය |
| ඩ | කඩය | ඪ | ආරූඪ |
| ත | තරගය | ථ | ස්ථාන |
| ද | දුහවල් | ධ | ධර්මය |
| ප | පහන | ඵ | ප්‍රතිඵලය |
| බ | බදුල්ල | භ | භයානක |

'අ' තීරයේ ඇති වචනවල යටින් ඉරි ඇඳි අකුරු උච්චාරණයේ දී සහ 'ආ' තීරයේ ඇති වචනවල යටින් ඉරි ඇඳි අකුරු උච්චාරණයේ දී යම් වෙනසක් හඳුනා ගත හැකි දැයි බලන්න.

'අ' තීරයේ අකුරු උච්චාරණය කරනවාට වඩා වැඩි හඬකින් 'ආ' තීරයේ අකුරු උච්චාරණය කෙරෙන බව අවබෝධ කර ගත හැකි ය. එසේ වඩා වැඩි හඬකින් උච්චාරණය කෙරෙන අකුරු 'මහාප්‍රාණ අකුරු' ලෙසත් මහාප්‍රාණ අකුරු ශබ්ද කෙරෙනවාට වඩා අඩු හඬින් ශබ්ද කෙරෙන අකුරු 'අල්පප්‍රාණ අකුරු' ලෙසත් හැඳින්වේ.

## ලිඛිත අභ්‍යාස

1. පාඩමේ සඳහන් වන මහාප්‍රාණ අකුරු සහිත වචන සියල්ල ලැයිස්තුගත කරන්න.
2. සුදුසු අක්ෂර යොදා හිස්තැන් පුරවන්න.

| | |
|---|---|
| සං.......ව (කාය/ඛාය) | .....ත්තාරාමය (කෙ/ඛෙ) |
| .......නකය (ග/ඝ) | උද්යෝ.....ය (ග/ඝ) |
| .......යා රූපය (චා/ඡා) | පරිච්.......දය (චේ/ඡේ) |
| වජ්...... පුත්තක (ජි/ඣි) | ගිජ්.....කූඨ (ජ/ඣ) |
| ගූ...... (ඩ/ඪ) | කූ.....ය (ඩ/ඪ) |
| ස්......වර (තා/ථා) | ප්‍ර.....පත්තිය (ති/ථි) |
| අවබෝ.....ය (ද/ධ) | .....ක්ෂිණ (ද/ධ) |
| පුෂ්.....ය (ප/ඵ) | වර්ග.....ලය (ප/ඵ) |

## සඤ්ඤක අක්ෂර

පහත සඳහන් වචන නිවැරදිව උච්චාරණය කරන්න.

| (අ) | | | (ආ) | |
|---|---|---|---|---|
| ග | අග | - | ඟ | අඟ |
| ඩ | අඩ | - | ඬ | අඬ |
| ද | අද | - | ඳ | අඳ |
| බ | අබ | - | ඹ | අඹ |

'අ' තීරයේ වචනවල යටින් ඉරි ඇඳි අකුරු උච්චාරණයේ දී සහ 'ආ' තීරයේ ඇති වචනවල යටින් ඉරි ඇඳි අකුරු උච්චාරණයේ දී යම් වෙනසක් හඳුනා ගත හැකි දැයි බලන්න.

සිංහල ලේඛනයේ හමු වන ඟ ඦ ඬ ඳ ඹ යන අකුරු පහ සඤ්ඤක අකුරු වෙයි.

## ප්‍රායෝගික අභ්‍යාස

1. පාඩමෙහි සඳහන් වන සඤ්ඤක අක්ෂර සහිත වචන පහ බැගින් සොයා අභ්‍යාස පොතේ ලියන්න.
2. ඟ, ඬ, ඳ, ඹ යන සඤ්ඤක අක්ෂරවලට විවිධ පිල්ලම් එකතු වී සැදෙන වචන දෙක බැගින් සොයා අභ්‍යාස පොතේ ලියන්න.

## න, ණ, ල, ළ භාවිතය

න ණ

ල ළ

උච්චාරණයේ දී මේ අක්ෂර සමාන හඬින් ශබ්ද වුවත් ලිවීමේ දී අදාළ අකුර නියමිත ස්ථානයේ නො යෙදුණහොත් අර්ථය වෙනස් විය හැකි ය. නිවැරදි අකුර සම්මතය අනුව ලිවීම පිළිගත් ලේඛන රීතිය යි.

උදාහරණ:-

(I) කුඩුවේ සිර වී, <u>සරණක්</u> නැතිව සිටි කුරුල්ලා අහසේ <u>සරන</u> කුරුල්ලකු දෙස බලා දුක් වනු ඇතැයි ළමයාට සිතිණි.

මෙම උදාහරණයේ පළමුව යෙදෙන ''සරණක්'' යන්න ''පිහිටක්'' යන අර්ථයෙන් ද දෙවන ''සරන'' යන්න ''හැසිරෙන'' යන අර්ථයෙන් ද යෙදී ඇත.

(II) <u>පැලට</u> ගිය ගොවියා ගොයම් <u>පැළ</u> පීදී තිබෙනු දැක සතුටු විය.

මෙහි ''පැලට'' යන වචනය තාවකාලිකව සෑදූ කුඩා මඩුව යන අර්ථයෙන් යෙදෙන අතර දෙවනුව යෙදෙන ''පැළ'' යන්න කුඩා ගස් යන අර්ථයෙන් ද යෙදේ.

## ලිඛිත අභ්‍යාස

1. **පහත සඳහන් වචන යුගල යොදා අර්ථවත් වාක්‍ය නිර්මාණය කරන්න.**

| | | | | | |
|---|---|---|---|---|---|
| i. | කල - | කළ | iv. | වනය - | වණය |
| ii. | නුවන - | නුවණ | v. | උරන - | උරණ |
| iii. | පැල - | පැළ | | | |

2. **පාඩමේ සඳහන් මූර්ධජ අක්ෂර සහිත වචන තෝරා අර්ථවත් වාක්‍යය බැගින් නිර්මාණය කරන්න.**

3. **සුදුසු අක්ෂරය යොදා හිස්තැන් පුරවන්න.**

| | | | |
|---|---|---|---|
| බස්නැවතුම් පො...... | (ල, ළ) | මැ......යෝ | (නි, ණි) |
| එ......නවා | (ල, ළ) | වේ......නවා | (ල, ළ) |
| පරීක්ෂ.......ය | (න, ණ) | බ.......නවා | (නි, ණි) |
| මහ....... නිවාසය | (ලු, එ) | වදා...... | (ල, ළ) |

4. **'ණ' අකුරෙන් අවසාන වන වචන පහක් සොයා ලියන්න.**
5. **'ළ' අකුරෙන් ආරම්භ වන වචන පහක් සොයා ලියන්න.**

# 9 ක්‍රියා පද හා එහි ප්‍රභේද

**භාෂාව මාර්ගයෙන් අදහස් ප්‍රකාශ කරනුයේ අරුත් සහිත ඒකක වන පද මාර්ගයෙනි. කතාවෙහි දී අරුත් පළ කෙරෙනුයේ ශබ්දවලින් සැදුණු පද භාවිතයෙනි. එම පද ලේඛනයෙහි ලා අක්ෂරවලින් ලියා දැක්වෙයි. සිංහලයෙහි පද වර්ග තුනකි. නාම පද, ක්‍රියා පද හා නිපාත යනු ඒ වර්ග තුන යි. වාක්‍යයක් සකස් වන්නේ මේ වර්ග තුනට අයත් පද නිසි පිළිවෙළට පෙළ ගැසුණු විට ය. මේ පාඩම සිංහලයේ ක්‍රියා පද හා එහි ප්‍රභේද පිළිබඳව ලියවුණකි. වචන භේදය, කාල භේදය, පුරුෂ භේදය හා ලිංග භේදය පදනම් කොට ගනිමින් ක්‍රියා පද වර්ගීකරණය මෙහි දැක්වේ.**

දිවයිනේ අනික් පැත්තේ වාසයට යාමට කටයුතු ආරම්භ කළ යුතු ය යි බෝට්ටුව අලුත්වැඩියා කිරීම අවසන් කළ වහා ම රණරාල යෝජනා කෙළේ ය. මුහුදෙන් බඩු ගොඩ ඇදීම ඒ කටයුතු නිසා නතර කිරීමට සිදු විය. කැඩුණු නැවින් මුහුදට වැටුණු ද්‍රව්‍යවලින් විශාල කොටසක් තව ම මුහුදෙහි පා වෙමින් ඇත. වෙරළින් ගෙන ගොස් කූඩාරම්වල තැන්පත් කළ නො හැකි වූ බඩු මුහුද ප්‍රචණ්ඩ වූ විට රළට අසු වී යළිත් මුහුදට ගසා ගෙන යාම වැළැක්වීමට වෙරළින් ඈතට ඇද අව්වෙන් ආරක්ෂා කිරීම සඳහා වැලිවලින් වසන ලදි.

දිවයිනේ අනික් පාර්ශ්වයෙහි වාසයට යාමේ කටයුතු ආරම්භ කරන ලද්දේ ය. ඔවුහු එක කූඩාරමක් ගැළවූහ. කූඩාරමත් එහි තිබූ මෙට්ට හා ඇතිරිලිත් පළමු කොට බෝට්ටුවෙන් අනික් පැත්තට ගෙන යාමට තීරණය කර ගන්නා ලදි. රණරාලත් පියදාසත් බඩු බෝට්ටුවේ දමා එය වෙරළින් මඳක් ඈතට හබලින් පැද රුවල නැංවූහ. පැය දෙකකින් ඔවුහු දිවයිනේ අනික් පැත්තට පැමිණියෝ ය. වහා ම ආපසු යාම සඳහා ඔවුහු ඉක්මනින් බඩු ගොඩ අදින්ට වූහ.

"දැන් උල්පතේ හැටි කොහොම ද කියා බලමු." යි පියදාස යෝජනා කෙළේ ය.

ඔවුහු එහි ගියහ. වළ පිරිසිදු දියෙන් පිරී තිබුණේ ය.

"මෙච්චර හොඳ වතුර මම කවදා වත් දැක්කේ නැහැ" යි පියදාස කී ය.

"අපි මේ පැත්තේ පදිංචියට ආවා ම මේ උල්පතෙන් ම වතුර ලබා ගන්ට පුළුවන් වන විධියට සෙවණ ඇති තැනකින් ළිඳක් හාරන්ට ඕනෑ," යි රණරාල

කීවේ ය. "මෙතන සෙවණක් නැති නිසා ළිඳේ වතුර ඉක්මනට අඩු වෙන්ට පුළුවනි."

එතැනින් ඉවත් වූ වහා ම ඔවුහු බෝට්ටුවට නැඟ ආපසු ගියහ. ඔවුන් එපමණ ඉක්මනින් ආපසු ඒම සමරවික්‍රමගේත් විමලාගේත් පුදුමයට හේතු විය.

"බොහොම ඉක්මනට ආවා නේ ද?" යි විමලා කීවා ය.

"මෙච්චර ඉක්මනට ඒ ය යි මම බලාපොරොත්තු වුණේ නැහැ" යි සමරවික්‍රම කී ය.

"අම්මේ, අනික් පාර මමත් බෝට්ටුවෙන් යනවා" යි ශරත් කෑ ගැසුවේ ය.

"ශරත් අපිත් එක්ක බෝට්ටුවෙන් යන්න තව අඩි දෙකක් විතර උස් වෙන්ට ඕනෑ" යි පොල් ගසක් යට හිඳ ගනිමින් රණරාල කී ය.

පසු දින රණරාල ඉවුම් පිසුම් සඳහා අවශ්‍ය භාජන ද වෙනත් බඩු රාශියක් ද බෝට්ටුවෙහි පටවා ගෙන දිවයිනේ අනික් පැත්ත බලා යාත්‍රා කෙළේ ය. ඊට මඳ වේලාවකට පසු පියදාස එළුවන් ගොඩින් දිවයිනෙහි අනික් පැත්තට ගෙන යාමට පිටත් විය. පහසුවෙන් ගෙන යා හැකි ඇතැම් භාණ්ඩ හිස පිට පටවා ගත් බිසෝමැණිකාත් ඔහු සමඟ ගියා ය. සමරවික්‍රම විමලාගේ ද ළමයින්ගේ ද ආරක්ෂාව සඳහා කූඩාරමෙහි නැවතුණේ ය. පියදාස හා බිසෝමැණිකාත් සමඟ තමාටත් යාමට ඉඩ දෙන්නැයි ඉල්ලා ශරත් හඬන්ට වූ නමුත් විමලා ඊට ඉඩ නුදුන්නා ය.

පියදාසත් බිසෝමැණිකාත් දිවයිනේ අනික් පැත්තට පැමිණෙන විට රණරාල තමා බෝට්ටුවෙහි ගෙනා බඩු වෙරළෙහි තබා ගසක් යට හිඳ සිටියේ ය.

ඊට පෙර දින ගෙනා කූඩාරම රණරාල පියදාසගේ හා බිසෝමැණිකාගේ ද උපකාරය ඇතිව ඉදි කෙළේ ය. ඉක්බිති ඔවුහු ඉවුම් පිසුම් කිරීමට තැනක් සූදානම් කළහ.

අනතුරුව ඔවුහු තුන් දෙනා ආපසු ඒමට බෝට්ටුවෙහි නැඟුණාහ. බෝට්ටුව ගල් වැටියෙන් ඔබ්බට යන තෙක් රණරාල එය හබලින් පැද රුවල නැංවී ය.

පසු දින දිවයිනේ අනික් පැත්තෙහි වාසයට යාමට සියල්ලෝ ම සැරසුණාහ. හිරු නැඟුණු වහා ම නැඟිටි ඔවුහු ගමනට සූදානම් වූහ. රණරාල ඉතිරිව තිබුණු කූඩාරම ගලවා හකුළා බෝට්ටුවෙහි තැබුවේ ය. ඉක්බිතිව කූඩාරමේ තිබුණු මෙට්ට හා ඇතිරිලිත් බෝට්ටුවට ගෙන යන ලදි. පිඟන් කෝප්ප ආදිය ද වෙනත් ඇතැම් භාජන ද බෝට්ටුවේ තැබිය හැකි වන ලෙස ඔවුහු උදය ආහාරය අනුභව කිරීම ඉක්මනින් අවසන් කළහ.

මේ බඩු බෝට්ටුවේ පටවා ගත් රණරාල යාත්‍රාරම්භ කෙළේ ය. ඊට පැය භාගයකට පමණ පසු සමරවික්‍රම හා විමලා ද පියදාස හා අනික් ළමයි ද කැලය හරහා අනික් පැත්තට යාමට පිටත් වූහ. බිසෝමැණිකා සුජාතා අතින් අල්ලා ගෙන ගියා ය. විමලා ශරත් අතින් අල්ලා ගෙන ගමන් කළා ය.

"අම්මාව එක්ක යන්නේ මම ය"යි පොල් ගස්වල කෙටුම් ලකුණු බලමින් ඉදිරියෙන් ගමන් කරන පියදාසට ශරත් කීවේ ය. සැතැප්ම දෙකක් පමණ ගමන් කළ පසු තම කකුල් රිදෙන බව කියා ශරත් හඬන්ට වූ හෙයින් සමරවික්‍රම ඔහු ඔසවා ගෙන යන්ට විය. සෙමින් ගමන් කිරීමත් කීප තැනක නැවතී ගිමන් හැරීමත් නිසා ඔවුන්ට දිවයින හරහා යාමට පැය හතරක් පමණ ගත විය. ඔවුන් දිවයිනේ අනික් පැත්තට යන විට රණරාල ඔවුන් සඳහා ආහාර පිසමින් සිටියේ ය. තවත් කූඩාරමක් ඉදි කිරීමත් තමන් ගෙනා බඩු තැන්පත් කිරීමත් හැරෙන්ට එදින ඔවුන්ට අන් කිසිවක් කිරීමට ඉඩ නො ලැබුණේ ය.

**රණරාල, ජී. බී. සේනානායක**

(කැප්ටන් ෆ්රෙඩ්රික් මැරියට් ලියූ **මාස්ටර්මන් රෙඩී** නමැති ඉංගිරිසි නවකතාව ඇසුරින් ළමයින් සඳහා ලියන ලද්දකි).

## ක්‍රියා පද

**පහත දැක්වෙන වාක්‍ය දෙස බලන්න.**

i. බිසෝමැණිකාත් ඔහු සමඟ **ගියා** ය.
ii. වළ පිරිසිදු දියෙන් **පිරී තිබුණේ** ය.
iii. කූඩාරමක් ඉදි කළ යුතු බව රණරාළට **සිතිණි**.

මෙහි "ගියා ය" යන පදයෙන් යමක් කරන බවක් ද,

"පිරී තිබුණේ ය" යන පදයෙන් යම් සිදුවීමක් ගැන ද,

"සිතිණි" යන පදයෙන් යම් විඳීමක් ගැන ද කියවේ.

★ **ඒ අනුව "කිරීමක්, සිදුවීමක් හෝ විඳීමක්" ගැන කියැවෙන පද, ක්‍රියා පද නමින් හැඳින්වෙයි.**

ඉහත වාක්‍යවල 'ගියා ය, පිරී තිබුණේ ය, සිතිණි' යන පදවලින් වාක්‍ය අවසාන කර ඇත. එබැවින් ඒවා ආඛ්‍යාත හෙවත් අවසාන ක්‍රියා ලෙස හැඳින්වෙයි.

i. රණරාල යෝජනා කෙළේ ය.
ii. ඔවුහු ඉවුම් පිහුම් කිරීමට තැනක් සූදානම් කළහ.

මෙම වාක්‍ය දෙකෙන් පළමු වැන්නේ උක්තය ඒක වචන නිසා ඊට අනුරූපව යෙදෙන ආඛ්‍යාතය ද ඒක වචන ස්වරූපයෙන් පවතී. දෙවැන්නේ උක්තය 'ඔවුහු' යන්න යි. එය බහු වචන පදයක් නිසා ආඛ්‍යාතය බහු වචනයෙන් තබා ඇත.

| | |
|---|---|
| i. මල්ලී කවියක් ලියයි.<br>ii. නුඹ ගීයක් ගයහි.<br>iii. මම පොතක් කියවමි. | i. ඔවුහු කවි ලියති.<br>ii. නුඹලා ගීයක් ගයහු.<br>iii. අපි පොතක් කියවමු. |

මෙම වාක්‍ය ගොනු දෙකෙන් වම් පස ගොනුවේ වාක්‍යවල අවසාන ක්‍රියා පද "ලියයි, ගයයි, කියවමි" යනුවෙන් ද දකුණු පස ගොනුවේ "ලියති, ගයහු, කියවමු" යනුවෙන් ද යෙදී ඇත. උක්තය වශයෙන් යෙදෙන පදයේ ඒක වචන බහු වචන භේදය අනුව ආඛ්‍යාතවල ද ඒක වචන බහු වචන භේදයක් පවතින බව මෙයින් පැහැදිලි වේ.

ක්‍රියා පද

| ඒක වචන | බහු වචන |
|---|---|
| ලියයි/ගයහි/කියවමි | ලියති/ගයහු/කියවමු |

## ලිඛිත අභ්‍යාස

1. දී ඇති කතාවේ එන ක්‍රියා පද ඒක වචන, බහු වචන වශයෙන් වගු ගත කරන්න.

| ඒක වචන | බහු වචන |
|---|---|
| | |

2. වගුවෙන් උපුටා ගත් ඒක වචන ක්‍රියා පද පහක් බහු වචනයට හරවන්න.
3. එසේ සකස් කරන ලද බහු වචන ක්‍රියා පද යොදා වාක්‍ය පහක් නිර්මාණය කරන්න.
4. වගුවෙන් උපුටා ගත් බහු වචන ක්‍රියා පද පහක් ඒක වචනයට හරවන්න.
5. එසේ සකස් කර ගන්නා ලද ඒක වචන ක්‍රියා පද යොදා වාක්‍ය පහක් නිර්මාණය කර ලියන්න.

## පුරුෂ භේදය

ඉහත දැක්වූ ක්‍රියා පදවල **උත්තම පුරුෂ**, මධ්‍යම පුරුෂ හා ප්‍රථම පුරුෂ යනුවෙන් පුරුෂ භේදයක් ද දක්නට ලැබේ. පහත දැක්වෙන සටහනින් ඒ බැව් පැහැදිලි වේ.

| පුරුෂ | ඒක වචන | බහු වචන |
|---|---|---|
| උත්තම පුරුෂ | (මම)........... කියවමි. | (අපි)............ කියවමු. |
| මධ්‍යම පුරුෂ | (නුඹ)........... ගයහි. | (නුඹලා).......... ගයහු. |
| ප්‍රථම පුරුෂ | (ඔහු)........... ලියයි. | (ඔවුහු)............ ලියති. |

ඒ අනුව,

★ උක්තය ලෙස උත්තම පුරුෂ සර්ව නාම පදයක් යෙදෙන වාක්‍යයක ආඛ්‍යාතය (අවසාන ක්‍රියාව) ලෙස භාවිත කරන ක්‍රියා පදය උත්තම පුරුෂ වේ.

| උත්තම පුරුෂ උක්තය | උත්තම පුරුෂ ආඛ්‍යාතය |
|---|---|
| මම | (පොත්) බලමි. |
| අපි | (පොත්) බලමු. |

★ උක්තය වශයෙන් මධ්‍යම පුරුෂ සර්ව නාමයක් යෙදෙන වාක්‍යයක ආඛ්‍යාතය ලෙස භාවිත කරන ක්‍රියා පදය මධ්‍යම පුරුෂ වේ.

| මධ්‍යම පුරුෂ උක්තය | මධ්‍යම පුරුෂ ආඛ්‍යාතය |
|---|---|
| නුඹ/තෝ/යුෂ්මතා | (පොත්) බලහි. |
| නුඹලා /තොපි /යුෂ්මත්හු | (පොත්) බලහු. |

★ ප්‍රථම පුරුෂ නාම පදයක් උක්තය ලෙස යෙදෙන වාක්‍යයක ආඛ්‍යාතය ලෙස භාවිත කරන ක්‍රියා පදය ප්‍රථම පුරුෂ වේ.

| ප්‍රථම පුරුෂ උක්තය | ප්‍රථම පුරුෂ ආඛ්‍යාතය |
|---|---|
| ඔහු/ ඇය/ ළමයා | (පොත්) බලයි. |
| ඔවුහු /ළමයි | (පොත්) බලති. |




## ලිඛිත අභ්‍යාස

1. පාඩමේ එන ක්‍රියා පද පුරුෂ තුන යටතේ වෙන් කොට දක්වන්න.

| උත්තම පුරුෂ | මධ්‍යම පුරුෂ | ප්‍රථම පුරුෂ |
|---|---|---|
| | | |

2. ඔබ කැමති ක්‍රියා පදයක් තෝරා ගෙන එය පහත දැක්වෙන සටහනට අනුව වචනවලටත් පුරුෂවලටත් වර්ග කර වගු ගත කරන්න.

| පුරුෂය | ඒක වචන | බහු වචන |
|---|---|---|
| උත්තම පුරුෂ | | |
| මධ්‍යම පුරුෂ | | |
| ප්‍රථම පුරුෂ | | |

3. සුදුසු ක්‍රියා පද වරහන් තුළින් තෝරා වාක්‍ය සම්පූර්ණ කරන්න.

i. මම අලුත් ලොවක් ... ii. අපි අලුත් ලොවක් ...
iii. නුඹ අලුත් ලොවක් ... iv. නුඹලා අලුත් ලොවක් ...
v. ළමයා අලුත් ලොවක් ... vi. ළමයි අලුත් ලොවක් ...

(තනති, තනමු, තනහු, තනහි, තනමි, තනයි)

## කාල භේදය

i. පාරිභෝගිකයෝ වෙළඳ පළට ගියෝ ය.
ii. මී මැස්සෝ මල් රොන් උරා බීවෝ ය.
iii. ඔහු සිය නිර්මාණය නිමා කළේ ය.
iv. මම විදෙස්ගත වූයෙමි.
v. අපි විදෙස්ගත වූයෙමු.

★ මේ වාක්‍යවල ඇති "ගියේ ය, ගියෝ ය, බීවෝ ය, කළේ ය, වූයෙමි, වූයෙමු" යන ක්‍රියා පදවලින් කියවෙන ක්‍රියාව සිදු කර අවසන් ය. එබැවින් ඒවා **අතීත කාල** ක්‍රියා පද ලෙස හඳුන්වමු.

i. මම ගීතයක් රස විඳිමි/විඳින්නෙමි.
ii. අපි ක්‍රීඩා තරගයට සහභාගී වෙමු/වන්නෙමු.
iii. නිවේදකයා මවුබස හදාරයි/හදාරන්නේ ය.

★ මේවායේ එන ක්‍රියා පදවලින් **වර්තමාන කාල** අර්ථයක් ප්‍රකාශ කරයි.

i. මම හෙට ගීතයක් රස විඳිමි/විඳින්නෙමි.
ii. අපි හෙට ක්‍රීඩා තරගයට සහභාගි වෙමු/වන්නෙමු.
iii. නිවේදකයා අනිද්දා මවු බස හදාරයි/හදාරන්නේ ය.

★ මේ වාක්‍යවල ඇති වර්තමාන ක්‍රියා පදවලින්, අනාගත අර්ථයක් ප්‍රකාශ කිරීම සඳහා හෙට, අනිද්දා යන අනාගත අර්ථ ගෙන දෙන පද යොදා ගෙන ඇත. මුල් ගොනු දෙකෙහි වාක්‍යවල තිබෙන ක්‍රියා පදවල අතීත, වර්තමාන යන කාල දෙක පැහැදිලිව දක්නට ඇතත් තෙවන ගොනුවේ වාක්‍යවල අනාගත කාල ක්‍රියා පදයක් දක්නට නැත. ඒ සඳහා වර්තමාන කාල ක්‍රියා පදයක් සමග අනාගත කාල අර්ථයක් ප්‍රකාශ කරන පදයක් යොදා ගන්නා බව ඒ අනුව පැහැදිලි වේ.




## ලිඛිත අභ්‍යාස

1. දී ඇති කතා පුවතේ එන ක්‍රියා පද, කාල භේදය අනුව වර්ග කර දක්වන්න.
2. පහත දැක්වෙන වාක්‍ය අතීත කාල ක්‍රියා පද යොදා සම්පූර්ණ කරන්න.

   i. සංගීතඥයා මිහිරි වාදනයක් ..........................
   ii. අපි වේලාසනින් ම පුස්තකාලයට ..............................
   iii. මම පිළිගැනීමේ උත්සවය බැලීමට ...........................
   iv. ගුරුතුමා සිංහල පාඩම ....................................
   v. ඔවුහු අලි අනාථාගාරය .................................

3. පහත දැක්වෙන වාක්‍ය වර්තමාන කාල ක්‍රියා පද යොදා සම්පූර්ණ කරන්න.

   i. කුරුල්ලෝ අහසේ පියාසර ..........................
   ii. වන සත්තු කැලෑවේ ..............................
   iii. ඔවුහු බස් නැවැතුම කරා ............................
   iv. කාන්තාව මහිලා සමිතියට ....................................
   v. ශිෂ්‍යයෝ ක්‍රීඩා තරගයට .................................

4. **පහත දැක්වෙන වාක්‍ය අනාගත අර්ථය ප්‍රකාශ වන පද යොදා ලියන්න.**

i. මම විභාගයට ඉදිරිපත් වීමට යමි/යන්නෙමි.
ii. අපි පෙරහැර බැලීමට යමු/යන්නෙමු.
iii. උපාසිකාව විහාරස්ථානයට යයි/යන්නී ය.
iv. සමිතියේ සාමාජිකයෝ මළ ගෙදරට සහභාගී වෙති/වන්නෝ ය.

## ලිංග භේදය

i. මිතුරා පොතක් තෑගි කළේ ය.
ii. මිතුරිය පොතක් තෑගි කළා ය.

මෙහි පළමු වාක්‍යයේ 'මිතුරා' යන උක්තයට 'කළේ ය' යන ආඛ්‍යාතයත් දෙවැනි වාක්‍යයේ 'මිතුරිය' යන උක්තයට 'කළා ය' යන ආඛ්‍යාතයත් යෙදී ඇත.

එසේ යෙදී ඇත්තේ උක්තයේ ලිංගයට අනුව ය.
**කළේ ය** යන්නෙන් පුරුෂ ලිංග අර්ථයත්,
**කළා ය** යන්නෙන් ස්ත්‍රී ලිංග අර්ථයත් ප්‍රකාශ වෙයි.

★ මෙසේ ලිංග භේදය යටතේ වර්ග කළ හැක්කේ ප්‍රථම පුරුෂයට අයත් ක්‍රියා පද පමණි.

i. මිතුරා පොතක් තෑගි කරයි.
ii. මිතුරිය පොතක් තෑගි කරයි.
iii. මිතුරෝ පොත් තෑගි කරති.
iv. මිතුරියෝ පොත් තෑගි කරති.

★ මෙම වාක්‍යවල ක්‍රියා පදයන්හි ස්ත්‍රී ලිංග, පුරුෂ ලිංග භේදයක් දක්නට නැත.

දරුවා බිමට වැටෙයි.
දැරිය බිමට වැටෙයි.
පොත බිමට වැටෙයි.

★ ඒ අනුව පැහැදිලි වන්නේ සිංහල භාෂාවේ එන සමහර ක්‍රියා පදවල ලිංග භේදයක් දක්නට ලැබුණ ද බොහෝ ක්‍රියා පදවල ලිංග භේදයක් දක්නට නැත.

ක්‍රියා පද

ස්ත්‍රී ලිංග — පුරුෂ ලිංග

## ලිඛිත අභ්‍යාස

1. දී ඇති කතා පුවතේ එන ක්‍රියා පද ලිංග භේදය අනුව වර්ග කරන්න.
2. පහත දැක්වෙන වාක්‍ය අතීත කාල ක්‍රියා පද යොදා සම්පූර්ණ කරන්න.

   i. නංගී ක්‍රීඩා නායිකාව .........................
   ii. සොහොයුරා විභාගය සමත් ........................
   iii. මව දරුවන් පෝෂණය ..............................
   iv. දැරිය බිමට ............................
   v. ගුරුතුමිය ගීයක් .............................

3. ඔබ කැමති ක්‍රියා පදයක් තෝරා ගෙන පහත වගුව සම්පූර්ණ කරන්න.

| | | අතීත | | අනතීත | |
|---|---|---|---|---|---|
| | | ඒක වචන | බහු වචන | ඒක වචන | බහු වචන |
| උත්තම පුරුෂ | | | | | |
| මධ්‍යම පුරුෂ | | | | | |
| ප්‍රථම පුරුෂ | ස්ත්‍රී ලිංග | | | | |
| | පුරුෂ ලිංග | | | | |

# 10 වාක්‍ය නිර්මාණය

**මීට ඉහත පාඩම්වල දී නාම පද හා ක්‍රියා පද ගැනත් ඒවායේ වර්ග කිරීම් ගැනත් හැදෑරුවෙමු. දැන් නාම පද හා ක්‍රියා පද භාවිත කොට වාක්‍ය නිර්මාණය කරමු.**

**ළමයා පැළයක් සිටුවයි.**

* මෙහි 'සිටුවයි' යන ආඛ්‍යාතයෙන් සිටුවන්නේ කවුරු ද යන ප්‍රශ්නය මතු වෙයි. පිළිතුර වන්නේ 'ළමයා' යන්න යි.

එය වාක්‍යයේ 'උක්තය'යි.

* සිටුවන්නේ මොනවා ද යන්න ඊ ළඟට මතු වන ප්‍රශ්නය යි.

එයට පිළිතුර වන්නේ 'පැළෑටියක්' යන්න යි.

එය වාක්‍යයේ කර්මය යි.

ළමයා කරන්නේ කුමක් ද යන ප්‍රශ්නය මතු කරන්න. එයට පිළිතුර වන්නේ 'සිටුවයි' යන්න යි. එය ළමයා කරන ක්‍රියාව යි. වාක්‍යය සම්පූර්ණ වන්නේ මේ ක්‍රියාව යෙදීමෙනි. ක්‍රියාව සහිත කොටස 'ආඛ්‍යාතය'යි.

* මේ අනුව සරල වාක්‍යයක;

1. උක්තය 2. කර්මය 3. ක්‍රියාව

යනුවෙන් ප්‍රධාන කොටස් තුනකි.

| ළමයා | පැළයක් | සිටුවයි |
|---|---|---|
| ↓ | ↓ | ↓ |
| උක්තය | කර්මය | ක්‍රියාව |

* කර්මයක් නොමැතිව ද අර්ථ පූර්ණ වාක්‍ය පවතී.
උදාහරණ:- සඳ පායයි
මල් පිපෙයි.

වාක්‍ය නිර්මාණයේ දී සම්මත රටා පවතී. එවැනි රටා කීපයක් හඳුනා ගනිමු.

1. උක්තය ප්‍රාණවාචී ඒක වචන නම් ආඛ්‍යාතය ද ඒක වචන වෙයි.
   ගොවියා කුඹුර කොටයි.

2. උක්තය ප්‍රාණවාචී බහු වචන නම් ආඛ්‍යාතය ද බහු වචන වෙයි.
   ගොවියෝ කුඹුර කොටති.

3. උක්තය අප්‍රාණවාචී ඒක වචන වුවත් බහු වචන වුවත් ආඛ්‍යාතය ඒක වචන වෙයි.
   ගස සුළඟට සෙලවෙයි.
   ගස් සුළඟට සෙලවෙයි.

4. උක්තයේ පුරුෂය අනුව ආඛ්‍යාතය ද එම පුරුෂයෙන් ම යෙදෙයි. පහත සටහනෙන් ඒක වචන, බහු වචන භේදය අනුව පුරුෂ තුනෙහි වාක්‍ය නිර්මාණය වන ආකාරය හඳුනා ගත හැකි ය.

| පුරුෂය | ඒක වචන | බහු වචන |
|---|---|---|
| උත්තම පුරුෂ | මම පාඩම් කරමි. | අපි පාඩම් කරමු. |
| මධ්‍යම පුරුෂ | ඔබ පාඩම් කරහි.<br>තෝ පාඩම් කරහි.<br>යුෂ්මතා පාඩම් කරහි. | ඔබ පාඩම් කරහු.<br>තොපි පාඩම් කරහු.<br>යුෂ්මත්හු පාඩම් කරහු. |
| ප්‍රථම පුරුෂ | ඔහු පාඩම් කරයි.<br>ශිෂ්‍යයා පාඩම් කරයි.<br>ශිෂ්‍යාව පාඩම් කරයි. | ඔවුහු පාඩම් කරති.<br>ශිෂ්‍යයෝ පාඩම් කරති.<br>ශිෂ්‍යාවෝ පාඩම් කරති. |

★ අතීත හා අනතීත යන කාල අනුව ද වාක්‍ය නිර්මාණය සකස් විය හැකි ය.

ශිෂ්‍යයා පොත පාඩම් කරයි./කරන්නේ ය. (අනතීත කාල)
ශිෂ්‍යයා පොත පාඩම් කළේ ය. (අතීත කාල)

1. ගැළපෙන උක්ත පද හිස් තැනට යොදා වාක්‍ය සම්පූර්ණ කරන්න.

i. ................................. පාසලට යන්නෙමි. (මම/මා)
ii. ................................. ගුරුන් නමදිමු. (අප/අපි)
iii. ................................. නැටුම් බලන්නට යන්නෙහු. (තොපි/තොප)
iv. ................................. අහසේ පියාසර කරති. (කුරුල්ලෝ/කුරුල්ලන්)
v. ................................. රෝගීන් රැක බලා ගනිති. (හෙදියන්/හෙදියෝ)

2. සුදුසු ආඛ්‍යාත පද යොදා වාක්‍ය සම්පූර්ණ කරන්න.

i. ඔවුහු වනයට ................................. (පිවිසියහ/පිවිසියේ ය.)
ii. මව දරුවන් ................................. (රකින්නී ය/රැක්කෝ ය.)
iii. ගංගා මුහුදට ගලා ................................. (බසී/බසින්නෝ ය.)
iv. බොහෝ සිවුපා සත්තු වනයේ ................. (සැරිසරති/සැරිසැරුවේ ය.)
v. සංචාරකයෝ පෙරහැර ................................. (නැරඹූහ/නැරඹුවේ ය.)

3. පහත දැක්වෙන අනතීත කාල වාක්‍ය අතීත කාලයට හරවා ලියන්න.

i. මම පුවත්පත කියවමි.
ii. ඔබ ගමට යන්නහි.
iii. මිනිස්සු ශ්‍රමදානයට සහභාගි වෙති.
iv. කුරුල්ලෝ කැදලි කරා පියාඹන්නෝ ය.
v. ශිෂ්‍යයෝ පුස්තකාලයට යති.

# 11 කලා වැවට පින් දීලා පලයල්ලා

**ගොවිතැන ජීවනෝපාය කර ගත් ලාංකික ජනයාට ජලය ඒ සඳහා අත්‍යවශ්‍ය විය. වැසි දිය පමණක් ඊට ප්‍රමාණවත් නොවූ නිසා ජලාශ තනා ජලය රැස් කර ගැනීමට ඔවුහු පෙළඹුණහ. වැව් නිර්මාණය වූයේ එහි ප්‍රතිඵලයක් වශයෙනි. වැව යනු ලාංකික අපට ම ආවේණික වූ වාරි තාක්ෂණික අංගයකි. ආර්. එල්. බ්‍රෝහියර් විසින් රචනා කළ *The Seeing Ceylon* කෘතිය *බ්‍රෝහියර් දුටු ලංකාව* නමින් අභය හේවාවසම් මහතා විසින් සිංහල භාෂාවට පරිවර්තනය කර ඇත. ඒ ඇසුරෙන් ලියැවී ඇති මෙම පාඩමට කලා වැව සම්බන්ධ තොරතුරු පාදක වී ඇත.**

ලංකාවේ වැව් හා සබැඳි මනහර ජනප්‍රවාද වේ. කලා වැව සම්බන්ධයෙන් ප්‍රචලිතව පවතින ජනප්‍රවාදයක් මෙසේ ය.

ඈත අතීතයේ දී අනුරාධපුරයේ කඩවර නම් මිනිසෙක් වූයේ ය. මොහු සිය භාර්යාවගේ කෙනෙහිලිකම්වලින් බේරීමට මහා වනාන්තරයට ගියේ නිවී සැනසිල්ලේ සතුටින් ජීවත් වීමට ය. මෙම සිදුවීමෙන් දොළොස් වසරකට පසුව රජ වාසලට මුව මස් සැපයූ මස් වැද්දා රජතුමාට වාර්තා කළේ නගරයෙන් පැන ගොස් කැලෑවේ ජීවත් වන මිනිසකු මහා නිධානයක් රැක ගෙන සිටින බව යි.

මේ පුවතින් කැලඹුණු රජු නගරයේ ගිනිකොන දිගට සැතපුම් 25ක් ඈතින් පිහිටා තිබූ මෙම ස්ථානයට ගියේ ය. ගොස් කඩවර නැමැති මිනිසා අත්අඩංගුවට ගෙන තමා අබියසට කැඳවා නිධානය පිළිබඳ ප්‍රශ්න කෙළේ ය. ඔහු කියා සිටියේ කලවැල් ගොන්නකින් ජලය බැස යන මාර්ගය ඇහිරී තිබෙන නිසා, ජලය එක් රැස් වී සැතපුම් ගණනාවක් ඈතට පැතිර තිබෙන ජලාශයක් මිස තමන් දන්නා වෙනත් නිධානයක් නොමැති බව යි.

මෙහි ස්ථිර ජලාශයක් බිහි කිරීමේ හැකියාව දුටු රජතුමා ඉතා ප්‍රීතියට පත්ව කලා වැව නිර්මාණය කෙළේ ය. මේ මහා වාරි කර්මාන්තය නිම වූ පසු එය බලා ගැනීමට රජතුමා විසින් කඩවර පත් කරන ලදි.

එක් දිනක මහා වර්ෂාවකට පසුව මේ වැවේ ජලය කාන්දු වන්නට විය. මේ ජල කාන්දුව වහා ම නැවැත්වූයේ නැත්නම් වැව් බැම්ම එතැනින් කැඩී යාමට ඉඩ ඇති බව කඩවර දුටුවේ ය. මේ කාන්දුව නවත්වා ගැනීමට අන් ක්‍රමයක් නුදුටු කඩවර ජලයට බැස තම සිරුර ඒ කාන්දු වන ස්ථානයට තබා තද කරමින් ජල කාන්දුව නැවැත්වී ය. මේ ක්‍රියාවේ දී ඔහු මිය ගිය නමුදු මේ කැප වීමේ පින් මහිමය නිසා හේ කඩවර දෙවියන් නැතහොත් කලා වැව අධිගෘහීත දෙවියන් හැටියට උපන්නේ ය.



කලා වැව



වැව් බැම්ම

මේ කතාව පැරැන්නන් කොපමණ ඇදහුවේ ද යත් පැරණි වාන උඩ කඩවර දෙවියන් වෙනුවෙන් කැප වූ දේවාලයක් ද ඉදි කෙරිණි. ලංකාව බතින් බුලතින් පෝෂණය කිරීමට අධිෂ්ඨාන කරගත් පාලකයෙක් පස්වන සියවසේ දී කලා වැව හා බලලු වැව යන වැව් යුගල එක් කර විශාල ජලාශයක් ඉදි කෙළේ ය. ඒ ධාතුසේන රජු ය. මෙසේ විශාල ජලාශයක් කළ රජතුමා, එම ජලය අඩි 40ක් පමණ පළල යෝධ ඇළ ඔස්සේ සැතපුම් 54ක් දුර ඇති අනුරාධපුරයට ගෙන ගියේ ය. සියවස් දහසයකට පෙර එබඳු මහා පරිමාණයේ ඇළක් එවන් භූමි භාගයක නිර්මාණය කළේ කෙසේ ද යන්න විමතියට කරුණකි. පළමු සැතපුම් දාහතේ දී එය සෙමෙන් ඇදී යන්නේ සැතපුමට අඟල්



වර්තමාන කඩවර දේවාලය

හයක් පමණ බෑවුමක් ඇතිව ය. ධාතුසේන රජු විසින් කලා ඔය නිම්නයේ පුරාතන ඉංජිනේරුවන් ලවා කරවූ මේ විශ්වකර්ම නිර්මාණයට අමතරව තවත් විශිෂ්ට පුරුකක් මෙයට එක් කළේ ය. එනම් වාරි මාර්ග මගින් ජලය සැපයිය හැකි වර්ග සැතපුම් 18ක වපසරියක් තුළ කුඩා ග්‍රාමීය වැව් 100ක් ඉදි කර ඒ සීමාව තුළ අංග සම්පූර්ණ වාරි මාර්ග පද්ධතියක් බිහි කිරීම යි.



වාන

අදට ද කලා වැවට නුවර කලාවිය වැසියෝ ගරු බුහුමන් දක්වති. මෙබඳු ජන කවියක් ඔවුන් අතර පවතින්නේ එබැවිනි.

**"කලා වැවෙන් දිය දෝතක් බීපල්ලා**

**කලා වැවට පින් දීලා පලයල්ලා"**



රළපනාව

ලංකාවේ විශිෂ්ටතම වාන පිහිටා ඇත්තේ කලා වැවේ ය. මෙය කළුගල කපා සාදා ඇත. මේ වාන මෑතකාලයන්හි ප්‍රතිසංස්කරණයෙහිදී පවා එසේ ම තිබෙන්නට ඉඩ හැර ඇත. මෙය අඩි 216ක් පළල අඩි 170ක් දිගු එකකි. මෙය එකල නිර්මාණය කෙරුණු පුදුමාකාර නිර්මාණයකි. එකල සිටි ශිල්පියාගේ ඉවසිලිවන්තකමත් දක්ෂ බවත් මින් පිළිබිඹු කෙරේ. විසල් වැවක තවත් වැදගත් අංගයක් ලෙස රළපනාව හඳුන්වා දිය හැකි ය. මෙය, දිය රැලි වැවේ ඇතුළු බිත්තියේ වැදීමෙන් හානි පැමිණීම වැළැක්වීම සඳහා යොදා ගෙන ඇත්තකි. දිය රැල්ලෙන්



බිසෝකොටුව (පිටත පෙනුම)

වැව් බැම්ම ආරක්ෂා වීම මෙම නිර්මාණය නිසා සිදු වේ. තුන්වන සියවසේ සිට ම විශාල වැව්වල බිසෝ කොටුව භාවිතව තිබිණි. 'ජලය බස්සවනවා' යන අර්ථය "බිසෝ කොටුව" යන වචනයෙහි ඇත. මෙමඟින් ජලය පාලනය කළ හැකි වූවාක් මෙන් ම මුළුමනින් නවතා දැමීම ද කළ හැකි විය. බිසෝ කොටු සතු විසල් දොරපලු දැවෙන් නිමවා තිබූ අතර මේවා එසැවීමට ඇතුන් යොදා ගත් බව සිතිය හැකි ය.

## අරුත් පැහැදිලි කිරීම

| | | |
|---|---|---|
| ගොන්නකින් | - | විශාල ප්‍රමාණයකින් |
| කෙනෙහිලිකම් | - | කරදර/ හිරිහැර |
| වැව් යුගල | - | වැව් දෙක |
| වාන | - | වැවේ අතිරික්ත ජලය බැස යාමට සාදා ඇති කපොල්ල |
| නුවර කලාවිය | - | නුවර වැව, පදවිය වැව, කලා වැව, යන වැව් තුනෙන් පෝෂිත ප්‍රදේශය නුවර කලාවිය ලෙස හඳුන්වයි. |

### අවබෝධය

1. "කඩවර" තම ජීවිතය පූජා කළේ කවර අනතුරක් වළක්වා ගැනීම සඳහා ද?
2. පැරැන්නන් "කඩවර" වෙනුවෙන් දේවාලයක් ඉදි කළේ ඇයි?
3. ධාතුසේන රජතුමා අංග සම්පූර්ණ වාරිමාර්ග පද්ධතියක් සැදුවේ යැයි කිව හැක්කේ ඇයි?
4. ලාංකේය වාරි තාක්ෂණයේ විශිෂ්ටත්වය කියා පාන සාධක මොනවා ද?
5. ලංකාවේ වැව් අතරින් විශිෂ්ටතම "වාන" කලා වැව බව කීමට බලපාන සාධක දෙකක් ලියන්න.

### ප්‍රායෝගික අභ්‍යාස

1. වැව් නිර්මාණය වීමට මුල් වූ ජනප්‍රවාද එකතුවක් සාදන්න.
2. ශ්‍රී ලංකාවේ ප්‍රධාන වැව් 10ක් සහ ඒවා පිහිටි ප්‍රදේශ වගු ගත කරන්න.
3. "ශ්‍රී ලංකාවේ වාරි තාක්ෂණයේ විශිෂ්ටත්වය" මැයෙන් බිත්ති පුවත්පතට ලිපියක් ලියන්න.

## මාතෘකානුකූල රචනා ලිවීම

රචනයක් ලිවීම සඳහා මාතෘකා කිහිපයක් ලබා දුන් විට ඉන් එකක් තෝරා ගත යුතු ය. එසේ තෝරා ගැනීමේ දී අවධාරණය කළ යුතු කරුණු කිහිපයකි.

- මාතෘකා කිහිපයක් ලබා දී ඇති විට එක් මාතෘකාවක් මැනවින් සිතා බලා තෝරා ගත යුත්තේ ය.
- මාතෘකාව තෝරා ගැනීමේ දී ඔබ ඉතා ප්‍රිය කරන එකක් වීම වැදගත් ය.
- මාතෘකාවට අදාළව ලිවීමට තරම් සෑහෙන කරුණු හා දැනුම තිබිය යුතු ය.
- මාතෘකාව ඔබේ දැනුමට සේ ම වාක්කෝෂයට ගැළපෙන්නක් වීම ඉතා වැදගත් ය.

### රචනාව සංවිධානය කර ගැනීම

තෝරාගත් මාතෘකාවට අදාළව රචනය ලිවීමට පෙර එකී මාතෘකාව පිළිබඳ ස්ථිර සැලැස්මක් ගොඩ නගා ගත යුතු ය. මෙය රචනාවේ සැලැස්ම නැතහොත් රචනාවේ සැකිල්ල ලෙස නම් කළ හැකි ය. එකී සැකිල්ල සකස් කර ගැනීමට සුදුසු මඟ පෙන්වීමක් පහත දැක්වේ.

- තෝරාගත් මාතෘකාව පිළිබඳ ගැඹුරින් සිතන්න.
- සැකිල්ලක් සකසා ගන්න.
- මාතෘකාව පිළිබඳ සිතට එන සියලු කරුණු වෙනත් කොළයක ලියන්න.

එකී කරුණු සැකිල්ලට අනුව පෙළ ගස්වා ගන්න. එහි දී

i. නො ගැළපෙන කරුණු,
ii. අසාරවත් කරුණු,
iii. බොළඳ යැයි, නොගැඹුරු යැයි සිතෙන කරුණු,
iv. අදාළ නො වන කරුණු කපා ඉවත් කරන්න.

- ප්‍රධාන කරුණු යටතේ ඡේද තීරණය කරන්න.
- එම ඡේද වඩා දීර්ඝ හෝ වඩා කෙටි නො වී සමතුලිතව ඉදිරිපත් කරන්න.
- රචනාව සංවිධානයේ දී,

i. ප්‍රවේශය හෙවත් ආරම්භය
ii. ශරීරය, මධ්‍යය හෙවත් ස්කන්ධය
iii. අවසානය

යන කරුණු තුන ගැන වැඩි වශයෙන් සැලකිලිමත් වීම වැදගත් ය.

## ප්‍රවේශය

- රසවත් ප්‍රවේශයක් ගැනීම වැදගත් ය.
- උද්ධෘත පාඨයක්, තම මතයක්, විද්වත් මතයක්, ආප්තෝපදේශයක් වැනි කොටසකින් ආරම්භය ලබා ගැනීම එය රසවත් සහ සාර්ථක වීමට හේතු වෙයි.

## ශරීරය, මධ්‍යය හෙවත් ස්කන්ධය

- සාරවත් වැදගත් සේ ම අදාළ කරුණුවලින් පරිපූර්ණ විය යුතු ය.
- ඡේද බෙදා තිබීම වැදගත් ය.
- ප්‍රමාණවත්බව තිබිය යුතු ය.
- ස්වකීය අදහස් ඉදිරිපත් කිරීම වැදගත් වේ.

## අවසානය හෙවත් සමාප්තිය

- රචනයේ ප්‍රවේශය සේ ම අවසානය ද වැදගත් ය.
- අවසානයේ දී මුලින් දැක්වූ කරුණුවල සම්පිණ්ඩනයක් ඉදිරිපත් කළ හැකි ය.
- රචනයේ අවසානය රසවත්ව තිබීම වැදගත් ය.

රචනයක් ලිවීමේ දී

- නාම පද, ක්‍රියා පද හා නිපාත පද වෙන් කර තිබීම
- විරාම ලක්ෂණ නිසි පරිදි යෙදීම
- නිවැරදි අක්ෂර වින්‍යාසය අනුගමනය කිරීම
- සම්මත වාක්‍ය රීති අනුගමනය කිරීම වැදගත් වේ.

12

# ඇවිදින කොළයා

**අප අවට පරිසරයේ විවිධ සත්ත්‍ව ජීවත් වෙති. ඔවුන්ගේ බාහිර පෙනුම, ජීවන රටා ආදි තොරතුරු දැන ගැනීමට විද්‍යාත්මක පත පොත කියවිය යුතු ය. සිංහලෙන් එබඳු පොත් ලිවීමට පුරෝගාමී වූ මාර්ටින් වික්‍රමසිංහ මහතාගේ 'විද්‍යා විනෝද කතා' පෙළෙන් උපුටා ගත් කතාවක් මෙහි දැක්වේ.**

මිත්‍රයෝ දෙදෙනෙක් කැලෑවක් මැදින් ගමන් කළෝ ය. කැලෑව මැදට පැමිණි ඔවුහු වලසකු දුටුවෝ ය. එකෙක් වහ වහා ගසකට නැංගේ ය. අනෙකාට ගසට නැඟ ගන්ට බැරි විය. ඔහු පණ බේරා ගත්තේ උපායකිනි. ඔහු බිම දිග ඇදී මළ මිනිහකු මෙන් කිසි ම හැලහොල්මනක් නැතිව සිටියේ ය. වලසා ඔහුට ළං වී බලා ඒ මළ කඳෙකැයි සිතා කිසිවක් නො කොට ආපසු ගියේ ය.

අන්තරායෙන් ගැලවීමට මෙබඳු උපාය යොදන්නේ මනුෂ්‍යයා පමණක් නො වේ. බොහෝ සත්ත්‍ව ද අන්තරාය වැළැක්වීමට උපාය යොදති. සතුරන්ගෙන් බේරීමට කුරුමිණි සතුන් යොදන උපාය ඇසුවොත් ළමයින් පමණක් නො ව සමහර විට වැඩිහිටියෝ ද කම්මුල්වල අත් ගසා ගෙන පුදුමය ප්‍රකාශ කරති.

ගහේ ඉතිවල එල්ලෙමින් තිබෙන විට කොළ සුළඟින් සෙලවේ; බිම වැටුණු විටත් සමහර විට සුළඟින් කොළ සෙලවේ. එසේ වුව ද ඇවිදින, කෑම කන, බිත්තර දමන කොළයක් දකින්ට ලැබුණොත් පුදුම නො වන ළමයෙක් සිටිත් ද?

මෙහි ලංකාවේ සතකුගේ ද උගේ බිත්තරවල ද ඡායාරූප වෙයි. ඌ කොළයකට සමාන ය. ඌට 'කොළයා'යි කියන්නේ එහෙයිනි. අතට ගෙන බැලුවකුට පවා මූ කොළයක් නො ව සතෙකැයි කිව නො හැකි ය. කුමක් නිසා ද? හැඩහුරුකමිනුත් පාටිනුත් ඌ කොළයකට ම සමාන බැවිනි. හැම අතින් ම කොළයකට සමාන බැවින් බොහෝ දෙන මේ සතුන් කොළවලින් හට ගනිති යි විශ්වාස කරති. එය වැරදි විශ්වාසයකි. මේ සතුන් හට ගන්නේ කොළවලින් නොව බිත්තරවලිනි.

මේ සතා කොළයක හැඩහුරුකම ගන්නේ කුමට ද? මිනිසකු වලසාගෙන් බේරීමට මළ කඳක් මෙන් වූ හැටි මෙහි මුලින් කියා ඇත. කොළයා කොළයක

හැඩහුරුකම ගැනීමට හේතුවත් මෙබඳු කරුණකි. එනම්, කුඩා සතුන් අල්ලා ගෙන කන කුරුල්ලන්ගෙන් ද වෙනත් සතුරන්ගෙන් ද බේරීම පිණිස ය.



කොළ හැළුණු ගසක් යට සිටින කොළයකු සෙවිල්ලෙන් බැලුවත් ඌ අපට වහා නො පෙනේ. කොළයක හැඩහුරුකමත් පාටත් ඇති ඌ අපේ පයකට පෑගෙන්ට පුළුවන. අපේ පයකට පෑගුණොත් සමහර විට ඌ මිය යන්නේ ය.



එසේ වුව හොත් කොළයක හැඩහුරුකම ගැනීම කොළයාගේ ආරක්ෂාවට නො ව විනාශයට හේතු වෙයි. කොළයා කොළයෙහි හැඩහුරුකම ගන්නේ මිනිසුන්ගෙන් බේරීමට නො වේ. මිනිස්සු උගේ සතුරෝ නො වෙති. පක්ෂීහු උගේ සතුරෝ ය. එබන්දන්ගෙන් බේරීමට කොළයාට කොළයේ හැඩහුරුකමත් පාටත් ඉතා ප්‍රයෝජනවත් ය.



පිහාටු හකුළා පිට මැද එක් කොට තබා ගෙන සිටින විට ඌ කොළයකට සමාන ය. පිහාටු දෙක එක් වන තැන කොළයෙහි මැද නාරටිය වැන්න. මැද නාරටියෙන් දෙපැත්තට ඇදුණු හීන් නාරටි වැනි නාරටි ද කොළයාගේ පිහාටුවල ඇත්තේ ය. ඇතැම් විට කොළයා ඉදුණු කොළයක පාටින් යුක්ත වෙයි. සමහර විටෙක නිල් කොළයක පාටින් යුක්ත වෙයි. කොළයා බිම සිටින විට කොළයක් ම වැන්න.

උෟ බිම බඩ ඇන ගෙන ම සිටින බැවිනි. උෟ ගමන් කරන්නේත් බඩ ගාන්නාක් මෙනි. මෙසේ හැම විදියෙන් ම කොළයක් බව පෙන්වීමට තැත් කරන මූ කොතරම් කපටි සතෙකු විය යුතු ද? කොළයා මේ කපටිකම් කරන්නේ පක්ෂීන්ගෙන් බේරීම පිණිස ය.

කොළයා අනෙක් කෘමි සතුන් මෙන් මස් කා ජීවත් වන්නෙක් නො වේ; කොළ කා ජීවත් වන්නෙකි. උගේ බිත්තර දැමීම ද අනෙක් කෘමි සතුන්ගේ බිත්තර දැමීමට වෙනස් ය. ඇතැම් කෘමි සත්තු වළවල් හාරා එහි බිත්තර දමති. සමහරු කොපුවක් සාදා එහි බිත්තර දමති. සමහරු ගසක කොළවල බිත්තර අලවති. සමහරු පැළෑටියක කඳ විද ඒ තුළ බිත්තර දමති. කොළයා කුරක්කන් වපුරන්නාක් මෙන් බිම බිත්තර දමයි. උගේ බිත්තර ද ඇට වර්ගයක් වැන්න. උගේ බිත්තරයක් අතට ගෙන බැලුවත් පෙනෙන්නේ කරිවිල ඇට වැනි ඇට වර්ගයක් ලෙසිනි.

## අවබෝධය

**1. පහත සඳහන් ප්‍රශ්නවලට පිළිතුරු සපයන්න.**

i. කොළයාට එම නම ලැබුණේ ඇයි?
ii. ආත්මාරක්ෂාව සඳහා කොළයා යොදා ගන්නා උපාය මාර්ග මොනවා ද?
iii. කතුවරයා කොළයාගේ බාහිර ස්වරූපය විස්තර කර ඇත්තේ කෙසේ ද?
iv. අනෙක් කෘමි සතුන් බිත්තර දමන ආකාරය හා කොළයා බිත්තර දමන ආකාරය අතර ඇති වෙනස කුමක් ද?

**2. නිවැරදි පිළිතුර තෝරන්න.**

i. පාඩමෙහි සඳහන් ඇවිදින කොළයා නම් කෘමි සතා හටගන්නේ,
(අ) කොළවලිනි. (ආ) බිත්තරවලිනි. (ඇ) ජලයෙනි.

ii. සතුරන්ගෙන් බේරීමට කොළයාට ප්‍රයෝජනවත් වන්නේ,
(අ) හැඩහුරුකම සහ පාට යි.
(ආ) කකුල් සහ වේගවත් බව යි.
(ඇ) නිශ්ශබ්දතාව සහ පහරදීම යි.

iii. කොළයාට ඇත්තේ,
(අ) විෂ දළ ය. (ආ) වලිගයකි. (ඇ) පිහාටු ය.

iv. කොළයා බිම සිටින විට කොළයක් වැනි ම වන්නේ,
(අ) නො සෙල්වෙන නිසා ය.
(ආ) කොළ අතර ම සිටින නිසා ය.
(ඇ) බිම බඩ ඇන ගෙන ම සිටින නිසා ය.

v. කොළයාගේ බිත්තර සමාන වන්නේ,
(අ) ඇට වර්ගයකට
(ආ) කුරක්කන්වලට
(ඇ) කොළයකට

**3. පහත සඳහන් ප්‍රකාශ හරි නම් ☑ ලකුණ ද වැරදි නම් ☒ ලකුණ ද යොදන්න.**

i. අන්තරායෙන් ගැලවීමට උපාය යොදන්නේ මිනිසා පමණි. ( )
ii. කොළ හැළුණු ගසක් යට සිටින කොළයකු දෙස සෙවිල්ලෙන් බැලුවත් ඌ අපට වහා නො පෙනේ. ( )
iii. අපේ පයට පෑගුණත් කොළයා මිය යන්නේ නැත. ( )
iv. මිනිස්සු කොළයාගේ සතුරෝ ය. ( )
v. නිල් කොළයක පාටින් ද ඉදුණු කොළයක පාටින් ද යුතු කොළයෝ වෙති. ( )
vi. කොළයා ගමන් කරන්නේ බඩ ගාන්නාක් මෙනි. ( )

## ලිඛිත අභ්‍යාස

**1. පහත දැක්වෙන පදවලට සමානාර්ථ පද පාඩමෙන් සොයා ලියන්න.**

i. යහළුවෝ ii. අනතුර iii. ප්‍රතිවාදීන්
iv. කකුල v. බීජ වර්ග

**2. පහත සඳහන් වචන යොදා වාක්‍ය නිර්මාණය කරන්න.**

i. උපාය ii. අන්තරාය iii. හැඩහුරුකම
iv. සෙවිල්ලෙන්

1. **පහත සඳහන් ක්‍රියාකාරකම්වල නිරත වන්න.**

    - ගෙවත්තේ හමු වන කෘමි සතකු හොඳින් නිරීක්ෂණය කර ඒ පිළිබඳ විස්තර ඇතුළත් කොට කුඩා ලිපියක් සකස් කරන්න.
    - එම ලිපිය කියවා, ඔබ මින් පෙර එම කෘමියා පිළිබඳ නො දන්නා තොරතුරු කොපමණ එහි ඇතුළත්ව ඇත්දැයි විමසා බලන්න.
    - පන්තියේ යහළුයෙහෙළියන්ගේ ලිපි සමග ඔබේ ලිපිය හුවමාරු කර ගෙන කියවා, කෘමි සතුන් පිළිබඳ දැනුම වර්ධනය කර ගන්න.

2. **ඇවිදින කොළයා පිළිබඳ ඔබ සිත් ගත් තොරතුරු පන්තිය හමුවේ ඉදිරිපත් කරන්න.**
3. **විද්‍යා විනෝද කතා පොත් කියවන්න.**
4. **විවිධ විෂයයන් අළලා මාර්ටින් වික්‍රමසිංහ ලියූ පොත් පත් ලැයිස්තුවක් සකස් කරන්න.**

## විරාම ලක්ෂණ

කථා කිරීමේ දී අසන්නාට පැහැදිලි ලෙස තේරුම් ගැනීම සඳහා යම් යම් ස්ථානවල දී සුළු විරාමයක් තැබීම, හඬ උස් පහත් කිරීම, විස්මය, ශෝකය වැනි ඉරියව් මුහුණින් පළ කිරීම ආදිය සිදු කෙරේ. කථනයේ දී යෙදෙන මෙම උපක්‍රම වෙනුවට ලේඛනයේ දී යොදා ගැනෙනුයේ විරාම ලක්ෂණ යි.

### තිත (.)

◆ වාක්‍යයක අවසානයට යෙදේ.

උදා:- අපි හත් පැයක් පමණ යාත්‍රා කොට දූපතේ දකුණු පැත්තට ළඟා වීමු.

◆ පුද්ගල නාමයක මුලකුරු දැක්වීමේ දී යෙදේ.

උදා:- ඩී. එම්. එස්. දිසානායක දි. මු. විමලරත්න

◆ වචන කෙටි කර දැක්වීමේ දී යෙදේ.

උදා:- ර.මු.නී.ස. (රාජ්‍ය මුද්‍රණ නීතිගත සංස්ථාව)
ලි.ප.තැ. (ලියා පදිංචි තැපැල්)
රා.සේ.පි. (රාජ්‍ය සේවය පිණිසයි)
පෙ.ව. (පෙරවරු)
ප.ව. (පස්වරු)

## කොමාව (,)

**ලේඛනයේ විවිධ අවස්ථාවල දී කොමාව යෙදෙයි.**

◆ වාක්‍යයක කෙටි විරාමයක් දැක්වීමට කොමාව යෙදෙයි.

උදා :- දෙවන සතියේ අවසාන දවසේ රැයෙහි, ගල් ගුහාව ඉදිරියෙහි වූ ගල් තලාවක දිගා වී උන් ජින්නා නැගී, මඳක් ඈතින් වූ අනෙක් ගල්තලාවක වාඩි වී, ගඟ දෙස බලා ගෙන උන් මට හඬ ගෑවේ ය.

◆ වාක්‍යයක ආමන්ත්‍රණ පදයක් යෙදෙන්නේ නම් එය අනෙක් වචනවලින් වෙන් කර දැක්වීම සඳහා යෙදෙන්නේ කොමාව යි.

උදා :- උපාලි මහත්තයා, අර බලන්න.

◆ වචන මාලාවක් ඉදිරිපත් කරන අවස්ථාවල ඒ වචන කොමා යොදා දැක්වේ.

උදා :- මඩොල් දූවෙහි අප වාසය කළ පැත්ත ක්‍රමයෙන් එළිමහන් පෙදෙසක් වත් ම බතල, මඤ්ඤොක්කා, එළවළු ආදිය වවන ලද හේන ක්‍රමයෙන් විශාල විය.

## ප්‍රශ්නාර්ථ ලකුණ (?)

◆ ප්‍රශ්නයක අවසානයේ දී යෙදේ.

උදා :-දූපතේ ඔය පැත්තේ අවතාරයක් ඉන්නවා යැයි පොඩි ගමරාල අපට කිව්වා මතක ද?

## විස්මයාදි ලකුණ (!)

- පුදුම සහගත බව, විස්මය පළ කිරීම සඳහා යෙදෙයි.

උදා :- අර, අර බලන්න! එළිය පාත් වෙනවා, ඉස්සෙනවා. ආයිත් ගමන් කරනවා!

- ශෝකය පළ කිරීමේ දී යෙදේ.

උදා :- අනේ! ඇයි මෙහෙම වුණේ?

- ආමන්ත්‍රණවල දී හා නියෝගයන්හි දී යෙදේ.

උදා :- දරුවනේ ! ළමයිනේ !
මෙතනින් පාර මාරු වෙනු !

- ආශීර්වාදයක්, ප්‍රාර්ථනාවක් හෝ සුබ පැතුමක් කිරීමේ දී යෙදෙයි.

උදා :- සැපවේවා ! ආයුබෝවන් ! සුබ උපන් දිනයක් වේවා !

## යුගල උඩු කොමා/පෙරළි කොමා (" ")

- යමෙකු කිවූ දෙයක් යළි ඒ අයුරින් ම ලිවීමේ දී යෙදේ.

උදා:- "මේ රෑ දූපත වටේ ඔරු පදින්න ගියොත් ඔරුවේ කැලි හම්බ වෙන්නෙත් නෑ" යි ජින්නා කී ය.

- යමක් විශේෂ කොට දැක්වීමට අවශ්‍ය අවස්ථාවල දී යොදා ගැනේ.

උදා:- භාෂා රාශියකට පරිවර්තනය වූ රසවත් නවකතාවකි, මාර්ටින් වික්‍රමසිංහයන්ගේ " මඩොල් දූව."

- උද්ධෘත පාඨ සඳහා යෙදේ.

උදා:- "ගල් ලෙන බිඳලා - ලෙන් දොර හැරලා" යනු සිංහබාහු නාට්‍යයට අයත් ගීයකි.

## තනි උඩුකොමා (‘ ’)

- උද්ධෘත පාඨයක ඇතුළත තවත් උද්ධෘත පාඨයක් නැතහොත් විශේෂ ව්‍යවහාරයක් දැක්වීමට යෙදේ.

උදා:- “ජාතික වීරයන් ගැන කතා කරන විට ‘අයියණ්ඩි බිය නො වන්න මැරෙන හැටි මම පෙන්වමි’ යනුවෙන් වීර මද්දුම බණ්ඩාර කළ ප්‍රකාශය බැහැර කළ නො හැකි යැ”යි ඔහු කීවේ ය.
“ඔහුගේ නම ජිනදාස වුව ද මා ඔහුට හඬගාන්නේ ‘ජිනේ’ ‘ජින්නා’ යන නම් දෙකින් එකකිනි.”

1. **පහත සඳහන් ඡේදය විරාම ලක්ෂණ යොදමින් අභ්‍යාස පොතේ ලියන්න.**

පොඩි ගමරාල පමණක් නොව වෙනත් ගැමියෝ ද අපේ දූපතට එන්ට වූහ ඇතැම් දවසක ගඟේ සෙල්ලම් පිණිස යාත්‍රා කිරීමටත් මාළු බෑමටත් කොළඹින් පැමිණි පිරිමිනුත් ගෑනුත් ළමයිනුත් මඩොල් දූවට ගොඩ බැස එහි දී දහවල් කෑම කා ගියෝ ය අප දැන හැඳින ගත් ඔවුහු බොහෝ සන්තෝෂ වූහ ඇතැමෙක් කොළඹට එන්න යයි අපට ආරාධනා කළෝ ය මඩොල් දූව වගා කිරීම ගැන කවුරුත් අපට ප්‍රශංසා කළහ වරක් ගාල්ලේ පෙරකදෝරුවකුත් ඔහුගේ බිරිඳ සහ දුවත් පුතාත් මඩොල් දූවට පැමිණියේ පොඩි ගමරාල සමග ය අපි එදින බත් උයා මයියොක්කා තම්බා පොල් සම්බලයක් සාදා කුම්බලා කරවල උයා එයින් ඔවුන්ට සංග්‍රහ කළෙමු

# 13

# අග්ගළා කංඩෝං පුතා!

**ආහාර යනු මිනිසාගේ මූලික අවශ්‍යතාවකි. කාලයෙන් කාලයට රටින් රටට ආහාර රටා විවිධ වේ. පෝෂණය, ගුණය, අලංකාරය, වර්ණය, සුවඳ ආදිය ආහාරයේ රසය තරමට ම වැදගත් වේ. මෙම පාඩම නුවර යුගයේ ලංකාවේ පැවති ආහාර රටා පිළිබඳ රොබට් නොක්ස්ගේ වාර්තා ඇසුරින් සකස් වූවකි. ඔහුගේ *Historical Relation of Ceylon* නම් කෘතියේ ඩේවිඩ් කරුණාරත්න මහතා විසින් කරන ලද *එදා හෙළදිව* නම් අනුවාදයෙන් උපුටා ගත් තොරතුරු මෙහි අන්තර්ගත වේ.**

පැරණි ලාංකිකයාගේ ආහාර රටාව විවිධත්වයෙන් යුතු විය. රසවත් වීමත්, ගුණවත් වීමත් ආහාරයක තිබිය යුතු මූලික සාධක සේ පැරැන්නෝ සැලකූහ. ඔවුන්ගේ ආහාරය සම්පාදනය කර ගැනීම සඳහා හාලුත්, ලුණුත් තිබුණහොත් හොඳට ම ප්‍රමාණවත් ය. ඇඹුල්, ගම්මිරිස් හා ලුණු දමා පලා කොළවලින් කටට, දිවට රස ඇති කදිම ආහාරයක් සාදා ගනිති. ප්‍රධාන ආහාරය බත වන අතර සෙසු ආහාර උපයෝග කර ගනු ලබන්නේ බතට ව්‍යංජන වශයෙනි. ආහාර සම්පාදනය හා ආහාර බෙදීම පමණක් නො ව ආහාර භුක්ති විඳීම ද ඔවුහු ඉතා පිරිසිදුව කරති. ඉතා ඉක්මනටත් පිරිසිදුවටත් ආහාර පිසින්නට ඔවුහු සමත් වෙති. මෙකී ආහාර සඳහා කෙනෙක් පුරුදු වුව හොත් එකී පුරුද්ද දිගට ම පවත්වා ගෙන යති. ඒ ආහාරවල පවතින රසවත් බව නිසා ය. ආහාර වර්ග පහක් හයක් සාදන විට ඉන් මස් හෝ මාළු එකක් වෙයි. එළවළු වර්ග කිහිපයක් ඊට එකතු කරති. අල වර්ගයක් ද එකතු කරති.

ආහාර පිසීමේ දී සූදුරු, මහදුරු සේ ම රම්පේ, කරපිංචා යන ශාක පත්‍ර ද කුරුඳු පොතු ද එකතු කර ගනිති. මේවායින් ආහාරය වඩා රසවත් කර ගැනීම ලාංකිකයාගේ සිරිත ය. ලාංකිකයාගේ සාමාන්‍ය බීම වතුර ය. සෑම නිවසක ම වෙන වෙන ම පිරිසිදු ජල බඳුනක් වෙන්ව තබයි. ආහාර අනුභවයට පෙර හා පසුව අත කට සෝදා ගැනීම ඔවුන්ගේ සිරිත ය. විචිත්‍රභාවය ආහාර පිළියෙල කිරීමේ දී අනිවාර්යයෙන් දැක ගත හැකි ලක්ෂණයකි.

මේ රටේ ඇති තවත් ප්‍රධාන ආහාර වර්ගයක් නම් ඉංගිරිසියෙන් 'ජැක්' (Jack) නමින් හඳුන්වනු ලබන කොස් ය. මේ වර්ගයේ ළපටි ගෙඩිය පොළොස් නමින් ද, පැහුණු ගෙඩිය 'හෙරළි' නමින් ද ඉදුණු කල 'වැළ' හා 'වරකා'

නමින් ද මේ රටවාසීන් අතර ප්‍රකට ය. වැළ හා වරකා දෙවගයෙහි ඇති වෙනස නම් වරකා තද ය; වැළ මොළොක් ය, දොදොල් බඳු ය. මේ දෙවගයේ ගස්වල මඳ වෙනසක් ද ඇති බව පෙනේ. ලංකාවාසීන්හට බොහෝ ප්‍රයෝජනවත් වූ මේ ගසින් ඔවුන්ගේ ආහාරයෙහි සැලකිය යුතු කොටසක් පිරිමැසෙන්නේ ය. ගස තරමක් විශාලව වැඩී ගිය කල ගෙඩි හට ගනී. මේ ගෙඩි අපේ රටේ පැතැලි පාන් ගෙඩියක් තරමට විශාල ය. පිට පැත්ත කටු සහිත වූ මේ ගෙඩියෙහි පාට කොළ පාටට හුරු ය. මේ ගෙඩියෙහි ඇට ගෙඩිය පුරා මදුලු ඇතුළත පිහිටා ඇත. සිංහලයෝ මේ ඇටවලට 'බිත්තර' යැයි කියති.

සාමාන්‍ය වශයෙන් කොස් ගෙඩිය ඉදෙන්නට ප්‍රථම ගෙඩිය නෙළා ගනු ලැබේ. ගෙඩියේ පැසුණු නො පැසුණු බව දැන ගනු ලබන්නේ එහි පිටතින් සියුම් සිදුරක් කොට මදුලු කැබෙල්ලක් හෝ ඇට කැබෙල්ලක් හෝ ගෙන බලා ය. කොස් ගෙඩි පලු කොට කපා මදුළු වෙන් කොට ගෙන තම්බා, බත් වෙනුවට කුස පුරා අනුභව කරති. ඔවුන් කොස් කන්නේ අපේ රටවාසීන් 'ටර්නිප්' හෝ ගෝවා කන්නාක් මෙනි. මේ කොස් තැම්බුම රසයෙන් ද සුවඳින් ද ගෝවාවලට සමාන ය. විශාල ලෙස හට ගත් ගෙඩියක් හත් අට දෙනෙකුට සෑහෙයි. පැසී ඉදුණු කල හෙවත් වැළ හෝ වරකා වූ කල සුමධුර රසයකින් යුක්ත වූ මෙය, නො පිස ම කනු ලැබේ. පැසුණු කොස් ඇට පාටින් හා සුවඳින් පමණක් නො ව රසයෙන් ද අපේ රටේ 'චෙස්නට්' ගෙඩිවලට සමාන ය.

සාමාන්‍ය ජනතාව කොස් ඇට තම්බා කති. නැතහොත් ගිනි අළු යට දමා පුළුස්සා කති. හැම ගෙදරක ම ලොකු කොස් ඇට ගොඩක් ලිප් බොක්කේ තැන්පත් වී තිබීම සිරිතකි. සමහරු ගමන් බිමන් යන විට මග දී අනුභව කිරීමට කොස් ඇට පසුම්බියක ලා ගෙන යති. කොස් හිඟ කාලයේ දී කොස් ඇට සොයා ගත නො හැකි නිසා කොස් වාරයේ දී 'වැලි කොස් ඇට' නමින් කල් තබා ගත හැකි ආකාරයෙන් කොස් ඇට සාදා ගැනීමට ලාංකිකයා සමත් ය.

කොස් ගෙඩිය කැපූ කල තාර මෙන් ඝන වූ, එහෙත් වර්ණයෙන් සුදු වූ දියරක්, මැලියමක් ගලයි. ඇලෙන ගතියෙන් යුක්ත වූ මේ කොහොල්ලෑව කෙල්ලන් කොල්ලන් විසින් කුරුල්ලන් අල්ලන්නට උපයෝග කර ගනු ලැබේ. ඇතැම් අය මේ කොහොල්ලෑ සහල් පිටි සමග මිශ්‍ර කොට අනුභව කරන බව පෙනේ. ඒ කෑම බිත්තර බැදපු කලෙක ලෙසින් රස ය.

දෙහි ගස්වල සරු ලෙස එල හට ගන්නා කාලයේ ඔවුහු දෙහි කඩා ඇඹුල් මිරිකා මැටි බඳුනකට ගෙන ලුණු දමා ගින්නේ හෝ අව්වේ කකාරවා 'ලුණු දෙහි' දමා පසුව ප්‍රයෝජනයට ගැනීම සඳහා තබා ගනිති. ආහාර සුලබ නො වන කාලවල ගැනීම සඳහා ආහාර සැකසීමට ලාංකිකයා හුරුවක් දක්වයි. ඔවුහු විවිධ ආහාර සංරක්ෂණ ක්‍රම දැන සිටියහ. දෙහි හිඟ කාලයේ දී ලුණු දෙහි බොහෝ ප්‍රයෝජනවත් ය.



ඔවුන්ගේ රස කැවිලි විවිධ ය. ඒ රස කැවිලි අතර ප්‍රධානත්වය ගන්නා කැවුම්, සහල් පිටියෙන් හා පැණියෙන් සාදා ගනු ලැබේ. සහල් පිටි අනා ගුළි ගසා කොළපතක තබා ඇඟිල්ලෙන් පැතලි කොට පැහෙන තෙල් ඇතිලියේ බහා පදමට කර වූ පසු තෙලෙන් එළියට ගනිති. ලන්දේසින් ලංකාවට පැමිණි අවධියේ, ඔවුන් හට රාජකීය සංග්‍රහයක් කරනු කැමැති වූ කන්ද උඩරට රජු ඔවුන්ට කැවුම් පිස යවන ලෙස රාජ පුරුෂයන්ට නියම කළේ ය. එම කැවුම් කා පුදුමයට පත් වූ ලන්දේසීහු එපමණ ප්‍රණීත ආහාරයක් මිනිස් අතකින් නම් සැදිය නො හැකි යැයි සිතා 'මේවා ගස්වලින් කඩා ගන්නා දෙයක් දැ' යි ඇසුවෝලු!



අග්ගළා නමින් සාදා ගන්නා තවත් රස කැවිලි වර්ගයක් වෙයි. බැදි සහල් පිටි පැණියෙන් අනා ගම්මිරිස්, කරදමුංගු හා කුරුඳු පොතු මඳ වශයෙන් මුසු කොට මෙම ගුළි සාදා ගනු ලැබේ. මේවා ගුළි කිරීමෙන් පසු තද වෙයි. ඈත ගමන් බිමන් යෑමේ දී අග්ගළා පසුම්බිවල දමා ගෙන යෑම ඔවුන්ගේ සිරිත ය. පිටි සහ පැණි යොදා සාදා ගන්නා අලුවා නම් තවත් රස කැවිල්ලක් වෙයි.



වෙනසකට ඇත්තේ හැඩය පමණ යි. අග්ගලාව වටකුරු වූ අතර අලුවා පැතලි ය. ආහාර අහේනියෙන් හාමත් වූ විට අලුවා කා ඉක්බිති වතුර බොනු ලැබේ.

යක් පැටි නම් තවත් අහරක් වෙයි. හාල් පිටි පොල් හා හකුරුවලින් සාදනු ලබන මෙය රස අහරකි. හාල් පිටි, පැණි හා මුසු කොට කොළයක ලා වණ්ඩුවේ තම්බා ගනිති. ඉතා මොළොක් වූ මෙය බුදින විට හකුරු සමග සුදු පාන් කන බවක් හැඟෙන්නේ ය.



මෙරටෙහි තවත් මන වඩන ආහාරයක් නම් පිට්ටු ය. භාජනයකට කුරක්කන් පිටි ගෙන මඳක් දිය ඉස තරමක ඇට හෙවත් ගුළි වන තුරු අතගා දිය පිරූ සැළියක රෙදි කඩක් බැඳ හුමාලයෙන් තම්බා මෙම ගුළි සහිත ඇනූ පිටි ඒමත මුදුන් වන සේ තබා වෙනත් බඳුනකින් වසා තම්බා ගනිති. බත මෙන් කත හැකි මෙය ප්‍රණීත ආහාරයකි.

පැරණි ලංකාවේ ආහාර රටාවේ දක්නට ලැබුණු විශේෂ අංගයක් වූයේ පලතුරු ය. අන්නාසි, උක්, දෙළුම්, කැකිරි, කොමඩු, කජු, වැළ, වරකා, මොර, ජම්බු ආදි පලතුරු වර්ග ලාංකිකයා ආහාරයට ගත් රසවත් පලතුරු ය. ශරීරයට ගුණදායක, පූර්ණ පෝෂණය සඳහා හේතු වූ ස්වභාවධර්මය සමග සබඳතාවක් තිබූ අපූරු ආහාර සංස්කෘතියකට අතීත ලාංකිකයෝ උරුමකම් කීහ.

## අවබෝධය

1. පැරණි ලාංකිකයා සාදාගත් කැවිලි වර්ග දෙකක් නම් කරන්න.
2. කාලයක් තබාගත හැකි වන පරිදි ලාංකිකයා පිළියෙල කළ ආහාර වර්ග දෙකක් ලියන්න.
3. "ඇතැම් ආහාරවල ප්‍රණීත බව හේතුවෙන් ඒවා මුල් වරට ආහාරයට ගත් අයෙක් විමතියට පත් වේ." මේ බව සනාථ කරන පාඩමේ එන සිද්ධිය කුමක් ද?
4. සොබාදහම සමග බැඳුණු ආහාරපාන රටාවකට ලාංකිකයා උරුමකම් කියූ බවට නිදසුනක් ලියන්න.
5. පැරණි ලාංකිකයාගේ ආහාරපාන රටාව මගින් ලබා ගත හැකි ආදර්ශ දෙකක් ලියන්න.

## ලිඛිත අභ්‍යාස

1. **සුදුසු වචන පාඩමෙන් තෝරා ගෙන හිස් තැන් පුරවන්න.**
   - i. දෙහි හිඟ කාලයට ඔවුහු ............................ ආහාරයට ගත්හ.
   - ii. ඈත ගමන් බිමන් යාමේ දී ......................... නැමැති කැවිලි විශේෂය පැරැන්නෝ ගෙන ගියහ.
   - iii. කොස් වාරය නිම වූ පසු ආහාරයට ගැනීම සඳහා ............................... සාදා ගැනීමට ලාංකිකයා ක්‍රියා කළේ ය.
   - iv. ලාංකිකයාගේ ප්‍රධාන ආහාරය .................................. ය.
   - v. පැසුණු කොස් ගෙඩිය ............................... නමින් ද හැඳින්වේ.

2. **පහත පදවලට විරුද්ධාර්ථ පද ලියන්න.**
   - i. ආගන්තුක -
   - ii. විශේෂ -
   - iii. විදේශික -
   - iv. විවිධත්වය -
   - v. පිරිසිදු -

3. **පහත ලබා දී ඇති මාතෘකා අතරින් එකක් පිළිබඳ වාක්‍ය රචනයක් ලියන්න.**
   - i. නිරෝගිභාවය සඳහා ආහාරවල වැදගත්කම
   - ii. ‘වවන්නෝ - දිනන්නෝ ය’
   - iii. මිහිකත සුරකින - තුරුලිය
   - iv. ජල සම්පත සුරකිමු

## ප්‍රායෝගික අභ්‍යාස

1. **ඔබගේ ප්‍රදේශයට ආවේණික ආහාර සංරක්ෂණ ක්‍රම පිළිබඳ කෙටි විස්තරයක් ලියන්න.**
2. **ඔබගේ ප්‍රදේශයට ආවේණික වූ ආහාර වර්ග දෙකක් පිළියෙල කරන ආකාරය වැඩිහිටියන්ගෙන් අසා ලියන්න.**

# 14 සසඳ සසඳ හඳපානේ අපි යනවා

**උගතුන් අතර පැතිරුණු සිංහල කවිය සංස්කෘත භාෂා ඥානය හා පොත් පත් මගින් උකහා ගත් දැනුම මත සකස් වූවකි. සිංහලය හැර වෙනත් භාෂා නො දත්, පොත පතෙහි පැතිරුණු දැනුමක් නැති පොදු ජනයා අතර ද කවි සම්ප්‍රදායක් විය. එය ජන කවිය නමින් හැඳින්වෙයි. ගැමියාගේ එදිනෙදා ජීවිතය ඇසුරෙන් ලද අත්දැකීම් පාදක කර ගෙන බිහි වූ ජන කවි බොහෝ ය. ජන කවියෙන් ගැමියාගේ දුක, සතුට, තනිකම ආදි හැඟීම් ප්‍රකාශ කර ඇත. විවිධ වෘත්තීන් ඇසුරෙන් නිර්මාණය වී ඇති ජන කවි අතර පැල් කවි, ගැල් කවි, නෙළුම් කවි, පාරු කවි ආදිය දැකිය හැකි ය. මෙම පාඩමට ඇතුළත් වන්නේ ගැල් කරුවන්ගේ වෘත්තිය ඇසුරු කරගෙන නිර්මාණය වූ ජන කවි ය.**

තණ්ඩලේ දෙන්න දෙපොළේ දක්කනවා
කටුකැලේ ගාලෙ නො ලිහා වද දෙනවා
හපුතලේ කන්ද දැකලා බඩ දනවා
පව් කළ ගොනෝ ඇදපන් හපුතල් යනවා

ආරන්නේ පඳුර වට කර දලු ලන්ට
පීරන්නේ වරල තෙල් ගා ඔප වෙන්ට
මෝරන්නේ හඳේ කරුවල වැඩි වෙන්ට
තේරෙන්නේ නැද්ද මේ දුක දෙවියන්ට

සසඳ සසඳ අපි හඳපානේ යනවා
මම්මල බඳට ගොන් බානක් දක්කනවා
සත්සිය සගවුවට රෝදේ කැරකෙනවා
දත් කැකුළට අපි කුරුණෑගල් යනවා

එගොඩ ගොඩේ නා කණුවේ බැන්ද ගොනා
මෙගොඩ ගොඩේ සපු කණුවේ බැන්ද ගොනා
දෙගොඩ තලා යන වතුරට පැන්න ගොනා
අනේ මගේ රන්මුතු වල්ලියා ගොනා

කළුගල් තළාලයි පාරට දමන්නේ
එම ගල් පැගිලයි ගොන් කුර ගෙවෙන්නේ
ගොනා නොවෙයි හරකයි බර අදින්නේ
කිරිගල් පොත්ත කන්දයි මේ ගෙවෙන්නේ

වයිර ගොනා දණ ගහලා අදින කොට
මයිල ගොනා පැන්නයි පස්සට හොරට
මොකද කරන්නේ පූරුවේ කළ පවට
පව් කළ ගොනෝ ඇදපන් ගාල ගාවට

බතට කන්න බැරි බතලේ ගල කන්ද
අලට කන්ට බැරි අලගල්ලේ කන්ද
හුනට කන්ට බැරි හුන්නස් ගිරි කන්ද
මෙකඳු තුනට නායක සමනල කන්ද

කඳු ඇදලා දෙපයට සවි නැත ඉතිනේ
බර ඇදලා ඉල ඇට පොඩිවිය තදිනේ
දුක සිතිලා ගම නෑයන් මතක් උණේ
ගම ඉඳලා වත් පණ යන්න නො ලැබුණේ

## අවබෝධය

1. “හපුතලේ කන්ද දැකලා බඩ දනවා” යන පද්‍ය පාඨයෙන් හැඟවෙන ව්‍යංග්‍යාර්ථය කුමක් ද?
2. ගැල්කරු සහ ගොනා විඳි දුක් ගැහැට වඩාත් ගම්‍ය වන කවිය උපුටා දක්වන්න.
3. “එගොඩ ගොඩේ නා කණුවේ බැන්ද ගොනා ...” යන කවියෙන් ඔබට හැඟෙන දේ විස්තර කරන්න.

## ලිඛිත අභ්‍යාස

1. පහත දැක්වෙන නාම පදවල බහු වචන පද ලියන්න.
   ගොනා, හරකා, නැයා, ගස, පඳුර, කණුව, කළුගල, පාර, කන්ද,

2. පහත දැක්වෙන පදවලට සමානාර්ථ දෙන පද පාඩමෙන් උපුටා දක්වන්න.

| | | | | | |
|---|---|---|---|---|---|
| i. | කොණ්ඩය | - | vi. | කුලුන | - |
| ii. | දොම්නස | - | vii. | ඥාතීන් | - |
| iii. | පෙර | - | viii. | හිංසා | - |
| iv. | මාර්ගය | - | ix. | කුස | - |
| v. | ශක්තිය | - | x. | අන්ධකාරය | - |

## ප්‍රායෝගික අභ්‍යාස

1. මෙම කවි පෙළ තාලානුකූලව ගායනා කරන්න.
2. විවිධ වෘත්තීන් ආශ්‍රිතව ලියවුණු ජන කවි එකතු කොට කුඩා පොතක් සකස් කරන්න.
3. "ගැල්කරුවකුගේ ජීවිතය" යන මැයෙන් රචනයක් ලියන්න.
4. පහත දැක්වෙන රූපයට සම්බන්ධ ජන කවියක් සොයා ලියන්න.



15

# ‘සදා මෙලෙස පුර දෙරණේ’

**සිංහලය ස්වාධීන භාෂාවක් සේ වර්ධනය වීම හා සමගාමීව සිංහල කවිය ද වර්ධනය වූ බව දැනට ඉතිරි වී ඇති පැරණි ම සිංහල කාව්‍ය නිර්මාණවලින් පැහැදිලි වෙයි. සිංහල භාෂාවෙන් ලියැවුණු පැරණි ම සිංහල කාව්‍ය නිර්මාණ අපට හමු වන්නේ සීගිරියේ කැටපත් පවුරිනි. ඉන් පසුව ලියැවුණු සිංහල කවි පොත් රාශියකින් කිහිපයක් ආරක්ෂා වී පරපුරෙන් පරපුරට පැවත එමින් සිංහල කාව්‍ය ඉතිහාසය දීප්තිමත් කරයි. *කව්සිළුමිණ, සැළලිහිණි සන්දේශය, ගුත්තිලය, සුභාෂිතය, ලෝකෝපකාරය* ඒ අතරින් කිහිපයකි. අපේ පැරණි කවි පොත් දෙකකින් උපුටා ගත් කවි කිහිපයක් මේ පාඩමේ දැක්වේ.**

## කාව්‍යශේඛරය

**කාව්‍යශේඛරය** තොටගමුවේ ශ්‍රී රාහුල හිමිපාණන් විසින් රචනා කරන ලද කෘතියකි. කෝට්ටේ රාජධානි සමයට අයත් මෙම කාව්‍ය ග්‍රන්ථය සඳහා පාදක වී ඇත්තේ **පන්සිය පනස් ජාතක පොතෙහි** එන ‘සත්තුභත්ත ජාතකය’ යි. පහත දැක්වෙන්නේ කාව්‍යශේඛරයේ තුන් වන සර්ගයේ එන කවි කිහිපයකි.

1. දත් කැකුළු පෑ ලා
සුරතල් සිනා සී ලා
බොළඳ බස් දී ලා
කෙළි සියලඟ දූලි ගා ලා

2. කඳ කුමරිඳු ලෙසි න
බමුණු පැටියන් සමගි න
නො මඳ සව් ඉසුරෙ න
වැඩිණි නව සඳ මෙන් දිනෙන් දින

3. ඉඟුරු දුරු ඈ යුතු
මල්ගොමු හා වවා වතු
ගව මී තමා නතු
දසුන පිළිවිස බලව ඇති තතු

4. ඉරු ගිලෙන දව සේ
ගහණ ද පොහෝ දව සේ
සඳ සිකුරු දව සේ
ගොමින් පිරිබඩ ගනුව නිව සේ

5. නිති ගේ දොර ඇමද
කැලි කසළ දැක නොම ඉඳ
උදාසන සවස ද
පහන් දල්වව විමන නො වරද

## අරුත් පැහැදිලි කිරීම

| | | |
|---|---|---|
| සියලඟ | - | සර්වාංගයෙහි/ඇඟ පුරා ම |
| දූලි | - | දූවිලි |
| කඳ කුමරිඳු | - | ස්කන්ධ කුමාර/කතරගම දෙවියා |
| බමුණු පැටියන් | - | බ්‍රාහ්මණ කුමාරයන් |
| නොමඳ | - | අප්‍රමාණ |
| සව් ඉසුරෙන | - | සකල ආශ්චර්යයෙන්, සියලු සැප සම්පතින් |
| නව සඳ | - | අමාවකට පසු දා අහසේ පායන සඳ |
| දුරු | - | දුරු වර්ග (සූදුරු/මහදුරු ආදි) |
| ඈ යුතු | - | ආදිය සහිත |
| තමා නතු | - | තමන් සන්තක |
| පිළිවිස | - | විමසා |
| පිරිබඩ | - | පිළිසකර කර |
| විමන | - | නිවස |
| ගහණ | - | ග්‍රහණය (සූර්ය ග්‍රහණය/චන්ද්‍ර ග්‍රහණය) |

## ගුත්තිල කාව්‍යය

**ගුත්තිල කාව්‍යය** වැත්තෑවේ හිමිපාණන් විසින් රචනා කරන ලද කෘතියකි. මෙය ද කෝට්ටේ අවදියට අයත් කෘතියකි. ගුත්තිල කාව්‍යය සඳහා පාදක වී ඇත්තේ **පන්සියපනස් ජාතක පොතේ** එන 'ගුත්තිල ජාතකය' යි. **ගුත්තිල කාව්‍යයේ** එන 'උදේනි පුර සැණකෙළිය' නමැති කොටසෙන් පහත දැක්වෙන කවි උපුටා ගෙන ඇත.

1. සඳවා සුදු වැලි පිවිතුරු
බඳවා රන් දද පියකරු
සිටුවා දොර දොර රඹතුරු
තබවා පුන්කුඹු විසිතුරු

2. උදා දිනිඳු කර හරණේ
විදා අඳුරු දිසි කිරණේ
යොදා දෙපස රන් තොරණේ
සදා මෙලෙස පුර දෙරණේ

### අරුත් පැහැදිලි කිරීම

| | | |
|---|---|---|
| පිවිතුරු | - | පවිත්‍ර වූ |
| රන් දද | - | රත්තරන් කොඩි |
| රඹතුරු | - | කෙසෙල් ගස් |
| පුන්කුඹු | - | පුන්කලස් |
| දිනිඳු | - | සූර්යයා |
| දෙපස | - | දෙපැත්තේ |
| පුර | - | නගර |

### අවබෝධය

1. කාව්‍යශේඛරයේ දැක්වෙන කුමරු, කුඩා දරුවකු ලෙස නිරූපණය කළ හැකිරීම් මොනවා ද?
2. කාව්‍යශේඛරයෙන් උපුටා ගෙන ඇති දෙවන කවියේ එන උපමා දෙකක් නම් කරන්න.

3. ගුත්තිල කාව්‍යයේ සඳහන් පරිදි සෑම නිවසක් පාසා ම තබා ඇත්තේ මොනවා ද?
4. උදේනි පුරය සැණකෙළි සිරියක් ගත් බවට නිදසුන් දෙකක් උපුටා දක්වන්න.
5. 'සඳවා සුදු වැලි පිවිතුරු' කවිය කියවීමේ දී ඔබට හැඟෙන දේ කෙටියෙන් ලියන්න.

## ලිඛිත අභ්‍යාස

1. **පහත සඳහන් පදවලට සමානාර්ථ පද ලියන්න.**

   i. නො මඳ -
   ii. නිති -
   iii. පිවිතුරු -
   iv. පුන්කුඹු -
   v. දිනිඳු -

2. **පාඩමේ එන කවිවලින් උපුටා ගෙන ඇති පහත සඳහන් පදවල අර්ථ පැහැදිලි කරන්න.**

   i. බොළඳ බස් -
   ii. දසුන -
   iii. මල්ගොමු -
   iv. පිවිතුරු -
   v. පියකරු -

3. **පාඩමේ ඇතුළත් කවිවල අර්ථ ලියන්න.**
4. **මෙම පාඩමෙන් ජීවිතයට ලබා ගත හැකි ආදර්ශ දෙකක් නම් කරන්න.**

## ප්‍රායෝගික අභ්‍යාස

1. **'ඔබ උදේනි පුර සැණකෙළිය' නැරඹුවා යැයි සලකා පන්තිය ඉදිරියේ කථාවක් කරන්න.**
2. **'කාව්‍යශේඛරයෙන් ජීවිතයට ගත හැකි ආදර්ශ' මැයෙන් කථාවක් කරන්න.**
3. **ඔබ දුටු සැණකෙළියක් පිළිබඳ කවි කිහිපයක් හෝ රචනයක් ලියන්න.**

# 16 මරණ තුනක් ඇති මිනිසෙක් පැණි කෑ ය ...

**කිසියම් අවස්ථාවකට ගැළපෙන පරිදි යොදා ගත හැකි පැරණි කියමනක් ප්‍රස්තාව පිරුළක් ලෙස හැඳින්වේ. ප්‍රකාශ කළ යුතු දේ ඉතා පැහැදිලිව කෙටියෙන් මෙන් ම සිත් ගන්නා ආකාරයට ඉදිරිපත් කිරීමට ප්‍රස්තාව පිරුළ මනා පිටුබලයක් වේ. මිනිසුන්ගේ අත්දැකීම්, වටපිටාව ආශ්‍රිතව ගොඩ නැගී ඇති මෙබඳු පිරුළුවලට පසුබිම් වූ රසවත් කතා පුවත් ද බොහෝ විට දැකිය හැකි ය. ප්‍රස්තාව පිරුළුවලට පදනම් වූ කතා රැස් කොට ප්‍රේමදාස ශ්‍රී අලවත්තගේ විසින් සම්පාදනය කරන ලද *පිරුළු කතා* කෘතියෙන් උපුටා ගත් කතාන්දර තුනක් මේ පාඩමට ඇතුළත් වේ.**

## ගඟට ඉනි කැපුවා වාගේ

එක් ගැමියෙක් බුලත් කොරටුවක් වැවීමට අදහස් කළේ ය. කොරටුවේ බුලත් වැල්වලට සිටුවීම සඳහා හොඳ පැළ ඉනි ඕනෑ විය. ඒ නිසා ඔහු එක් දිනක් පාන්දරින් ම නැගිට ඇත කැලෑව බලා පිටත් වූයේ පැළ ඉනි තොගයක් කපා ගැනීම සඳහා ය.

මද්දහන වනතුරු ම ඔහු මහත් සේ වෙහෙස දරා හොඳ හොඳ පැළ ඉනි තෝරා ගෙන කප කපා ගොඩ ගැසුවේ ය. අන්තිමේ දී විසාල ඉනි ගොඩක් එක් රැස් වී තිබුණි.

"මෙච්චර ඉනි ගොඩක් මං කොහොම ද තනිව ම උස්සාගෙන යන්නෙ?" ඔහු කල්පනා කෙළේ ය.

ඔහු ඉනි කපමින් සිටියේ ගං ඉවුරක යි. හදිසියේ ම ගඟ දුටු ඔහුට හොඳ අදහසක් පහළ විය.

"මේ ගඟ ගලන්නෙ අපේ ගම මැද්දෙන්. ඉතින් මේ ඉනි ටික ඔක්කොම ගඟට දැම්මොත් ගඟේ වතුර පාරට ගඟ දිගේ නො වැරදී ම ගමට යාවි. ඔව්, මේව උස්සගෙන ගිහිල්ලා නිකං මහන්සි වෙන්න ඕනෙ නෑ" ඔහු සිතුවේ ය.

අනතුරුව ඔහු කැපූ ඉනි සියල්ල ම ගඟට දැම්මේ ය. ඒවා ගඟේ සැඩ පහරට අසුව ගසා ගෙන ගොස් නො පෙනී ගියේ ය. ඔහු ආපසු ගමට ගියත් පැළ ඉනි නම් දකින්නට ලැබුණේ නැත.

## මරණ තුනක් ඇති මිනිහෙක් පැණි කෑවා වාගේ

වනාන්තරයේ ඇවිද ගෙන ගිය එක් මිනිසකුට හදිසියේ ම අලියෙක් මුණ ගැසුණි. තනි අලියා බිහිසුණු ය. ඌ මිනිසා පසුපස පන්නා ආවේ ය. ඔහු මර බියේ දිව යද්දී කැලෑව මැද වූ පාළු ළිඳකට රූටා වැටුණේ ය.

ඔහු පහළට වැටෙන විට ළිඳ තුළ එල්ලෙමින් තිබූ වැල් දෙපොටක් දෑතට හසු වූ බැවින් එම වැල් දෙපොටේ දෑතින් එල්ලී ගත්තේ ය. ඒත්, එක අතකට හසු වී තිබූ වැල් පටේ කරවැලා නම් වූ සර්පයෙක් ද විය. මිනිසාගේ අතට තරයේ හසු වී සිටි නිසා සෙල වී ගත නො හැකිව සිටි කරවැලා කෝපයට පත්ව සිටියේ ය. අත මඳක් හෝ බුරුල් වුණොත් ඌ සපා කනු නියත ය.

ඔහු පහළ බැලුවේ ය. ළිඳ පතුළේ නාගයෙක් දරණ ගසා පෙණය නඟා ගෙන බලා සිටී. ළිඳට වැටුණොත් ඌ දෂ්ට කරනු නිසැක ය. එයින් ද සසල වූ ඔහු ඉහළ බැලුවේ ය. ළිං කට අසල තනි අලියා හොඬ ඔසවා ගෙන රැක සිටී. ඒ මොහොතේ ඔහු තුන් ලෙසකින් මරණ තුනකට ළංව සිටියේ ය.

මිනිසාගේ අනෙක් අතට හසු වී තිබූ වැල්පටේ මී වදයක් තිබුණි. මී වදය අතට පොඩි වීම නිසා ඉන් මී පැණි බේරුණි. ඒ පැණි ඔහුගේ අත දිගේ ද ගලා ආවේ ය. මරණ තුනකට මැදිව ඉතා බිහිසුණු මොහොතකට මුහුණ පා සිටිය ද පැණි දුටු විට ඔහු ඒ කෙරෙහි ලොල් විය. සියල්ල මඳකට අමතක කළ ඔහු හිස හරවා අත දිගේ බේරෙන පැණි දිව ගා කන්නට පටන් ගත්තේ ය.

| | |
|---|---|
| වනේ ගිජිඳා ය දුටුවොත් | වනසා ය |
| ළිඳේ පණිඳා ය වැටුණොත් | ඌ කා ය |
| අතකින් කරවැලෙකි අතකින් | දඬු බැය |
| මරණ තුනක් ඇති මිනිසෙක් | පැණි කෑ ය |

# ඇට් කෙහෙල් කාපු උගුඩුවා වාගේ

උගුඩුරාල ඇට් කෙහෙල්වල අගුණ හොඳින් දැන සිටියේ ය. ඒ තරමට බඩට අසීරු වෙනත් කෑමක් නැති බව මුළු උගුඩු පරපුර ම දනී. ඒ නිසා උගුඩුරාල සිය උගුඩු පැංචාට ද ඇට් කෙහෙල් ගැන අනතුරු අඟවමින් අවවාද කිරීමට අමතක නො කෙළේ ය.

"ඇට් කෙහෙල් කනවා තියා ඒවා ගැන හිතන්න වත් එපා" යැයි උගුඩුරාල කී විට පැංචා හිස වනා ඒ අවවාද පිළිගැනීමට එකඟ විය.

එහෙත් එහා කැලෑවේ ඇට් කෙහෙල් මලක් වැටී, පැසී, ඉදී සුවඳ හමන්නට වූ විට පැංචාට මහත් අමුත්තක් දැනිණි. ඒ සමග ම තාත්තාගේ අවවාදය ද මතක් විය.

"එහා කැලෑවට ගියාට මොකද? මං ඇට් කෙහෙල් කන්නෙ නෑ නොවැ" කියා සිතූ ඌ එහා කැලෑවට ගියේ ය. "ගහ අතගාලා බැලුවට කාරියක් නෑනෙ" කියූ ඌ ගහ අත ගා බැලුවේ ය.

"ගහට ටිකක් නැගලා බැලුවට වරදක් වෙන්නෙ නෑ" යැයි තමාට ම කියා ගත් ඌ ගහට බඩ ගෑවේ ය.

"ඇට් කෙහෙල් ටිකක් ඉඹලා බලන්න ඕනෙ. කන්නෙ නම් නෑ" කියා ඌ ඇට් කෙහෙල්වලට නහය තැබුවේ ය.

"අපූරු සුවඳ! එක ගෙඩියක් අරං කටේ තියල රහ විතරක් බලන්න ඕනෙ. කන්න නම් හොඳ නෑ" කියූ ඌ ගෙඩියක් කටේ තබා බැලී ය. ඒවා රසවත් බව ඌට වැටහිණි.

"පොඩි කෑල්ලක් කාලා බලන්න ඕනෙ. ගොඩක් නම් කන්නෙ නෑමයි" කියූ ඌ කුඩා කෑල්ලක් කා බැලුවේ ය. ඒත් ඒවා ඉතා රස බව දැනුණු ඌ ගෙඩිය ම කා දැම්මේ ය.

"දැං ඉතින් එකක් කාපු එකේ තව දෙක තුනක් කාලා ම යන්න ඕන" කියා සිතූ ඌ කෙමෙන් මුළු ඇට් කෙහෙල් කැන ම කා දැම්මේ ය.

මල පහ කරන්නට ගිය උගුඩු පැංචාට ඇතිවුණේ සුළු පටු අපහසුවක් නොවේ. "අනේ දෙයියනේ, තාත්තගෙ අවවාදෙ පිළිපැද්දා නම් කොච්චර හොඳ ද? අපොයි මං කර ගත්තු මෝඩකමක්!" යැයි කියමින් උගුඩු පැංචා ඉකිබිඳිමින් හඬන්නට වූයේ ය.

## අරුත් පැහැදිලි කිරීම

| | | |
|---|---|---|
| සැඩ පහර | - | වේගවත් දිය පහර |
| බිහිසුණු | - | බය උපදවන |
| ගිජිඳා | - | ඇත් නායකයා, හස්තිරාජයා |
| පණිඳා | - | නාගයා, නාග රාජයා |
| අසීරු | - | අමාරු, අපහසු |
| කෙහෙල් මලක් වැටෙනවා | - | කෙසෙල් කැනක් හට ගැනීම |
| කෙමෙන් | - | ක්‍රමයෙන්, පිළිවෙළින් |
| මල පහ කරනවා | - | අශූචි පිට කිරීම |
| තරයේ | - | තදින් |

## අවබෝධය

1. පළමු කතාවේ ගැමියා පහසුවෙන් ඉනි ගෙන යාමට භාවිත කළ උපක්‍රමය කුමක් ද?
2. ආපසු ගමට ගිය ගැමියාට පැල ඉනි දැකීමට නො ලැබුණේ ඇයි?
3. වනාන්තරයේ ඇවිද ගෙන ගිය මිනිසාට මුහුණ දීමට සිදු වූ අනතුරු කෙටියෙන් නම් කරන්න.
4. උගුඩු පැංචා එහා කැලෑවට ගොස් කළ දේවල් අනුපිළිවෙළින් ලියන්න.
5. තාත්තාගේ අවවාදය නො පිළිපැදීම නිසා උගුඩු පැංචාට සිදු වූ අකරතැබ්බය කුමක් ද?

## ලිඛිත අභ්‍යාස

1. පහත සඳහන් වචනවලට සමානාර්ථ වචන පාඩමෙන් තෝරා ලියන්න.

| | |
|---|---|
| i. මහන්සිය | vi. නදිය |
| ii. ජලය | vii. මධ්‍යහ්න |
| iii. කැලය | viii. කේන්තිය |
| iv. චංචල | ix. පරම්පරාව |
| v. ක්‍රමයෙන් | x. උදරය |

2. එම වචනවලට සමාන අර්ථය ඇති ඔබ දන්නා වෙනත් වචන ලියන්න.

3. පහත සඳහන් වචනවලට විරුද්ධාර්ථ පද පාඩමෙන් සොයා ලියන්න.

| | |
|---|---|
| i. මැත | ii. කුඩා |
| ii. පුළුල් | iv. නරක |
| iii. සැක | vi. තද |
| vii. දුගඳ | viii. පහසු |
| ix. අමතක | x. පහළ |

4. එම විරුද්ධාර්ථ පද යොදා අර්ථවත් වාක්‍යය බැගින් නිර්මාණය කරන්න.

## විශේෂණ පද

නාම පදයක හෝ ක්‍රියා පදයක මුලට යෙදී ඒ පද තව දුරටත් විස්තර කිරීම සඳහා භාවිත වන පද, විශේෂණ පද බව ඉහත සාකච්ඡා කළෙමු. මේ පද විශේෂය දෙයාකාර වේ.

i. නාම විශේෂණ
ii. ක්‍රියා විශේෂණ

### නාම විශේෂණ

නාම පදයක මුලට යෙදී එය වැඩි දුර විස්තර කරනු ලබන පද, නාම විශේෂණ ලෙස හැඳින්වේ.

උදාහරණ:-

i. "කියවීම සඳහා **හොඳ** පොතක් තෝරා ගන්න" යයි ගුරුතුමා පැවසුවේ ය.
ii. අත්තම්මා **සුදු** සාරිය හැඳ සිටී.

### ක්‍රියා විශේෂණ

ක්‍රියා පදවලට මුලින් යෙදී එම පද වැඩි දුරට විස්තර කරනු ලබන පද, ක්‍රියා විශේෂණ යි.

උදාහරණ:-

i. ක්‍රීඩකයා **වේගයෙන්** දුවයි.
ii. ළදරුවා **හයියෙන්** අඬයි.

## ලිඛිත අභ්‍යාස

1. පහත සඳහන් නාම පද සඳහා විශේෂණ පද ලියන්න.
   i. විදුහල
   ii. මිනිසා
   iii. කුරුල්ලා
   iv. පන්තිය
   v. ගීතය
2. එම විශේෂණ පද සහිත නාම පද යොදා අර්ථවත් වාක්‍යය බැගින් නිර්මාණය කරන්න.
3. පහත සඳහන් වාක්‍යවල ක්‍රියා පද සඳහා විශේෂණ පද ඇතුළත් කර නැවත ලියන්න.
   i. ගුරුතුමා පාඩම ඉගැන්නුවේ ය.
   ii. "ඔබට සිදු වූ විපත පවසන්න."
   iii. පොලිස් නිලධාරීහු අනතුර සිදු වූ ස්ථානයට දිවුවෝ ය.
   iv. ශිෂ්‍ය ශිෂ්‍යාවෝ උදෑසන රැස්වීමට සහභාගි වූහ.

## ප්‍රායෝගික අභ්‍යාස

1. ප්‍රස්තාව පිරුළුවලට අදාළ කතන්දර එක් කර පොත් පිංචක් සාදන්න.
2. වර්තමානයේ නිර්මාණය වී ඇති ප්‍රස්තාව පිරුළු කිහිපයක් සොයා ලියන්න.
3. වෙනත් ප්‍රස්තාව පිරුළකට පාදක වූ කතාවක් තෝරා ගෙන එහි අවස්ථා චිත්‍ර කතාවක් ලෙස ඉදිරිපත් කරන්න.
4. පන්තියේ සිසුන් කණ්ඩායම් කිහිපයකට බෙදී ප්‍රස්තාව පිරුළුවලට පාදක වන කතාව බැගින් තෝරා ගෙන එය නාට්‍යානුසාරයෙන් ඉදිරිපත් කරන්න.

# 17

# පුංචි පැළේ ගස වෙනා



**සාහිත්‍ය නිර්මාණකරණයෙහි ලා ලේඛකයාගේ ළමා වියේ අත්දැකීම් නිසැකව ම බලපායි. ලෝක ප්‍රකට ශ්‍රේෂ්ඨ සාහිත්‍යධරයන් මෙන් ම විශිෂ්ට ගණයේ ලේඛක චරිත හා ඔවුන්ගේ නිර්මාණ ඇසුරෙන් එය අප කොතෙකුත් අත්දැක ඇත. ඇතැම් ලේඛකයන් තම ළමා වියේ අත්දැකීම් එක් කර සිය චරිතාපදානය ලියා තැබීමට උත්සුක වූයේ ද ඒ නිසා ම විය යුතු ය.**

**නූතන සිංහල සාහිත්‍ය ක්ෂේත්‍රයේ ප්‍රකට, පුරෝගාමී ලේඛකයකු වන කේ. ජයතිලකගේ 'පුංචි පැළේ ගස වෙනා' කෘතිය ස්වයං චරිතාපදානයකැයි කිය හැකි ය. ඒ ඇසුරෙන් මෙම පාඩම සකස් කර ඇත.**

පවුලෙන්, ගම් දොරෙන් මතු නො ව පාසලෙන් හා අධ්‍යාපනයෙන් ද ගුරු භවතුන් හා සම වයස් දරුවන් ඇසුරෙන් ද යමකුගේ සිසු අවධියත් බාල අවධියත් දලු ලා වැඩෙන රඟ අපි කවුරුත් පාහේ දනිමු. කේ. ජයතිලකයන්ට ද එය එසේම වූ අතර ඔහුගේ චරිතයේ මුල් අතු ඉති දලු ලන්නට ගත්තේ රදාවාන පාඨශාලාවේ ඉගෙනුම ලබන අවධියේ දී ම ය. "හැදෙන ගහ දෙපෙත්තෙන් දැනේ" යන ප්‍රකට ජන කියමන සැබෑ කරමින් අපගේ ප්‍රධාන චරිතයේ පියමං ලකුණු ඒ පාසල් සමයෙන් මතුව ආ අයුරු පාසලත්, පාසලේ දී තමාට මග පෙන් වූ ගුරුභවතුන් හා සමකාලීන මිතුරන් ගැනත් ඔහු කරන මේ සඳහනෙන් කියැවේ.

"ග්‍රාමීය අධ්‍යාපන ක්‍රමය යටතේ අපට ගම්මුන්ගේ ගෙවල්වල උළු සෙවිලි කර දීම, කුඹුරු වැඩ කර දීම ආදියෙහි ද යෙදෙන්නට සිදු විය. අප විසින් දුප්පත් පවුල් දෙකකට වැසිකිළි දෙකක් තනා දෙන ලදි. මේ වැඩ, විශේෂයෙන් අනුන්ට වැසිකිළි තැනීම දෙමවුපියන්ගේ තදබල දෝෂාරෝපණයට ලක් විය. එසේ වුවත් ඔවුන් තුළ වූ කිසියම් හික්මීමක් නිසා පාසල විසින් ගෙන යන

කවර ව්‍යාපාරයකට හෝ සංවිධානය වූ විරෝධයක් නො පාන ලදි. මේ වැඩවල යෙදීම නිසා අපේ ඉගෙනීමට බාධා වූයේ යැයි නො සිතිය යුතු. නියඟකින් වේළී ගිය පෙදෙසක පිහිටි ගොවිපළක් හදිසියේ ලද වර්ෂාවකින් ප්‍රාණවත්ව දලු ලන්නා සේ අපේ ඉගෙනීම ද ප්‍රබෝධවත් විය. මේ පිටිසරබද කුඩා පාසලින් විවිධ ක්ෂේත්‍රවල දක්ෂතා හිටි අඩියේ මතු වන්නට විය. ගමේ අනුරුවක් ඉස්කෝල වත්ත මැද තැනිණි. ශිෂ්‍යයන් විසින් ම ගබඩා කාමරයක් ගොඩ නැඟිණි. වත්ත පිටිය මල් පලතුරුවලින් ගැවසී ගියේ ය. සිසුහු නාට්‍ය දෙකක් රඟ දැක්වූහ. ඉන් එකක ප්‍රධාන අමුත්තා වූයේ එවක පළාත් පාලන ඇමතිත් පළාතේ මන්ත්‍රීවරයාත් වූ ඇස්. ඩබ්ලිව්. ආර්. ඩී. බණ්ඩාරනායක ය. මේ පිළිබඳ විස්තර පුවත්පත්වල පළ විය. නාට්‍යයෙන් ලද ලාභයෙන් පාසලට ගුවන්විදුලි යන්ත්‍රයක් මිල දී ගැනිණි. ළමයි ගුවන්විදුලි ගායනා තරගවලට ඉදිරිපත් වූහ. (මුලින් ම මේ සඳහා ඉදිරිපත් වූයේ ඇම්.ජී. සමරසේකර - පසුව මහගම සේකර - ශිෂ්‍යයා ය.) සේකර ගායකයකු මෙන් ම දක්ෂ නළුවෙක් ද විය. නාට්‍යවල කවටයාගේ චරිතය, රඟපෑවේ ඔහු ය. මම ද එක් නාට්‍යයක රඟපා ඇත්තෙමි. ඒ විජය නාට්‍යයෙහි තාපසයා හැටියට ය. තාපසයකු හැටියට පෙනී සිටීමට මට රඟපෑමක් අවශ්‍ය නො වී ය! මා දකුණත ඔසවා "විජය තොපට ජය වේවා!" කියත් ම විජය ඇතුළු පිරිස මා ඉදිරියේ දණින් වැටී නමස්කාර කරති.

අප කොතරම් කියවීමෙහි ගැලී සිටියත් සාහිත්‍යය පිළිබඳව ක්‍රමානුකූල දැනුමක් හා නියම රුචියක් අප තුළ වගා කරන ලද්දේ ජයසේකර මහතා විසිනි. 'සිංහල රචනය' ආදි පොත් කිහිපයක් ලියා ඇති ගම්හේවා ගුණවර්ධනගේ (අබිරම් ගම්හේවාගේ සොහොයුරු) මිත්‍රයකු වූ ජයසේකර මහතා කුමාරතුංගගේ 'හෙළ' ශෛලියට බර වූවෙක් විය. එවකට සිංහල සාහිත්‍යයෙහි ක්‍රියාත්මක ව තිබූ ප්‍රධාන බලවේගය එය ම විය. මෙහෙයින් අප ද ලද්දේ හෙළයට නැඹුරු වූ සාහිත්‍ය රුචියකි.

ඔහු අපට සාහිත්‍යය ඉගැන්වීම ආරම්භ කරන ලද්දේ අටවැනි ප්‍රමාණයේ දී ය. අවුරුදු තුන හතරක් ගත වන කලියෙන් **කව්සිළුමිණ** දක්වා වූ සෑම පැරණි සිංහල සාහිත්‍ය ග්‍රන්ථයක් ම මා කියවා තිබුණේ යැයි කීම අතිශයෝක්තියක් නොවේ. මේ කාලයේ දී මගේ ස්මරණ ශක්තිය ද අධික විය. **ගුත්තිලයෙහි** අගය කිසිවකු අපට පෙන්වා දී නො තිබුණු නමුත් එයින් භාගයක් පමණ මට කට පාඩමෙන් කිව හැකි විය. **උම්මග්ග ජාතකයේ** මුල් පිටු ගණනක් ම මතක තිබිණ. ඩබ්ලියු. ඒ. සිල්වාගේ නවකතාවල සමහර කොටසුත්, ඊ. තෙන්නකෝන්ගේ **වවුලුවෙන්** විශාල කොටසකුත් එක දිගට ම මතකින් කිව හැකි විය. එපමණක් නො ව කුමාරතුංග විවරණ ග්‍රන්ථ මා කියවූයේ නවකතාවක් කියවන

තරමේ ම අභිරුචියකිනි. කුමාරතුංගට සිය බහුශ්‍රැතතාව ඉක්මවා යන නිර්මාණ ශක්තියක් තිබිණි. වචනයක් දෙකක් වෙනස් කොට අනුන්ගේ නීරස කවියකට පවා රස බහා ලීමේ පුදුම ශක්තියක් ඔහුට තිබිණ.

මීට අවුරුදු කිහිපයකට පසු **කව්සිළුමිණේ** එක ද කවියක් වත් තේරුම් ගැනීමට නුපුළුවන් ව සිටි තැනැත්තකුට අවසාන ගුරු විභාගය සඳහා මම එය කියා දුනිමි. ගුරු විභාගයට **කව්සිළුමිණ** ගැන ඉතා ගැඹුරු දැනීමක් බලාපොරොත්තු වූයේ නැති බව සැබවි. එසේ වුවත් ඔහු ඉන් සමත් වීමෙන් පෙනී යන්නේ ඒ පොත් පිළිබඳ සෑහෙන අවබෝධයක් මට තිබුණු බවයි. මීටත් පසු කාලයෙහි ලන්ඩන් විශ්වවිද්‍යාලයේ සිංහල ගෞරව උපාධියට පෙනී සිටි අවස්ථාවේ දී පවා නියමිත පොත් වරක් කියවූවා විනා විශේෂ අධ්‍යයනයක් නො කෙළෙමි.

ජයසේකර මහතා මට වඩාලාත් අමතක නො වන්නේ අන්‍යතර වූ හේතුවක් නිසා ය. ඔහු සිය ගොවිපළේ සියලු පැළෑටීන්ගෙන් එක ම ප්‍රතිඵල අපේක්ෂා නො කෙළේ ය. ඔහු ඒ එකිනෙකෙන් ගෙඩි, මල්, කරල්, අල, මුල්, ඉදල් ආදි වශයෙන් විවිධ වූ ප්‍රතිඵල බලාපොරොත්තු විය. ඔහු ඒවාට සාත්තු සප්පායම් කළේ ද ඒ අනුව ය. මේ ගොවිපළේ ක්ෂණිකව වැඩුණු උඳු, මුං, මිරිස් අතර මම එසේ ක්ෂණිකව නො වැඩුණු කජු පැළයක් වීමි. මේ උපමාව මසිතට නඟින්නේ ජයසේකර මහතා පැමිණීමට බොහෝ කලකට ඉහත, එනම්; මා පළමුවැනි හෝ දෙවැනි ප්‍රමාණයේ දී උගත් පුංචි කවියක් හේතු කොට ගෙන ය. කුමන කරුණක් නිසා හෝ ඒ කවිය මගේ සිතට ද තදින් කා වැදී ඇත.

පාඨශාලා භූමියේ පිහිටි සෙල්ලම් පිට්ටනියට ඔබ්බෙන් අතු පතර විදහා ගත් විශාල කජු ගසක් විය. මේ ගස යට වූයේ මැටි බිමකි. එහි එක ද තණ කොළයක් වත් නො වී ය. ගසෙන් වැටෙන වියළි කජු කොළ ද දිනපතා අහුලා ඉවත දමනු ලැබ පිරිසිදුව පැවැත්තේ ය. පාසලේ එළිමහන් පන්ති පැවැත්වූයේ මෙතැන ය. අපි ගුරුවරයා වටා වලයාකාරව සිට ගෙන කවි හා කතන්දර උගතිමු. ඉන් මේ කවිය ඒ කජු ගස ම සංකේත කර තැනුවක් වැනි විය.

පුංචි ඇටේ පැළ වෙනා
පුංචි පැළේ ගස වෙනා
පුංචි පුංචි නුවණිනා
පුංචි ළමෝ පඬි වෙනා

මේ පුංචි පැළෑටිය මරණාසන්නව තිබිය දී බේරා ගෙන වර්ධනයට රුකුල් දෙන ලද්දේ ජයසේකර මහතා විසිනි. මේ පිළිබඳ පහත සඳහන් පුවත මා මෙතෙක් කිසිවෙකුට කියා හෝ කිසි තැනක ලියා නැත. ඊට හේතුව ටිකක්

එය මගේ තරමට වැඩි කතාවක් යැයි තව මත් සිතෙන බැවිනි. එය කවදා හෝ කිය යුත්තක් නිසා මෙහි සඳහන් කරමි.

කෘෂිකර්මයට, කර්මාන්තයට හෝ මොන ම කලා ශිල්පයකට වත් දක්ෂකමක් මා තුළ නොමැත. එක්තරා අන්දමකට පන්තියෙන් කොන් වී සිටින මම ද සෙසු ළමයින් සමග පන්තියට පැමිණෙමි. කලින් දින බාර දුන් අපේ රචනා සහිත පොතුත් රැගෙන ගුරුතුමා පන්තියට පැමිණෙයි. හරි බරි ගැහී වාඩි වෙන ඔහු එහි උඩින් ම ඇති රචනා පොත ගෙන රැල් බුරුල් අරියි. ඒ මගේ පොතයි. මම සිහින් බියකින් වෙළී යමි.

ඔහු ඒ රචනය කියවන්නේ හොඳ නිසා ද? දුර්වල නිසා ද? ඔහුගේ මුහුණේ පවතින්නේ ප්‍රීතියක් මිස කෝපයක් නො වේ. රචනයේ කිසියම් තැනක එන අදහසක් අවධාරණය කරන ඔහුට 'වෙරි ගුඩ් අයිඩියා' යැයි ඉබේට ම කියවෙයි. සිංහල පුහුණු ගුරුවරයකු වෙතත් ඔහුට බලවත් සතුටක් ඇති වූ අවස්ථාවල මෙසේ ඉංග්‍රීසි වාක්‍යාංශයක් හෝ වචනයක් කියවෙයි.

'මෙන්න මේ වගේ තමයි වාක්‍ය රචනා ලියන්න ඕනෑ' ජයසේකර මහතා පන්තියේ මුල්ලක ගුලි වී එහෙත් සතුටින් පිම්බී සිටින මා දෙස බලා පවසයි. ඉන් පසු මා පන්තියේ ඉදිරියට කැඳවා කියන පුරාවෘත්තයක් ඇත.

'සර් ඩී. බී. ජයතිලක උන්නැහෙ බොහොම අමාරුවෙන් ඉගෙන ගත්තු කෙනෙක්. පුංචි කාලෙ උන්නැහෙගෙ නම බාරොන්. බාරොන් ඉගෙන ගත්තෙ විද්‍යාලංකාර පිරිවෙනේ අධිපති රත්මලානේ ශ්‍රී ධර්මාරාම නායක හාමුදුරුවන්ගෙන්. බාරොන් පාඩම් දෙන කොට හාමුදුරුවෝ නිතර කියපු දෙයක් තමයි 'බාරාත් කවදා හරි මිනිහෙක් වෙයි' කියන එක. ඔහු පුංචි මගේ සිරුරේ උඩ සිට පහළට ඇස් දුවවා හිස සලයි. 'ඒ වගේ අපේ මේ බාරාත් කවදා හරි මිනිහෙක් වෙයි.'

ඔහු මෙය විටක් දෙකක් පමණක් නොව බොහෝ වාර ගණනක් පවසා ඇත. ඒ වනාහි අම්මාගෙන් පමණක් දිය බිඳක් ලබමින් තිබූ ඉහත කී පැළෑටියට ලැබුණු ජලධාරාවක් විය.

ජයසේකර මහතාගේ ප්‍රශංසා හේතු කොට ගෙන පන්තියේ කිසිවෙක් මට ඊර්ෂ්‍යා කෙළේ නැත. එක්කෝ ඔවුන් එහි නියම ගැඹුර නො හඟින්නට ඇත. නැත්නම් මා වැනි කෙනෙකුට ඉන් ඇති වන යහපතක් නැතැයි සිතන්නට ඇත. වෙනෙකක් තබා ඔවුන් මට වඩා හොඳින් ලියන්නට පුළුවන් යැයි සැලකුයේ වෙනත් ළමයකුට ය! ඔහු සාමාන්‍යයෙන් හැම වැඩකට ම දක්ෂකමක් පෙන්වූ ඩයස් පවුලේ සාමාජිකයෙක් විය. ඔහු බොහෝ කාලයක් මෝටර් රථ සේවා ස්ථානයක සේවය කරමින් සිට පසුව ගුරුවරයෙක් විය.

මෙයින් වැඩක් විනා අවැඩක් සිදු වූයේ නැත. වටේ ඉන්නන් ගැන නොතකා කෘතිය කෙරේ විශ්වාසය කෙමෙන් දියුණු කර ගැනීමට මට ඉන් ඉඩ ප්‍රස්තාව සැලසුණි. පහළ මධ්‍යම ගණයේ බාල සිසුන් දෙස බැලූ උපේක්ෂාවෙන් ම මට ඔවුන් දෙස ද බැලීමට බැරිකමක් නැත."

සාහිත්‍ය නිර්මාණයෙහිලා සිය සිසු දරුවන් තුළ නිර්මාණාවේශයත්, උද්‍යෝගයත් දිරියත් දැල්වූ ජයසේකර මහතා බඳු ගුරු පියවරු, ගුරු මවුවරු සදා ගෞරවයට පාත්‍ර විය යුත්තෝ ම ය. මන්ද යත්, ඒ පුංචි පැළ පොඩි දලු ලනු දැක ඊට නිසි දිය පොහොර ලා සරු පසක් තනනුයේ ඔවුන්ගේ ඇගයුම්, අනුදැනුම්, මග පෙන්වීම් අනුව වන හෙයිනි. පාසල් වියේ දී ම අප තුළ දැල්වෙන නිසග ප්‍රතිභානය නිවැරදිව හඳුනා ගන්නෝ ද ඔවුහු ම ය. එහෙයින් මෙබඳු සුපසන් වියත් දිවි මං තනාලන්නෝ ද ඔවුහු ම ය.

කේ. ජයතිලක වැනි කෘතහස්ත ලේඛකයකු සිය ජීවන අත්දැකීම් ප්‍රයෝජනයට ගනිමින් ලියා තැබූ නවකතා, කෙටිකතා සහ විචාර පත පොත අද අපගේ සම්භාවනාවට පාත්‍ර වනුයේ ම යට කී ළමා වයසේ පටන් ඔහුගේ චරිතය තුළ වැඩුණු, සැඟවුණු නැවත මතු වූ යම් යම් සිතුවිලි සංකල්පනා හෙවත් පරිකල්පනයන්ගේ අපූර්වත්වය නිසා ය. ලොව පුරා ජීවමාන එබඳු නිර්මාණශීලී ලේඛකයන්ගේ චරිතාපදාන කියවීමෙන් ඔවුන්ගේ ශ්‍රේෂ්ඨ නිර්මාණවලින් මතු වන ඒ ඒ අව්‍යාජ හැඟීම්, දැනීම්, විඳීම් සේ ම ඔවුන්ගේ දිවි පැවැත්ම හා ජීවන දර්ශනය අපට ද පසක් කර ගත හැකි නම් අපගේ නිර්මාණශීලීත්වයත් රසඥතාවත් ජීවිත පරිඥානයත් වඩාලීමට එය ම ඉවහල් වන්නේ ය.

## අරුත් පැහැදිලි කිරීම

| | | |
|---|---|---|
| ස්වයං චරිතාපදානය | - | තමාගේ ම ජීවිත කතාව |
| අන්‍යතර | - | වෙනත් |
| පුරාවෘත්තය | - | අතීත කතා පුවත |
| ජීවිත පරිඥානය | - | ජීවිතාවබෝධය |
| බහුශ්‍රැත | - | බොහෝ ඇසූ පිරූ තැන් ඇති |
| අවදානම් | - | අනතුරුදායක |
| ස්මරණ ශක්තිය | - | මතක ශක්තිය/ධාරණ ශක්තිය |
| වලයාකාර | - | වළල්ලක ආකාරයට |
| දුඹුල් | - | අපැහැදිලි |

## අවබෝධය

1. මේ ලේඛකයාගේ උපන් ගම හා උගත් පාසල කුමක් ද?
2. කේ. ජයතිලකයන්ගේ ළමා වියේ අත්දැකීමක් කෙටියෙන් විස්තර කරන්න.
3. ජයතිලක ශිෂ්‍යයාගේ දක්ෂතා හඳුනා ගත් ගුරුතුමා කවරෙක් ද? ඉන් මේ ශිෂ්‍යයාට අත් වූ ප්‍රතිඵල කවරේ ද?
4. මෙම පාඩමේ දැක්වෙන ප්‍රසිද්ධ ලේඛකයන් දෙදෙනකු නම් කරන්න.
5. පාඩමේ සඳහන් ආකාරයට මෙම ලේඛකයා කියවූ පැරණි සිංහල පොත් මොනවා ද?

## ලිඛිත අභ්‍යාස

1. **පහත දැක්වෙන වාක්‍යයන්හි අදහස සැකෙවින් ලියන්න.**

   i. ‘පුංචි පැළැටිය මරණාසන්න ව තිබියදී බේරා ගෙන වර්ධනයට රුකුල් දෙන ලද්දේ ජයසේකර මහතා විසිනි.’
   ii. ‘ඒ වනාහි අම්මාගෙන් පමණක් දිය බිඳක් ලබමින් තිබූ ඉහත කී පැළැටියට ලැබුණු ජල ධාරාවක් වේ.’
   iii. ‘අපි ගුරුවරයා වටා වලයාකාරව සිට ගෙන කවි හා කතාන්දර උගනිමු.’
   iv. ‘හැදෙන ගහ දෙපෙත්තෙන් දැනේ.’
   v. ‘පුංචි පුංචි නුවණිනා - පුංචි ළමෝ පඬි වෙනා.’

3. **මේ පදවල අර්ථය දෙන වෙනත් පද (සමානාර්ථ පද) ලියන්න.**

   i. මතකය - ..........................
   ii. පුෂ්ප - ..........................
   iii. පාඨශාලාව - ..........................
   iv. ග්‍රාමීය - ..........................
   v. රුචිය - ..........................

4. **කෙටි පිළිතුරු සපයන්න.**

   i. කේ. ජයතිලක සමගම එක පන්තියේ උගත් මහගම සේකර ප්‍රකට වූයේ කුමක් නිසා ද?
   ii. දෙස් - විදෙස්හි ශ්‍රේෂ්ඨ ලේඛකයන් ලියූ වෙනත් ස්වයං චරිතාපදාන කෘති දෙකක් නම් කරන්න.

iii. මාර්ටින් වික්‍රමසිංහගේ ළමා කාලය ගැන ඔබ අසා ඇති තොරතුරු මොනවා ද?

iv. පාසලේ දී මතු වූ ඔබ සතු සහජ කුසලතා හෝ සුවිශේෂ හැකියාවන් කවරේ ද? ඒ සඳහා ඔබ ලත් දිරි ගැන්වීම් හෝ ඇගයුම් මොනවා ද?

v. ඔබේ දෙමවුපියන්, වැඩිහිටියන් සහ ගුරුවරුන් කෙරෙන් ඔබ අසා ඇති ප්‍රශංසාත්මක වදන් හෝ ඔවදන් මොනවා ද? ඒවා ඔබේ චරිතයේ හැඩගැස්මට කෙසේ බලපානු ඇත් ද?

5. **'මගේ ළමා විය' හෝ 'මගේ පාසල් ජීවිතය' යන මැයෙන් ඔබේ ම අත්දැකීම් සහිත කෙටි රචනයක් ලියන්න.**

## ප්‍රායෝගික අභ්‍යාස

1. **කණ්ඩායම් වශයෙන් බෙදී පහත සඳහන් විශිෂ්ට ගණයේ පුද්ගලයන්ගේ ජීවන අත්දැකීම් සහ විශේෂ තොරතුරු පන්තියට ඉදිරිපත් කරන්න.**

   මාර්ටින් වික්‍රමසිංහ
   රවීන්ද්‍රනාත් තාගෝර්
   මක්සිම් ගෝර්කි
   ජී. බී. සේනානායක
   මහාචාර්ය එදිරිවීර සරච්චන්ද්‍ර

2. **කේ. ජයතිලකගේ පොත් නාමාවලියක් පිළියෙල කරන්න.**
3. **කේ. ජයතිලකගේ කෘති අතරින් ඔබ සිත් ගත් පොත පිළිබඳ රචනාවක් ලියන්න.**

18

# වාසනාවන්

ඕනෑ ම රටක සුන්දරත්වයට සතුන්, ගහකොළ, ඇළදොළ ගංගා ආදිය හේතු වේ. අපේ රට ද සුන්දර පරිසරයකට හිමිකම් කියයි. එය අපට මහත් අභිමානයකි. ඩබ්ලියු. ඒ. අබේසිංහ විසින් රචනා කරන ලද මෙම නිර්මාණය අපේ රටේ සුන්දරත්වය ගැන කියැවෙන්නකි.

මල් රොනට බමරු වඩිනා
ලිය මඬුලු තිබඳ තිලනා
ඇල් පවන ගිමන නිවනා
නිල් දෙරණ වාසනාවන්

ගල් කුළෙන් කුළට හැපෙනා
දුල් රිදී දියෙන් සොබනා
දිය කඳුරු ගලා බසිනා
නිල් දෙරණ වාසනාවන්

තුරු සිරස අරා සිටිනා
සොඳ බටිති මලිති නොමිනා
යස මිහිරි සින්දු කියනා
නිල් දෙරණ වාසනාවන්

කෙළි මතින ඉපිල පිහිනා
නෙක දණ්ඩි පැටව් නටනා
දිය කඩිති සිදී නොයනා
නිල් දෙරණ වාසනාවන්

## අවබෝධය

1. වාසනාවන් යන නිර්මාණයේ තේමාව කුමක් ද?
2. මෙහි සඳහන් ආකාරයට අපේ රටට උරුම ස්වාභාවික සම්පත් මොනවා ද?
3. රචකයා අපේ රට 'නිල් දෙරණ' ලෙස හඳුන්වා ඇත්තේ ඇයි?
4. මේ නිර්මාණය කියවන විට අපේ රටේ සුන්දරත්වය ගැන ඔබේ සිතට එන හැඟීම් පිළිබඳ වාක්‍ය තුනක් ලියන්න.
5. 'තුරු සිරස', 'කෙළි මතින' යන වචනවල අර්ථ ලියන්න.

## ලිඛිත අභ්‍යාස

1. **මෙහි පහත දැක්වෙන අදහස හැඟවෙන ගී පද උපුටා දක්වන්න.**
   i. කඳු මුදුන්වලින් ගලා හැලෙන රිදී පැහැති දිය දහරා ය.
   ii. තුරු මුදුන්හි කුරුල්ලෝ මිහිරි නාද පවත්වති.
   iii. සිහිල් සුළඟින් ග්‍රීෂ්මය නිවෙයි.
2. **පහත දැක්වෙන වචනවලට සමානාර්ථ දෙන පද ගීයෙන් උපුටා ලියන්න.**

   i. ග්‍රීෂ්මය    ii. ක්‍රීඩා    iii. හිස
   iv. ලතා මණ්ඩප    v. පොළොව

3. **පහත දැක්වෙන පද්‍ය පාඨවල අදහස ඔබේ වචනයෙන් ලියන්න.**

   i. මල් රොනට බඹරු වඩිනා
   ලිය මඬුලු නිබඳ නිලනා
   ii. ගල් කුළෙන් කුළට හැපෙනා
   දුල් රිදී දියෙන් සොබනා
   දිය කඳුරු ගලා බසිනා
   iii. කෙළි මතින ඉපිල පිහිනා
   නෙක දණ්ඩි පැටව් නටනා
   දිය කඩිති සිඳී නොයනා

## ප්‍රායෝගික අභ්‍යාස

1. **මේ නිර්මාණය පන්තියේ දී තාලානුකූලව ගායනා කරන්න.**
2. **අපේ රට ගැන ලියැවී ඇති ගද්‍ය පද්‍ය නිර්මාණ එක්රැස් කොට පොත් පිංචක් සකස් කරන්න.**

19

# රාසිංදෙයියන්ට බැණ වැදුණ මුරකරුවා

**සමාජයෙහි වීරත්වයෙන් සැලකුම් ලබන චරිතවල ක්‍රියාකාරකම් අළලා නිර්මාණය වූ පුරාවෘත්ත ද ජන ප්‍රවාද විශේෂයකි. මේවායෙහි විශේෂත්වය වන්නේ එයින් ප්‍රකාශිත චරිත හා සිද්ධි සත්‍ය සේ පෙනී යාම ය. එමගින් ජන සමාජයට වටිනාකම් හා සාරධර්ම හුවා දැක්වීම සිදු කෙරේ.**

**ඩී. පී. වික්‍රමසිංහ විසින් සම්පාදිත *මග දිගට ජන කතා* කෘතිය මහනුවර ප්‍රදේශයේ ප්‍රචලිත පුරාවෘත්ත හා ජන කතා සංග්‍රහයකි. මෙහි ඇතුළත් පුරාවෘත්තවලට පදනම් වූ යුගයේ සමාජ ඉතිහාස කතා ද අන්තර්ගත වීම එහි වැදගත්කම යි. මේ කතාව *මග දිගට ජනකතා* පොතෙන් උපුටා ගෙන ඇත.**

රිකිල්ලගස්කඩ කඩවතින් පටන් ගෙන විල්වල, මොරපාය විහාරස්ථාන පසු කර ගෙන මන්දාරම් නුවර දක්වා පුරාණ ගමන් මාර්ගයක් තිබුණේ ය. දැනුදු ඇත්තේ ය. එම මගෙහි මොරපාය විහාරස්ථානය අසල පිහිටි මානාකොළ නම් ගමෙහි එකල මුරපොළක් විය. පුරාණ ගමන් මාර්ගයන්හි කඩවත් නොහොත් මුරපොළවල් පිහිටියේ කඳු අතරේ වූ කපොලු අසල ය. කපොල්ලෙන් පිටතට යා නො හැකි සේ විශාල කටුපැලැල්ලකින් එය ආවරණය කරන ලද්දේ ය. ඒ අසල මුරකරුවෙක් දිවා රාත්‍රි දෙක්හි ම රැකවල් ගෙන සිටී. මුරකරු නොදන්නා වූ ද අවිශ්වාස කටයුතු වූ ද කිසිවකුට මුරපොළින් ඔබ්බට යෑමට ඉඩ නො ලැබේ. එසේ දුර බැහැර නාඳුනන අයකු වුව හොත් පළාතේ මුලාදෑනියකුගෙන් අවසර පත්‍රයක් ගෙන ආ යුතු වේ. යුද්ධ මුලාදෑනීන් අතර පමණක් ව්‍යවහාර වන “අවසර පදයක්” ඇත්තේ ය. අවසර පදය දත් ඕනෑ ම කෙනෙකුට මුර පොළින් යාමට බාධාවක් නො තිබුණ බව සමහර ඓතිහාසික ප්‍රවෘත්තිවලින් ඔප්පු වේ. එම අවසර පදය අනෙක් කිසිවෙකුට දැනගන්ට නො දී ආරක්ෂා කිරීම මුරකරුවන්ගේ සහ මුලාදෑනින්ගේ යුතුකමෙකි. ඒ අනුව බලන විට කඩවත් මුර කිරීමේ කාර්යයෙහි යෙදෙන්නෝ ඉතා විශ්වාස කටයුතු, ඕනෑ ම අවස්ථාවක රජු වෙනුවෙන් දිවි පිදීමට සූදානම් නිර්භීත ධෛර්යවන්තයෝ වෙති.

මානාකොළ මුරපොළ පිහිටියේ ඉතා උස් කඳු ප්‍රාන්තයක අන්තිම කෙළවරෙහි ය. ඉදිරිපිටින් ඇති කඳු බෑවුමෙහි මතුරට ආදි ගම් රාශියක් පිහිටා ඇත්තේ ය. මේ කඳුවැටි දෙක අතරෙන් බෙලිහුල්ඔය ගලා බසී. කුඩු මහත් ගල්කුළු අතරෙන්

සුදෝ සුදු ජල ධාරා ඇද හැළෙමින් ගලා බස්නා බෙලිහුල්ඔය ද වලාකුළුවලින් වෙළී පවත්නා නිල්වන් ගිරි ශිඛර ද අනෙක් පසෙන් ඇති මන්දාරම් නුවර වට කළ මහා කඳු පංතියෙහි ගිරි ශිඛර වලා දුහුලින් සැරසුණ යෝධ පෙළක් මෙන් පෙනේ. එකින් එක පඩිපෙළක් මෙන් විහිදී ගිය ලියදිවලින් යුත් කුඹුරු සමූහය මැද පොල්, කිතුල්, කොස් ආදි වෘක්ෂයන්ගෙන් සැදුම් ලද ගම්ගොඩවල් රැස සාගරය මැද පිහිටි දිවයින් මෙන් දර්ශනය වේ. බෙලිහුල්ඔය අසල ම පිහිටි මොරපාය විහාරස්ථානය නිසා මේ දර්ශනීයත්වය ද්විගුණ කෙරේ.

ත්‍රිසිංහලාධීශ්වර දෙවන රාජසිංහ හෙවත් රාසිංදෙයියන් දවස මානකොළ කඩවතෙහි මුර සේවාව භාරව සිටියේ 'හවඩියා' නම් ලත් රාජපාක්ෂික ධෛර්යවත් ගම්වැසියෙකි.

මහනුවර ප්‍රතිකාලුන් අල්ලා ගෙන සිටි කාලයේ දී ඔවුන්ගේ ඔත්තුකාරයන් උඩරට පුරා රජු සොයා ඇවිදීමෙහි යෙදී සිටින බව රාජසිංහ රජ දන්නේ ය. ඒ නිසා "ඔත්තුකාරයන් ගැන කඩවත් මුරකරුවන් නිසි සේ ක්‍රියා කෙරේදැ" යි දැනගැනීමට රජුට අවශ්‍ය විය. රජතුමා එක් දවසක ගම්වැසියකු ලෙස සැරසී මානාකොළ කඩවත පරීක්ෂා කිරීම සඳහා එහි පැමිණියේ ය.

රජතුමා මුරකරුට කථාකොට කඩවතින් ඔබ්බට යාමට ඉඩදෙන ලෙස ඉල්ලා සිටියේ ය. මුරකරු උත්තර දෙමින් "මා මෙතන සිටින්නේ නො හඳුනන අවිශ්වාස අයගේ ගමන නතර කිරීමට ය. ඔබ කවුද? කුමක් සඳහා කොහි යන්නෙහි ද? ගමරට කොහි ද? යන කිසිවක් මම නො දන්නෙමි. ඔබට මින් ඔබ්බට යාමට ඉඩ දීම මාගේ රාජ සේවය පැහැර හැරීමකි. එබැවින් ඔබට මින් ඉදිරියට යාමට ඉඩ නො දෙමි. වහා ආපසු හැරී යනු මැනව"යි ඉතා ශික්ෂිතව දැනුම් දුන්නේ ය. එවිට වෙස්වළා ගත් රජතුමා ඉන් පසුබට නොවී "මම මහනුවර අසල ගම්වැසියෙක්මි. මගේ භාර්යාව සහ දරුවෝ මන්දාරම් නුවර වෙසෙති. ඔවුන් බැලීමට යාම සඳහා ඉඩ දුන මැනව"යි කීවේ ය. "ඔබ මහනුවර අසල ගම්වැසියකු නම් එගම ගම් ආරච්චිලගෙන් හෝ කෝරළේ නිලමෙතුමාගෙන් ගමන් අවසර පත්‍රයක් ගෙනාවෙහි දැයි" මුරකරුවා ප්‍රශ්න කෙළේ ය. එවිට රජු "අනේ! ආයුබෝවන්ට මම ඒ දෙපොළ ම සොයන්ට ගියෙමි. නමුත් සම්බ නොවී ය. දරුවකුට අසනීප යයි ආරංචි නිසා ඉක්මනින් යාමට පැමිණියෙමි. මම ඔත්තුකාරයකු හෝ බොරුකාරයෙක් නොවෙමි; ඒ නිසා මට යන්ට ඉඩ දුන මැනව"යි ඉතා ඕනෑකමින් ඉල්ලා සිටියේ ය.

"ඔබ කුමක් කීවත් මම ඔබට මෙතැනින් යාමට ඉඩ නො දෙමි. ඒ මගේ සේවය යි. මගේ සේවයට කැළලක් මම කිසි කලෙක නො කරමි. ඒ නිසා මෙතැන රැඳී නො සිට ආපසු යනු මැනව" යි නැවත ඉතා විනීත අන්දමින් කීවේ ය. එවිට

මගී වෙසින් සිටි රජතුමා ඔලගුවට අත දමා රන් කාසියක් ගෙන, "මෙය රැගෙන මට යන්ට ඉඩ දුන මැනව"යි ඉල්ලා සිටියේ ය. එබසින් මුරකරු දණ්ඩෙන් පහර ලත් සර්පයකු මෙන් කුපිත වී, මුර හෙල්ල අතට ගත්තේ ය. "මම තොපගේ අල්ලසට ගිජු වී මගේ සේවය පැහැර හරින නිවටයෙක් නො වෙමි. තොප නම් ඒකාන්තයෙන් රාජද්‍රෝහී ඔත්තුකාරයකු මෙන් පෙනේ. ත්‍රිසිංහලාධීශ්වර රාසිංදෙයියන්ගේ අණ ඇත්නම් මෙතැනින් එහාට අඩියක්වත් නො තබව; එසේ අඩියක්වත් ඉදිරියට තැබුවොත් රාසිංදෙයියන්ගේ අණින් තොපගේ දිවි තොර කරන බව දැන ගනුව" යි ගර්ජනා කෙළේ ය. ඉන් පසු මගියා තවත් පෙරැත්ත නො කර පසුබැස ආපසු හැරී යන්ට ගියේ ය.

පසු දින හඟුරන්කෙත මහවාසලට වහා පැමිණෙන මෙන් හවඩියාට රාජාඥාවක් ලැබිණි. ඔහු තමාගේ සේවය සිය අතවැස්සාට පවරා දෙගිඩි දෙවාරු සිතින් රජවාසල කරා පැමිණියේ ය. මේ රාජාඥාව කුමක් සඳහා වී ද? මෙයින් තමාට යහපතක් වේ ද? අයහපතක් වේ ද? යනු නිශ්චය කර ගැනීමට ඔහුට නො හැකි විය. (දෙගිඩි දෙවාරු සිත නම් එයයි.) නමුත් තමා දැනුවත්ව නම් රාජද්‍රෝහිකමක් හෝ රාජ සේවය පැහැර හැරීමක් හෝ සිදු වී නැති නිසා සිතට තරමක සැනසීමක් ඇති විය.

නියමිත වේලාවට සිංහාසනාරූඪ වූ මිහිපති තෙමේ "මානාකොළ කඩවත මුරකරු මෙහි කැඳවව්"යයි අණ කෙළේ ය. ඒ අනුව හවඩියා රජු ඉදිරියෙහි පෙනී සිට, මුණින් වැටී නමස්කාර කර පසෙකට විය. "ඊයේ හවස් වරුවේ මානාකොළ කඩවත මුරකළේ තා දැ"යි රජ පිළිවිසී ය. "එසේ ය දේවයන් වහන්ස! බලුගැත්තා එම සේවයෙහි යෙදී සිටියේ ය" යි ඉතා යටහත් පහත් බසින් සැල කර සිටියේ ය. ඒ වේලෙහි යම්කිසි පුරුෂයෙක් මුරපොළින් යාමට වෑයම් කෙළේ දැ'යි නැවතත් රජ ඇසී ය. 'එසේය දේවයන් වහන්ස! යම්කිසි ඔත්තුකාරයකු වැනි පුද්ගලයෙක් මුරපොළින් බැහැර යාමට වෑයම් කෙළේ ය. මම ඊට ඉඩ නුදුන්නෙමි. අන්තිමේ දී ඔහු මට අල්ලසක් දී යාමට වෑයම් කෙළේ ය. එවේලෙහි මම මහාරාජෝත්තමයාණන් වහන්සේගේ අණ මුල් කොට ඔහුට තර්ජනය කර ආපසු පලවා හැරියෙමි" යි මුරකරුවා ඉතා බැගෑපත්ව දන්වා සිටියේ ය.

"ඔහු කවරෙක් ද යන බව තා දනිත් දැ"යි නැවත රජ ප්‍රශ්න කෙළේ ය. "ඔහු කවුරු ද යන බව නො දනිමි; කවුරු හෝ වේවා! ඔහු නම් ඔත්තුකාරයකු හෝ රාජද්‍රෝහියකු හෝ විය යුතු ය. මට අල්ලසක් දී හෝ ඔහුට යාමට උවමනාව තිබුණි. ඒ නිසා ම මම ඔහුට තර්ජනය කළෙමි. එවිට ඔහු කර බා ගෙන ආපසු හැරී ආවේය" යි හවඩියා නැවතත් බැගෑපත්ව සැල කෙළේ ය.

"එසේ නම් දැන ගනුව, ඒ යන්ට වෑයම් කළ රාජද්‍රෝහියා නම් මම වෙමි. අනෙකෙක් නො වේ ය" යි රජ ප්‍රකාශ කෙළේ ය. එවදන් ඇසූ හවඩියාගේ උගුරේ කෙළ සිඳිණි. ගතින් දාඩිය මතු විණි. 'මා නින්දා අපහාස කෙළේ ත්‍රිසිංහලාධීශ්වර රාසිංදෙයියන්ට නො වේ දැ"යි පපුව ගැහෙන්ට විය. ඔහු මුණින් වැටී වැඳ "අහෝ! දේවයන් වහන්ස! බලුගැත්තා නො දැන කළ වරදට මහවාසල කරුණාව ලැබෙන සේක්වා" යි කන්නලව් කරන්ට විය.

එවිට රජ සිනා මුසු මුහුණින් යුතුව "එම්බා මුරකරුව, තොප මහවාසලට කිසි වරදක් නො කෙළෙහි ය. තොප වැනි රාජ සේවකයන් ඇති මම ආඩම්බර වෙමි. තොපගේ ඍජු සහගත රාජ පාක්ෂිකකම ගැන මම ඉතා ප්‍රීති වීමි. රාජ සේවයෙහි යෙදවිය යුත්තේ අල්ලසට ළැදි නො වී තර්ජනයට බිය නො වන තොප වැනි රාජ පාක්ෂිකයන් ය. එබැවින් තොපට මහවාසලින් කරුණා සම්පත් ලැබෙන්නේ ය" යි කියා රජු හිණ පැලඳි රන් හවඩිය ගලවා හවඩියාගේ ඉණේ බැඳ රාජ ස්පර්ශයෙන් බල දානය කොට "රන් හවඩි දුර" යන නම ද පට බැඳ රාජකීය ගම්වරයක් ද ප්‍රදානය කෙළේ ය.

## අරුත් පැහැදිලි කිරීම

| | | |
|---|---|---|
| කඩවත | - | මුරපොළ |
| කපොලු | - | බාධකය |
| කටු පැලැල්ල | - | ආවරණයක් |
| අවසර පදය | - | අවසරය ලබා ගැනීමට යොදා ගත් රහස් වචනයකි |
| ගිරි ශිඛර | - | කඳු මුදුන් |
| ද්විගුණ | - | දෙගුණ |
| ත්‍රි සිංහලාධීශ්වර | - | තුන් සිංහලයට අධිපති |
| රාජ පාක්ෂික | - | රජතුමාට පක්ෂපාත |
| ප්‍රතිකාලුන් | - | පූර්තුගීසීන් |
| ශික්ෂිතව | - | හික්මී |
| කුපිත වී | - | උරණව |
| ඒකාන්තයෙන් ම | - | ඉඳුරා ම/ස්ථිර වශයෙන් ම |
| රාජද්‍රෝහී | - | රජ අණට එරෙහිව |
| ගර්ජනා කළෙන් | - | ගුගුරා කීවෙන් /හඬ නගා කීම |

| | | |
|---|---|---|
| රාජාඥාවක් | - | රජ අණක් |
| අතවැස්සා | - | සහායකයා |
| දෙගිඩි දෙවාරු සිත | - | සිතේ දෙගිඩියාව |
| සිංහාසනාරූඪ | - | සිංහාසනයෙහි අසුන් ගත් |
| බලු ගැත්තා | - | යටහත් බව පෙන්වීමට යටත් වැසියන් රජු ඉදිරියේ තමා හඳුන්වා ගත් පදයකි. |
| අල්ලස | - | යම් කාර්යයක් කර ගැනීමට නීත්‍යනුකූල නො වන ආකාරයට දෙන ත්‍යාගයක් |
| මහ වාසල කරුණාව | - | රජතුමාගේ අනුකම්පාව |
| බල දානය කොට | - | බලය ලබා දී |
| පට බැඳ | - | ස්ථිර නාමය වෙනුවට වෙනත් නමක් දැමීම/යෙදීම/ආදේශ කිරීම |

## අවබෝධය

1. 'හවඩියා' නම් ලත් තැනැත්තාගේ රාජකාරිය කුමක් වී ද?
2. කඩවතින් ඔබ්බට යනු පිණිස මගියා දැක්වූ හේතු කවරේ ද?
3. රජතුමා මුරකරු රජ වාසලට කැඳවූයේ ඇයි ?
4. මුරකරු දෙගිඩියාවෙන් රජ වාසලට ගියේ කුමක් නිසා ද?
5. මානාකොළ මුරපොළ පිහිටි ප්‍රදේශය අවට පරිසරයේ දක්නට තිබුණු දෑ කවරේ ද?
6. මුරකරුගේ චරිතය පිළිබඳ ඔබට සිතෙන දේ වාක්‍ය දෙකකින් ලියන්න.

## ලිඛිත අභ්‍යාස

1. පහත දැක්වෙන පදවලට සමානාර්ථ පද පාඩමෙන් තෝරා ලියන්න.

i. අභීත
ii. දෙගුණ
iii. දිරිමත්
iv. භූපති
v. විධානයෙන්
vi. චර පුරුෂයකු

2. මේ පාඩමෙහි එන අලංකාරවත් යෙදුම් පහක් තෝරා ලියන්න.
උදා:-...ගිරි ශිඛරයන් වලා දුහුලින් සැරසුණ යෝධ පෙළක් මෙන් පෙනේ.

3. රාසිං දෙයියන් මානාකොළ කඩවතේ දී ක්‍රියා කළ ආකාරය පිළිබඳ ඔබේ අදහස දක්වන්න.
4. මේ පාඩමේ එන චරිත තුළින් ඔබ ලත් ජීවිතාදර්ශය පහදන්න.
5. මේ පාඩමේ එන කතාවට සුදුසු වෙනත් මාතෘකාවක් යොදන්න.

## නිර්මාණාත්මක ප්‍රබන්ධ රචනා

අප ඇසූ දුටු දෙයින් හෝ මනඃකල්පිත චරිත, සිද්ධි ඇසුරෙන් හෝ ගොතන ලද කතාවක් හෝ රචනයක් ප්‍රබන්ධයක් සේ සැලකේ. එබඳු ප්‍රබන්ධ රචනයක් ලිවීම නිර්මාණාත්මක වෑයමකි.

නිර්මාණාත්මක ප්‍රබන්ධ රචනා ලිවීමේ අභ්‍යාසයක් ලෙස පහත දැක්වෙන අවස්ථා ඇසුරෙන් එකක් තෝරා රචනයක් හෝ කතාවක්/කතා සැකිල්ලක් ගොඩ නගන්න.

1. සිය සේවය ඇගයීමෙන් රජ වාසලෙන් නිවසට පැමිණි මුරකරුගේ දරුවන් සහ බිරිඳගේ චරිත මුල් කර ගත් කුඩා කතා සැකිල්ලක් සකස් කරන්න.
2. රාජ්‍ය සේවයට කළ කැපවීම හා අවංක භාවය නිසා ම ඔබේ මව්/පියා/ඥාති වැඩිහිටියකු /ගුරුවරයකු ලත් විශේෂ සම්මානයක් ගැන සිතා නිර්මාණාත්මක රචනයක් ලියන්න. සුදුසු මාතෘකාවක් ද යොදන්න.
3. ‘එදා රාසිං දෙයියන්ගෙන් පිදුම් ලත් මුරකරු අද ඔබට හමු වී නම්...’ ඒ ඇසුරෙන් රචනයක් ගොඩ නගන්න.
4. ඈත දුෂ්කර ගම්මානයක රාත්‍රි මුර සංචාරයේ යෙදෙන ආරක්ෂක හමුදා නිලධාරියකුට මෙරට ඔත්තු බැලීම සඳහා පැමිණි පිටසක්වල ජීවියෙක් හමු විය. ඒ ඇසුරෙන් නිර්මාණාත්මක රචනයක් ලියන්න.
5. ‘හදිසියේ වත් හෙට ඉර නො පෑයුව හොත්...’ යන මැයෙන් නිර්මාණාත්මක රචනයක් ලියන්න.

# 20 සූරිය උදා වී යළි සැඟවුණා දෝ

**විවිධ ක්ෂේත්‍රවලට අදාළව බොහෝ තොරතුරු සම්පාදනය කරන ගුවන්විදුලිය, 'හඬ' මූලික කර ගත් ප්‍රබල විද්‍යුත් සන්නිවේදන මාධ්‍යයක් වේ. ගුවන්විදුලි වැඩසටහන්වලට සාවධානව සවන් දීමෙන් අපට දැනුමත් විනෝදයත් දෙක ම ලැබේ. 1995 ඔක්තෝම්බර් 24 වන දින ශ්‍රී ලංකාවට අර්ධ සූර්යග්‍රහණයක් දර්ශනය වූ අවස්ථාවේ ශ්‍රී ලංකා ගුවන්විදුලි සංස්ථාවේ සිංහල ස්වදේශීය සේවයේ ප්‍රචාරය වූ සජීවී වැඩසටහනක් ඇසුරෙන් මේ පාඩම සකස් වී තිබේ.**

**ග්‍රහලෝකාගාර පරිශ්‍රයේ සිට එළිමහන් පටිගත කිරීමක්.**

| | |
|---|---|
| නිවේදක:-<br>(චන්දන තිලකරත්න) | මේ මොහොතේ අප සූදානමින් ඉන්නේ අද දවසේ විශේෂතම සිදුවීම වන සූර්යග්‍රහණය ගැන තොරතුරු දැනගන්න. අප සමග සිටිනවා ආචාර්ය චන්දන ජයරත්න මහතා. සූර්යග්‍රහණයක්, අර්ධ සූර්යග්‍රහණයක් පවතින කාල වකවානුවල බොහෝ දෙනා විවිධ මත පළ කරනවා; මිථ්‍යා විශ්වාස පවා පැතිරෙනවා. මේ ගැන ඔබතුමාට යමක් කියන්න තියෙනවා ද? |
| ආචාර්ය චන්දන ජයරත්න:-<br>(ආරාධිත) | ඔව්, සූර්යග්‍රහණයක් එක්ක මිථ්‍යා විශ්වාස රාශියක් පැතිරිලා. සමහරු එදාට වැඩට යන්නෙ නැතිව, ළමයි ඉස්කෝලෙ යවන්නෙ නැතිව, ඉන්නව ලු බයේ. ඒක බොරු වැඩක්. මේ අවස්ථාව එසේ බිය විය යුතු අවස්ථාවක් නොවේ.<br>ඒත් කුඩා ම දරුවන් අවුරුදු 5-6 අතර ළමයින් මේ දිහා බලන්න එපා. පාසල් යන වයසෙ අවුරුදු 10න් ඉහළ දරුවන්ට නම් මෙය ඉතා ම වැදගත්. ඒ මන්ද, මේ අවස්ථාව විද්‍යාත්මක වශයෙන් ඉතා ම වැදගත් වන නිසා. දරුවන්ට මෙය බලන ආකාරය කියා දී පෙන්විය යුතු යි. කුඩා ම දරුවන්ට එය තේරුම් |

ගන්න අමාරු යි. දැන් අද අපි මෙතැන මේ කොළඹ ග්‍රහලෝකාගාර පරිශ්‍රයේ නැරඹුම් කඳවුරක කුඩා නැරඹුම් කුටියක් හදලා කරන්නෙ ඒක. නිවැරදි පිළිවෙළට සූර්යයාගේ ප්‍රතිබිම්බය මේ ප්‍රක්ෂේපණ තිරය මතට පතිත කරලා සූර්යග්‍රහණය බලන්න දූරේක්ෂයක් සවි කරලා තියෙනවා. නිවැරදි ක්‍රමය අනුගමනය කරනවා නම් සූර්යග්‍රහණයෙන් වෙන හානියක් නැහැ.

මට අහන්න ලැබුණා මේ වෙලාවට සුදු ලූනු පැණියක් බීමෙන් දීර්ඝායුෂ ලැබෙනවා කියලා පත්තරේ තිබුණා කියලා. සුදු ලූනු බොන එක කොහොමත් හොඳයි. හෘදයාබාධ දුරු කරන ගුණයක් සුදු ලූනුවල තියෙනවා. ඔය අතර ජ්‍යොතිෂඥයොත් විවිධ මත ගේනවා. ඉන්දියාවෙ ළමයි ලැබෙන්න ඉන්න මවුවරු හැංගෙනවා කියනවා. ලංකාවෙත් දැන් මේ තත්ත්වය පැතිරිලා. දීපාවලියෙන් පසුව එන සූර්යග්‍රහණය අසුබයි කියලා ඉන්දියාවේ ගැහැනු හැංගෙනවලු.

නිවේදක:- දැන් ඉරේ තත්ත්වය කොහොම ද?

ආචාර්ය චන්දන ජයරත්න:- විස්සෙන් පංගුවක්, සියයට පහක් වැහිලා. අහසේ උඩ කෙළවරෙන් වැහීගෙන එනවා. කොළඹට, අනුරාධපුරයට එකිනෙක වෙනස් ප්‍රමාණයෙන් මෙය දර්ශනය වෙනවා.



ප්‍රධාන මැදිරියේ සිට

| | |
|---|---|
| මෙහෙයුම් නිවේදකඃ- (පාලිත පෙරේරා මහතා) | ඔව් චන්දන... අපත් සූදානමින් ඉන්නේ සූර්යග්‍රහණය නරඹන්න. විද්‍යා ලේඛක අනුර සී. පෙරේරා මහතා මේ දැන් මැදිරියෙන් පිටතට දුවලා ගිහින් ඉරේ තත්ත්වය බලලා ආවා.<br>අද උදේ අටකුත් විනාඩි 47ට ලංකාවෙන් වැඩි ප්‍රමාණයකට මේ අර්ධ සූර්යග්‍රහණය පේනවා. මේ සාකච්ඡාවේදි තව කතා කළ යුතු යමක් තියෙනවා. මේ සූර්යග්‍රහණය සිදු වන වේලාවෙ ම නො පීදුණු ගහකට ඉදලකින් ගැහැව්වා ම එල දරනවා කියලා කතාවක් තියෙනවා. මේ ගැන වීරරත්න මහත්මයාගෙන් යමක් අහන්න කැමති යි. |
| ආචාර්ය සුසිල් වීරරත්නඃ- | ඒවායේ යම් පදනමක් ඇති. ඒත් සංඛ්‍යාලේඛන අරන් හොයලා බලලා ඒක පර්යේෂණාත්මකව ඔප්පු කළ පසුවයි අපට ඒක නැහැ කියා කියන්න පුළුවන්. ඒ නිසා ඔවැනි අදහස් ගැන එකවර තීරණ දෙන්න අමාරුයි. |
| මෙහෙයුම් නිවේදකඃ- | ඉන්දියාවේ නම් අරළු, බුළු, නෙල්ලි පත එකට සිඳ බොන්න දෙනවලු. ආචාර්ය චන්දන ජයරත්න නම් කිව්වෙ ඒවා කොයි වෙලේ බිව්වත් හොඳයි කියලා. සූර්යග්‍රහණයක් ඇතත් නැතත් ඒවා බොන එක හොඳ යි.<br>මමයි, ධර්මරත්න මහත්මයයි තව ම මේ මැදිරියෙන් පිටතට ගියේ නැහැ. මේ අවස්ථාව දැක ගන්න. ඇත්තට ම මෙවර පූර්ණ සූර්යග්‍රහණයක් පේන්නෙ කොයි පළාත්වලට ද? |
| ජී.එම්.ජී. ධර්මරත්න මහතාඃ- | කල්කටාව, බංග්ලාදේශය හරහා බුරුමය කිට්ටුව මේ පූර්ණ සූර්යග්‍රහණය පේනවා. ඇෆ්ගනිස්ථානයෙන් පටන් ගෙන වියට්නාමය හරහා බුරුමය දක්වා ඒ ටිකට මෙය පූර්ණ සූර්යග්‍රහණයක් ලෙස පෙනේවි. |

මෙහෙයුම් නිවේදකඃ- ඒ කියන්නේ පූර්ණ සූර්යග්‍රහණය පෙනෙන්නෙ එක පටියක් සේ දිවෙන කලාපයක පමණයි. සුළු ප්‍රදේශයකට විතරයි. ඒ ඇයි කියන්න පුළුවන් ද?

අනුර සී. පෙරේරාඃ- ඔව්, වර්ග කිලෝ මීටර 275ක පමණ සුළු ප්‍රදේශයක් දක්වා පමණයි මේ ඡායාව වැටෙන්නෙ. ඒකට චන්ද්‍රයා පුළුවන් තරම් ළං වෙන්න ඕන. පූර්ණ ග්‍රහණයක් වුණාට උතුරු ඉන්දියාව, පකිස්ථානය, බුරුමය වගේ සීමාසන්න කලාපයකට පමණයි ඒක පේන්නෙ. අද උදේ 8.47ට ලංකාවට දර්ශනය වෙන්නෙ අර්ධ සූර්ය ග්‍රහණයක්. ඒ වෙලාවට වලාකුළු රහිත පැහැදිලි අහසක් තිබේවි කියලා බලාපොරොත්තු වෙනවා. ඒත් අහසේ වලාකුළුවල අද වෙනසක් පේනවා. උතුර, නැගෙනහිර, උතුරු මැද පළාත්වල තරමක වැහිබර කාලගුණයක් පවතිනවා. වලාකුළුවල තත්ත්වය නිසා මේ අර්ධ ග්‍රහණය පෙනෙන්නෙ නැති වෙන්නත් පුළුවන්.

මෙහෙයුම් නිවේදකඃ- ආචාර්ය චන්දන ජයරත්න සමග චන්දන තිලකරත්න ග්‍රහලෝකාගාරයේ සිට ඒ ගැන තවත් තොරතුරු ගෙන ඒවි.
1955 දී පූර්ණ සූර්යග්‍රහණයක් මං නම් දැක්කා අනුරට මතක ද මන්දා... අනුර නම් පොඩි ඇති.

අනුර සී. පෙරේරා ඃ- ඔව්, මට වයස අවුරුදු 8ක් විතර ඇති. ඒ අවස්ථාව මගේ සිතේ තදින් ම තැන්පත් වුණා. පාන්දර සූර්යයා නැගලා අහස කළු වෙලා තරු දිලුණා. හැන්දෑවට කුරුල්ලන් කෑ ගහන ශබ්දය ඒ වෙලාවෙ ඇහෙන්න ගත්තා. හරක් අමුතු හැසිරීම් ස්වභාවයක් පෙන්නුවා. පොඩි ළමයෙක් විදිහට මට හිතා ගන්න බැරිව ගියා මොකක් ද වුණේ කියලා.

කේ. ආර්. අභයසිංහඃ- 1955 ජූනි 20 වෙනිදා පූර්ණග්‍රහණය පටන් ගත්තෙ උදේ 8.11ට උදේ 8.11 සිට 8.15 දක්වා තිබිලා ඉවර වුණා. විනාඩි 8 තත්පර 8යි.

මෙහෙයුම් නිවේදකඃ- කුඩා කාලයේ ත්‍රිකුණාමලයට ගිය ගවේෂණාත්මක ගමනක දී නගරයේ විශාල පිට්ටනියක් මැද්දෙ අප

ගවේෂණාත්මකව සූර්යග්‍රහණය ගැනත් අහස ගැනත් හැදෑරුවා. බුධ ග්‍රහයා පියවි ඇසින් දැක ගැනීමේ වාසනාව එදා මට ලැබුණා.

අනුර සී. පෙරේරා:- සූර්යග්‍රහණයේ දී සූර්යයා අඳුරු වන නිසාත්, බුධ, සූර්යයා ළඟ ම සිටින ග්‍රහයා නිසාත් එහෙම දකින්න පුළුවන්. ඒ නිසයි බුධ පියවි ඇසින් දකින්න හැකි වෙන්නේ.

ආචාර්ය සුසිල් වීරරත්න:- මේ වැඩසටහනට කන් දෙන ශිෂ්‍යයන්ට කියන්න පණිවුඩයක් තියෙනවා. මේ සූර්යග්‍රහණය වෙන මොහොත හරි ම අපූරුයි. කුකුළන් නැවත වතාවක් හඬලන්න ගන්නවා. නිදිකුම්බා, තෝර වගේ ගස්වල කොළ නැවෙනවා. මලානික ස්වභාවයක් ගන්නවා. දැන් 8.46ට අනුරාධපුර, පොලොන්නරුව, යාපනය වැනි ප්‍රදේශවල මේ වෙනස්කම් දකින්න ලැබේවි. සතුන්ගේ චර්යාවන් ද වෙනස් වේවි. ඔබත් මේ මොහොත දැක බලා ගන්න.

ධර්මරත්න මහතා:- ඔව්... පාසල් ළමයි ඔය බොරු මිථ්‍යා මතවලින් මිදිලා ආරක්ෂක විධි ක්‍රම යොදා මේක බලාගන්න. ඒක වටිනා දෙයක්...

මෙහෙයුම් නිවේදක:- ඔව්, එහෙනම් අර්ධ සූර්යග්‍රහණය නරඹන්න ඔබට කරන ආරාධනාවත් සමඟ අපි ග්‍රහලෝකාගාරයට යනවා. චන්දන තිලකරත්න, මයික්‍රෆෝනය ඔබට.

**(නැවත ග්‍රහලෝකාගාරයේ සිට)**

නිවේදක:-
(චන්දන තිලකරත්න) ස්තුතියි... ඔව් දැන් අප සූර්යයා දකින්නේ තුදුස්වක හඳ වගේ. සමහර පාසල්වල අද නිවාඩු දීලා. සත්‍ය වගේ ම අසත්‍ය තොරතුරුත් මේ සූර්ය ග්‍රහණය සම්බන්ධයෙන් පැතිරිලා. ඒත් අප සමඟ මෙහි සිටිනවා පාසල් ශිෂ්‍යයෙක්.
අපි කතාකරල බලමු.

ඔබ මොන පාසැලෙන් ද? කොහොම ද, මෙහි ආවේ?

ශිෂ්‍යයා :- මම අශෝක විද්‍යාලයෙ... විද්‍යා සංගමයේ සර් අපිව එක්ක ආවා. අම්මලා තාත්තලා දැකලා තිබුණු නිසා අපිත් ආසාවෙන් හිටියේ මේක බලන්න. සර්ට ස්තුතිවන්ත වෙන්න ඕන.

නිවේදක:- දැන් කොහොම ද? ඔබේ සූදානම?

ශිෂ්‍යයා :- අපි ම හදාගත් උපකරණයක් තියෙනවා. ජේ. සී. අමරසේකර සර්ගේ පුතා සමීර අමරසේකර තමයි ඒක හැදුවේ. අපි සේයාපට කීපයක් එකට තබා ස්ටේප්ලර් කරල බැලුවා.

නිවේදක:- අපිට ගෙදර දීත් මේ උපකරණ නැතිව මේක බලන්න පුළුවන් නේද, ආචාර්ය ජයරත්න මහත්මයා...?

ආචාර්ය චන්දන ජයරත්න:- ඔව්, ගෙදරදීත් පුළුවන්. අද මෙතැන සුදු තිරයක් මත සූර්ය ප්‍රතිබිම්බය ප්‍රක්ෂේපණය කළ විට ලස්සනට පෙනෙනවා. සෙනඟ වැඩි නිසා අපට වීඩියෝ මාර්ගයෙන් පෙන්වන්න වෙනවා.

ගෙදර දී කාඩ්බෝඩ් කෑල්ලක් ඇරගෙන මැදින් කුඩා සිදුරක් විදගන්න. ඒ සිදුර සූර්යයා දෙසට අල්ලා සූර්යයාගෙන් එන ආලෝක කදම්බය දර්පණයකට ගෙන බිත්තියකට අල්ලා බලන්න.

බිම සුදුරෙද්දක් එළා ගත්තත් ඒ ප්‍රතිබිම්බය දැකගන්න පුළුවන්. දැන් සූර්යයා හතරෙන් එකක් පමණ වැහිලා ලස්සනට පේනවා. දැන් ඔබ බලනවා නම් අර කුඩා සිදුර තුළින් එන ආලෝක කදම්බය දර්පණයට ගන්න පුළුවන්.

නිවේදක:- තවත් විශේෂ යමක් තියේවි ද කියන්න.

ආචාර්ය චන්දන ජයරත්න:- කඩදාසියෙ කුඩා සිදුර තුළින් එන ආලෝක කදම්බය දර්පණය තුළට ගැනීම යි කළ යුත්තේ. පියවි ඇසින් බැලීමේ දී හුඟ දෙනෙක් හුඟ වෙලාවක් බලාගෙන ඉද්දී ඇස් අන්ධ විය හැකියි. සූර්යග්‍රහණයක් ඇතත්, නැතත් සූර්යයා දෙස පියවි ඇසින් බැලීමේ දී ඇහැ පිච්චෙනවා; ඇස් අන්ධ වෙන්න පුළුවන්. පූර්ණ සූර්යග්‍රහණයක දී අඳුරු වැටී තිබී එකවර ම සූර්යයා දෙස බැලුවොත් ඇහේ බබා ලොකු වෙනවා. විශාල

ආලෝකයක් එකවර ඒමෙන් ඇස අඳුරු විය හැකියි. සූර්යයාගේ පාර ජම්බුල කිරණ එනවා. ඒකෙන් ඇස් අන්ධ වෙනවා.

ඒ නිසා ගෙදර දී වුණත් ඒක ආරක්ෂිතව කළ යුතු දෙයක්. සපත්තු පෙට්ටියක් ගන්න. කතුරකින් අල්පෙනෙත්ති සිදුරකට වඩා ටිකක් ලොකු සිදුරක් හදා ගන්න. පිටුපස සුදු කඩදාසියක් අලවා ගන්න. ඒ විදිහටත් බලන්න පුළුවන්.



නිවේදක :- අර වීදුරුවක් අරන් පහන්දැලි ගාලා ගත්තම වුණත් පුංචි ම ළමයින්ට බලන්න හොඳ නැද්ද?

ආචාර්ය ජයරත්න :- කුඩා ළමයෙක් ඒ වීදුරුව පැල්ලම් හිටින විදිහට කළු කළා ම ඒක අහිතකරයි. ඒක පොදුවේ හොඳයි කිව්වත් දරුවන්ට වැඩිය ගැළපෙන්නෙ නැහැ. හේතුව වීදුරුව නිවැරදිව කළු කර ගන්න දරුවො දන්නෙ නැති නිසා.

කේ. ආර්. අභයසිංහ:- පාසල් දරුවන් මේවා දැන ගත යුතුයි. ඉර බහිනවා. සඳ නඟිනවා. අප වෙසෙන පෘථිවිය තමා වටේ කැරකෙමින් සූර්යයා වටා යනවා. චන්ද්‍රයාත් කැරකෙනවා. චන්ද්‍රයා තමා වටා ගමන් කරමින් පෘථිවිය වටා ගමන් කරනවා. මේ ගමන් කරන තලය එක සමාන නැහැ. ත්‍රිමාණරූපීව බැලූ විට සංකීර්ණ ගමනක්. මේ සූර්යග්‍රහණ, චන්ද්‍රග්‍රහණ වෙන්නෙ ඒ නිසා.

නිවේදක:- දැන් අප අටවක සඳ වගේ නේද සූර්යයා දකින්නේ.

ආචාර්ය චන්දන ජයරත්න :- සූර්යයා හඳ වගේ කහ පාටට ලස්සනට පෙනෙනවා. විශේෂ කණ්ණාඩියක් පැලඳගෙන බලන්න වෙනවා. මේවා අප හදා ගත යුතු යි. ගුවන් විදුලියේ චන්දන තිලකරත්න මහත්මයාටත් ස්තුතිවන්ත විය යුතුයි, මේ විද්‍යාව ප්‍රචාරය කිරීම සම්බන්ධයෙන්. ජන මාධ්‍යවේදීන් විදිහට විද්‍යාව පතුරාලීම ඉතා ම වැදගත්.



නිවේදක :- නැවතත් අපි ප්‍රධාන මැදිරියට සම්බන්ධ වෙමු.

**ප්‍රධාන මැදිරියේ සිට**

මෙහෙයුම් නිවේදක :- ඔව්, දැන් කොළඹට හරියට ම 8.47ට මේ අර්ධ සූර්යග්‍රහණය දර්ශනය වෙනවා.

අනුර සී. පෙරේරා :- අපේ සාකච්ඡාවට කන් යොමා ඉන්න අය ඇස්වලට ආදරයක් තියෙනවා නම් ඔබට දුන් ඒ උපදෙස් අනුව මේ අවස්ථාව දැක බලා ගන්න.

මෙහෙයුම් නිවේදක :- ඒ වගේ ම මේ සූර්යග්‍රහණයට කලින් ඊයෙ පෙරෙයිදා ඉතා ම ආශ්චර්යවත් අහසක් අපට දැක ගන්න ලැබුණා. මාත්, මගේ දරුවනුත් පෙරේදා උදේ පාන්දර දර්ශනය වූ උල්කාපාත වර්ෂාව දැක ගත්තා. අනුර, ඇත්තට ම සූර්යග්‍රහණයක් අර්ධ සූර්යග්‍රහණයක් සමග උල්කාපාත වර්ෂාවක් ඇති වෙනවා ද? මොනව ද මේ උල්කාපාත...?

අනුර සී. පෙරේරා:- අභ්‍යවකාශයේ ගමන් කරන දූලි අංශු පෘථිවිය හරහා ගමන් කිරීමේ දී පෘථිවියේ ආකර්ෂණයෙන් ඇද ගන්නවා. එහි දී පෘථිවියේ ඇති වන ඝර්ෂණය නිසා ඒ දූලි අංශු විවිධ වර්ණයෙන් දැවෙනවා. පෘථිවියේ ඝර්ෂණයක් සමග ඇති වී තිබෙන රසායනික ද්‍රව්‍ය සමග එකතු වී ඒවා වර්ණ ගැන්වෙනවා. උල්කාපාත කියන්නෙ ඒවාට.



මෙහෙයුම් නිවේදක:- අනුර, ඇත්තට ම මේ සිදුවීම් දෙක දිනයක්, දෙකක් ඇතුළත සිදු වන ආකාරය පවා ආශ්චර්යවත් සිද්ධියක් නේ ද? උල්කාපාත වැස්සක් හා අර්ධ සූර්යග්‍රහණක්...

ආචාර්ය සුසිල් වීරරත්න:- ඔව්, ඇත්තට ම මේ උල්කාපාත වර්ෂාව ඉතා ම අසිරිමත් දර්ශනයක්. සමහර උල්කා, තරුවක් වගේ ඉස්සරහට ම එනවා. සමහර ඒවා විවිධ වර්ණ විහිදුවමින් හරස් අතට යනවා, ඇතැම් උල්කාවන් අපේ ගේ ළඟට ම එනවා වගේ පෙනෙන්න ගන්නවා. ඒත් මේ හැම දේ ම කිලෝ මීටර ලක්ෂ ගාණක් ඉදිරියෙන් සිදු වන අසිරියක්, අපට පේන්නෙ මේ අපේ ගෙවල් ළඟ ම සිදු වන දෙයක් වගේ.

මෙහෙයුම් නිවේදක:- ඔව්, හරි ම අපූරුයි. මේ ගිය සඳුදා... පෙරේදා පාන්දර හතරට මාත් ඒ උල්කාපාත දැක්කා. ඊයෙත් ඒ ආකර්ෂණීය දර්ශනය එසේ ම සිදු වෙනවා කියා තිබුණා. අර්ධ සූර්යග්‍රහණයකට කලින් අහසෙ මහ පෙළහරක්, ආශ්චර්යවත් දර්ශනයක් නේද?

තව ඔය හිරු රාහු අල්ලනවා කියාත් මතයක් තිබෙනවා නේද, සූර්යග්‍රහණය ගැන?

අනුර සී. පෙරේරා:- ඔව්, ඒ තාරකා විද්‍යාව දියුණු නැති කාලයක, අතීතයේ දී අපේ පැරණි රජවරු නක්ෂත්‍රකරුවන්ගේ ජීවිත පවා විනාශ කරලා තිබුණා, මේවා ගැන කලින් දැනුවත් කළේ නැහැ කියලා ඉර ගිල ගන්නවා කියලා මිනිස්සු ඉර බේර ගන්න වෙඩි තියලා තියෙනවා. වැඩි ඈතක නොවේ, 70 ගණන්වල ඉන්දියාවේ. ඒ උණ්ඩ නැවත ඇවිත් මිනිස්සු පවා මැරුණා.

මෙහෙයුම් නිවේදක:- සූර්යග්‍රහණයක දී හෝ අර්ධ සූර්යග්‍රහණයක දී වඩ දිය බා දිය ඇති විය හැකි ද?

අනුර සී. පෙරේරා:- ඔව්, උදාහරණයක් ලෙස කැලණි ගඟ අනෙක් පැත්තට ගලනවා. මුහුදේ වතුර ආපසු එනවා. මාළු බෝට්ටු ආපස්සට එනවා. ඒ වගේ වෙන්න ඉඩ තියෙනවා.

මෙහෙයුම් නිවේදක:- ඔව්, මට මතකයි. එදා අර පූර්ණ සූර්යග්‍රහණයේ දී කාක්කො ඉගිලිලා ගියා. හරක් කන් ගහලා තණ උලා කන්න ගත්තා. කාක්කො කෑ ගහලා කූඩුවලට ආවා හරක් උම්බෑ ගෑවා; තරු දිලෙන්න ගත්තා. හරි අපූරු අත්දැකීමක් ඒක.

අනුර සී. පෙරේරා:- ඔව්, පූර්ණ සූර්යග්‍රහණයක් ඉතා ම චමත්කාර ජනක යි. තාරකා විද්‍යාඥයන් අදත් මේ සූර්යග්‍රහණ ගැන විවිධ පර්යේෂණ කරනවා. ජ්‍යෝතිෂඥයෝ තවමත් අනාවැකි කියනවා. ජීවිතයේ දී ලැබෙන මේ විරල අවස්ථාව මග නො හැර එය නරඹා සතුටු විය හැකි නම් එය වාසනාවක්.



## සාකච්ඡා මණ්ඩපය

### ගුවන් විදුලියේ ප්‍රධාන මැදිරිය

| | |
|---|---|
| මෙහෙයුම් නිවේදක | - පාලිත පෙරේරා මහතා |
| ජනප්‍රිය විද්‍යා ලේඛක හා දේශක | - අනුර සී. පෙරේරා මහතා<br>ආචාර්ය සුසිල් වීරරත්න මහතා |
| කාලගුණ විද්‍යාඥ | - කේ. ආර්. අභයසිංහ මහතා<br>ජී.එම්.ජී. ධර්මරත්න මහතා |

### එළිමහන් පටිගත කිරීම - ග්‍රහලෝකාගාර පරිශ්‍රය

| | |
|---|---|
| නිවේදක | - චන්දන තිලකරත්න මහතා |
| තාරකා විද්‍යාඥ | - ආචාර්ය චන්දන ජයරත්න මහතා |

ප්‍රචාරය වූ දිනය - **1995.10.24**

## අවබෝධය

1. මේ අර්ධ සූර්යග්‍රහණය ලංකාවට දර්ශනය වූයේ කවදා ද?
2. සූර්යග්‍රහණය හා බැඳුණු ජන විශ්වාස දෙකක් පාඩමෙන් උපුටා ලියන්න.
3. සූර්යග්‍රහණයක දී නිකුත් වන ඇසට හානිකර කිරණ වර්ගය කුමක් ද?
4. පූර්ණ සූර්යග්‍රහණයක දී දැකිය හැකි විශේෂ සිදුවීම් මොනවා ද?
5. සූර්යග්‍රහණයක් නැරඹීම සඳහා සකස් කර ගත හැකි සරල ම උපකරණය කුමක් ද?

## ලිඛිත අභ්‍යාස

1. **මින් එක මාතෘකාවක් තෝරා ගෙන ඔබේ අදහස ඡේදයකින් ලියන්න.**

- ගුවන් විදුලිය රූපවාහිනියට වඩා හොඳ ය
- විද්‍යාව සහ මිථ්‍යාව
- සූර්යයා චන්ද්‍රයාට වඩා බලවත් ය
- සවන් දීම සහ පොත්පත් කියවීම

1. **පහත දැක්වෙන එක් අවස්ථාවක් සම්බන්ධයෙන් කවියක් හෝ කුඩා කතාවක් නිර්මාණය කරන්න.**

- හිරු මා හැර ගියේය.
- උඩු ගුවනින් බිමට වැටී.
- සඳ එළියේ තරු ගැන්නෙමි.
- මූදු පතුළ යට කිමිදී.
- හිම වැස්සට හසු වූයෙමි.

## බිත්ති පුවත්පත් ලිපි

බිත්ති පුවත්පත බිත්තියක රඳවන ලද විශේෂ පුවරුවක හෝ බිත්තියේ අලවන ලද දළ කඩදාසියක හෝ විවෘතව ප්‍රදර්ශනයට තබා ඇති නිර්මාණාත්මක ප්‍රකාශනයකි. එය බොහෝ විට අතින් ම ලියා අතින් සිතුවම් ආදිය ඇඳ සැලසුම් කර ගන්නා නිදහස් ප්‍රකාශන මාධ්‍යයකි. ඔබේ පාසලේ මෙන් ම උසස් අධ්‍යාපන ආයතන සහ ඇතැම් කාර්යාල පරිශ්‍රයන්හි පවා බිත්ති පුවත්පත අතිශයින් ජනප්‍රිය වී තිබෙනු දක්නට ඇත. සීමිත කාල පරාසයක් තුළ ප්‍රදර්ශනය වන බිත්ති පුවත්පත නැවත නැවතත් අලුත් වීමත්, එහි නිර්මාණාත්මක ලිපි, රචනා, කවි යනාදිය පළ වීමත් එය ඇසුරු කරන පාඨක පිරිසට විශේෂ අත්දැකීමක් වේ.

බිත්ති පුවත්පතක් සහ ඊට ලියන ලිපියක ස්වරූපය හඳුනා ගැනීමට මෙහි පහත දැක්වෙන කරුණු වැදගත් විය හැකි ය.

- බිත්ති පුවත්පතකට සංස්කාරකවරයකු හෝ සංස්කාරක මණ්ඩලයක් හෝ සිටිය යුතු ය.
- අලුත් වන වාරයක් පාසා එහි සංස්කාරක සටහන් ද අලුත් වනු දැකිය හැකි ය.
- කෙටි ලිපි, රචනා සහ කවි මෙන් ම වෙනත් වැදගත් උද්ධෘත මෙන් ම නිර්මාණාත්මක අදහස් හෝ සිතුවිලි ද බිත්ති පුවත්පතේ පළ වේ.
- අර්ථ සම්පන්න රසවත් අන්තර්ගතයක් ඇති සංක්ෂිප්ත ලිපි රචනා මේ සඳහා යෝග්‍ය වේ.

- කාලීන වැදගත්කමක් ඇති ලිපි, රචනා ද බිත්ති පුවත්පතකට සුදුසු ය.
- බිත්ති පුවත්පත් ලිපියක කිසියම් මතයක්, අදහසක්, පණිවුඩයක් හෝ නිර්මාණාත්මක බවක් පළ විය හැකි ය.

## ලිඛිත අභ්‍යාස

1. **පහත දැක්වෙන මාතෘකා අතරින් එකක් තෝරා ඔබේ පන්තියේ ඇති බිත්ති පුවත්පතේ ප්‍රදර්ශනය කිරීමට සුදුසු ලිපියක් සකස් කරන්න.**

  i. උගත මනා ශිල්පයමයි මතු රැකෙනා
  ii. මා කියැවූ හොඳ ම පොත
  iii. "අපේ ම අපේ ම අපේ ලොවක්...." (ලෝක ළමා දිනයට පණිවුඩයක්)
  iv. "ලෝ වටා ගිය දිනක්" (අන්තර්ජාලයෙන් ලෝ වටා ගිය සංචාරයක සටහනක් ලෙස)
  v. පාසැලේ මා ප්‍රියතම ස්ථානය
  vi. "සමගිය බලය වේ"
  vii. නිශ්ශබ්දතාවේ අගය
  viii. ප්‍රිය වචන කතා කරමු.
  xi. අපි හොඳින් සවන් දෙමු (සවන් දීම වැදගත් වනුයේ ඇයි?)
  x. හොඳ මිතුරන් හඳුනා ගනිමු.

2. **පන්තිය කණ්ඩායම් වශයෙන් බෙදී පන්තියේ බිත්ති පුවත්පත නිර්මාණය කරන්න.**

  i. සංස්කාරකවරයකු පත් කර ගන්න.
  ii. සංස්කාරක සටහනක් ලියන්න.
  iii. ලිපි දෙකක් සකස් කරන්න.
  iv. ඔබ කියවා ඇති පොතකින් හෝ පුවත්පතකින් ගැළපෙන උද්ධෘතයක් කෙටියෙන් උපුටා දක්වන්න.
  v. ඔබ හා මිතුරන් ලියූ කවි හා වෙනත් නිර්මාණ ද අලවා සිතුවමින් හැඩකර ගන්න.
  vi. බිත්ති පුවත්පතේ අත් අකුරු, චිත්‍ර සහ සැලසුම්කරණය ගැන සැලකිලිමත් වන්න.

සඟරාව දිනපතා හෝ සතිපතා පුවත්පතකට වඩා වෙනස් මුද්‍රිත ප්‍රකාශනයකි. පුවත්පතකට ලිපියක් ලිවීමට වඩා නිදහස් ලෙස සඟරාවකට ලිපියක් ලිවීමට හැකි ය. ආකෘතිය හා අන්තර්ගතය ඉක්මවා යන නිදහසක් සඟරාවක තිබේ.

සඟරාවක් සහ සඟරා ලිපියක ස්වභාවය හඳුනා ගැනීමට වැදගත් වන කරුණු කීපයක් මෙහි පහත දැක්වේ.

i. සඟරාව වාර ප්‍රකාශනයක් වන අතර පුවත්පතකට මෙන් ම සඟරාවකට ද සංස්කාරක මණ්ඩලයක් හෝ ස්ථිර ලේඛක පිරිසක් සිටිති.

ii. සඟරාවක පොදු අරමුණක් හෝ විශේෂ අරමුණක් හෝ තිබිය හැකි ය.

iii. පාඨකයා ආකර්ෂණීය ලෙස රඳවා තබා ගත හැකි කාලීන වටිනාකමක් ඇති රසවත් තොරතුරු රැගත් නිර්මාණාත්මක මෙන් ම විශ්ලේෂණාත්මක ලිපි රචනා සඟරාවක පළ විය හැකි ය.

iv. සඟරා ලිපියකින් ද මතයක්, අදහසක්, පණිවුඩයක්, පොදු අත්දැකීමක් හෝ කාලීන ගැටලුවක් ඉදිරිපත් කළ හැකි ය.

v. සඟරා ලිපි ලේඛනයේ දී රචකයාගේ භාෂා ශෛලිය අතිශයින් වැදගත් වේ. නිවැරදි හා නිරවුල් භාෂා භාවිතය අවශ්‍ය වේ. බස් වහර සරල විය යුතු ය.

vi. සඟරාව මුද්‍රිත ප්‍රකාශනයක් ලෙස දිගුකලක් පවත්නා නිසා ගවේෂණාත්මක තොරතුරු රැගත් විවිධ ලිපි එහි පළ කළ හැකි ය.

vii. සඟරාවක ද ලිපිවලට අමතරව සම්මුඛ සාකච්ඡා, විවිධ අදහස්, උද්ධෘත මෙන් ම වෙනත් නිර්මාණ ද පළ කළ හැකි වේ.



1. **ඔබේ පාසලේ පුස්තකාලයේ ඇති සඟරා කියවා ඉන් එකක් පිළිබඳව පහත දැක්වෙන තොරතුරු ලියා දක්වන්න.**
   i. සඟරාවේ නම
   ii. මාසික/ත්‍රෛමාසික/සයමාසික/වාර්ෂික ද යන වග
   iii. සංස්කාරකගේ නම
   iv. ප්‍රධාන ලිපි කීපයක ශීර්ෂ පාඨ
   v. වෙනත් ලේඛන සහ නිර්මාණවල ශීර්ෂ පාඨ

උදාහරණ:- කෙටිකතා/කවි/සම්මුඛ සාකච්ඡා/ඡායාරූප/කාටූන් වැනි

2. **ඔබේ පාසලේ වාර්ෂික සඟරාව සඳහා මෙහි පහත දැක්වෙන මාතෘකා අතරින් එකක් යටතේ ලිපියක් සකස් කරන්න.**

   i. මුලින් ම පාසලට ආ දවස
   ii. "ගුරු-දෙගුරු ඉටු මිතුරු" (දෙමවුපියන් සහ ගුරුවරු අපේ හොඳ ම මිතුරෝ ය).
   iii. මාගේ ප්‍රියතම ලේඛකයා
   iv. තුරු ලතා රැකගනිමු
   v. පාසලෙන් අපට - අපෙන් පාසලට (පාසලෙන් ඔබ ලබන මග පෙන්වීම සහ ඔබෙන් පාසලට විය යුතු යුතුකම්)
   vi. කෘත ගුණ සැලකීම උතුම් ය.

# 21 සතුරු - මිතුරුව

**නිර්මාණාත්මක ප්‍රබන්ධ රචනයට උපදෙස් ලබා දෙන පොත පත සිංහලයේ දුර්ලභ ය. ඒ සඳහා වැදගත් මූලාශ්‍රයක් ලෙස සැලකෙන *ප්‍රබන්ධෝපදේශය* මුනිදාස කුමාරතුංගගේ කෘතියකි. එම ග්‍රන්ථයෙන් උපුටා ගත් කතාවක් මේ පාඩමේ දැක්වේ. එය ලංකාවේ ඉතිහාසය හා බැඳුණු පුවතකි.**

මෙයට අවුරුදු එක්දහස් සසිය පස්පනසකට පෙරැ ලක් දිවැ රජ පැමිණි මහාසේනයෝ මහාවිහාරයෙහි භික්ෂූන්ගේ මතයට විරුද්ධ වූ කෙනෙකි. ඔවුන්ගේ ගුරු වූවෝ සංඝමිත්‍ර නම්හ. ඔවුන් මහාසේනයන්ගේ පිය රජ සමයෙහි ජම්බුද්වීපයෙන් ලංකාවට පැමිණියේ 'මහාවිහාර භික්ෂූන් වෛතුල්‍ය මත ගන්වමි, නැත හොත්, ඔවුන්ගේ විහාරයන් මුලිනුදුරුවා-පියමි' යන ප්‍රතිඥාව කොටැ-ගෙනැ යැ.

මහාසේනයෝ සිය ගුරුනට ඉතා භක්තිමත් වූහ. එහෙයින් ඔවුන්ගේ සමයයෙහි දී ගුරුහු ස්වකීය ප්‍රතිඥාව සමෘද්ධ කැරැලීමට අවකාශ ලද්දෝ යැ. රජුන්ගේ අනුමැතිය ඇති වැ, සංඝමිත්‍රයෝ 'මහාවිහාර වාසී ශ්‍රමණයක්හට අහරක් දුන්නකුට සියක් දඩ යැ' යි අණක් ලැවූහ. මහාවිහාර භික්ෂූහු ආහාර නො ලැබැ, මලයයට ද රුහුණට ද ගියෝ යැ. සංඝමිත්‍රයෝ මහාවිහාරය විනාශ කරවා වෙහෙර බිම සාවා උඳු වැපිරැවූහ.

මහාසේනයන්ගේ මිත්‍ර වූ මේඝවර්ණ නම් අමාත්‍ය කෙනෙක් වූවෝ යැ. සංඝමිත්‍රයන්ගේ ශාසන නාසන ක්‍රියා මොවුන්ගේ මිත්‍ර ධර්මය ලිහිල් කෙළේ යැ. හවුරුදු නවයකට පසු සංඝමිත්‍රයන්, මහාවිහාරය, ලෝවාමහපාය ආදිය ඇතුළු විහාර තුන්සිය සූසැටක් බිඳැ හෙළූ පසු, රට වැසියන් තදින් කිපුණු පසු, මේඝවර්ණයෝ මලයයට ගොස්, එහි සෙනඟ රැස් කොටැ ගෙනැ, රුහුණට ගියෝ යැ. එහි මිනිස්සු මේඝවර්ණයන්ගේ සේනාව ඉතා මහත් කළහ.

මෙසේ සර්වාංග සම්පූර්ණ වූ මහා සේනාව පිරිවරා මේඝවර්ණයෝ අනුරාධපුරය බලා නමා ගත්හ. මේ ප්‍රවෘත්තිය ඇසූ මහාසේනයෝ ද, 'යහළුවා ඔහුගේ තැනෙහි දී මැ, සුදුසු පරිදි දකිමැ' යි තමන්ගේ සේනාව සන්නද්ධ

කොටැ-ගෙනැ, දකුණ බලා ගමන් ගත්තෝ යැ. ඔහු වහවහා යන්නාහු, කිහිප දිනෙකින් මැ සතුරු සෙනඟට නුදුරු වූහ. රජ සෙනඟ පැමිණි බව අසා, මේඝවර්ණයෝ මහගමට නුදුරු දූරතිස්ස නම් වැව සමීපයෙහි කඳවුරු ලා ගත්හ. මහාසේනයන්ගේ කඳවුර එයට නුදුරු වූ සුරක්ෂිත ස්ථානයෙකැ වී යැ.

යහළුවන් ඔවුනොවුන්ගේ ලෙහෙයෙන් කඩු පත් සුරත් කරන දින සෙට යැ. අද දෙකඳවුරෙහි මැ භටයෝ කවස බැඳුම් ලති, කඩු මුවහත් කෙරෙති, දුනු දඬු, දුනු දිය, හී විමසති. නායකයෝ මුළු සෙනඟ පිරික්සා, නොතර තැන් තර කෙරෙති. එක් කඳවුරෙකැ චරයෝ අනෙක් කඳවුරට වෙස් වළා වැදැ, එහි ශක්තිය දැන ගෙනැ, දුර්වල ස්ථානයන් දැනැ ගෙනැ, ස්වකීය පක්ෂය දන්වති. සේනාධිපතීහු, 'මෙතෙක් දෙන පසු කඩ ගෙනැයන්නෝ යැ, මෙතෙක් දෙන ආපදාදියෙහි දී එන්නට ඉන්නෝ යැ' යන ආදින් සේනා සංවිධානය කෙරෙති.

ඇඳිරි ගැසෙත් මැ දෙකඳවුරෙහි මැ රකවල් ඉතා තර යැ. සන්ධි රක්ෂකයා නොහඬවා, ඔහුගේ තෝමරය එල්ලවනු නොදැකැ, කඳවුරට වදනේ සුළඟ පමණෙකි. ඇතැම් භටයෝ නිසැක වැ නිදත්. ඇතැම්හු සන්නාහ සන්නද්ධ වැ, අදිසි පහරකට මුහුණ පාන්නට සැරැසී සිටිති. වරින් වර නායකයෙක් කඳවුර වටා ගොස් සන්ධි බලා, රකවල් බලා එයි.

හිරු බැස හෝරා දෙකක් ගත වියැ. රජ කඳවුරෙහි රක්ෂකයෙක් සතුරු කඳවුරින් එන්නකු දිට. රක්ෂකයා තෝමරය තර කොටැ අල්ලා ගත්තේ යැ, තොල් තද කැරැ-ගත්තේ යැ. එන්නහු ඇසි පිය නො හෙළා බලා සිටියේ යැ. එන්නේ නො නැවතැ මැ එයි. දැන් කඳවුරෙහි පන්දම් එළිය ඔහුට වැටෙයි. හේ ශෝභමාන පුරුෂයෙකි, සුවිනීත ලෙස, සුදු වතින් සැරසුණෙකි. සුදු වතින් වැසූ තටුවක් දෑතින් ගත්තෙකි.

ඔහු හා රක්ෂකයා හා අතර දැන් තුන් බඹයෙක් පමණ යැ. රක්ෂකයාගේ තෝමරය එල්ල වියැ. ඔහුගේ මුව විවර වියැ. ඉන් හඬෙක් නැඟිණ.

"හෝ, නවතිනු. කවරෙක් ද?"

"මම, මේඝවර්ණ. රාජ ස්වාමීන් දක්නට යෙමි. මා දක්වව."

රක්ෂකයා දික් කළ තෝමරය ඇදැ, අමුත්තා වැදැ, "මෙසේ වඩිනු මැනැවැ"යි කියමින් පෙරටු වියැ. ක්ෂණයෙකින් මහාසේන, මේඝවර්ණ යන දෙදෙන යළි දු මුණ ගැසුණෝ යැ. මේඝවර්ණයෝ රජුන් වැඳ, තටුව පසෙකැ තබා, වැස්ම ඉවත් කළෝ යැ.

"මේ කිමෙක් ද, මේඝවර්ණයෙනි?"

"දේවයන් වහන්ස, මට මලය රටින් ලැබුණෙකි. මේ ප්‍රණීත මාංසයෙකි. මේ

මධුර පානයෙකි. පෙර මෙබන්දක් ලත් කලැ මට සිහි වන සේක් ඔබ වහන්-සේ යැ. අද ද වෙනසෙක් නොවී යැ. එ හෙයින් ගෙනැ ආමි. කැව මැනැවැ, පුව මැනැවැ.''

''තෙපි ද හිඳැ ගනුව, මේඝවර්ණයෙනි'' යි කියමින් මහාසේනයෝ හිඳ ගත්හ. මේඝවර්ණයෝ ද හිඳ ගත්හ. තටුව මදින් මඳ හිස් වියැ. ''ඉතා මිහිරි යි, මේඝවර්ණයෙනි, ඉතා මිහිරි යි'' යනු අතරතුරෙ කිහිප විටක් මැ රජුන්ගේ මුවින් නික්මිණ.

කා බී කෙළවර වූ පසු, යහළුවෝ දෙදෙන එක් වැ හිඳැ ගෙනැ, කථාවට වැටුණෝ යැ.

''මාගේ පරම මිත්‍ර වූ තෙපි මට කවර හෙයින් දාමරික වූ හූ ද?''

''ඔබ වහන්සේහට මම දාමරික නො වීමි. ඔබ වහන්සේගේ ශාසන නාසන ක්‍රියාවට මම දාමරිකයෙමි. මහා විහාරය නැසීමෙන් ශෝකයට පත් වැ මෙසේ කළෙමි.''

''මේඝවර්ණයෙනි, මා මුළා වැ කළ වරදෙකි. මම මහාවිහාරය නැවැතැ කරවන්නෙමි. තෙපි මාගේ වරද ක්ෂමා කරවු ද?''

''ඒකාන්තයෙන් මැ, දේවයන් වහන්ස, ක්ෂමා කෙරෙමි. මහාවිහාරය කැරැවීමට සහාය ද වෙමි. මාගේ වරද ද ක්ෂමා කළ මැනැවි.'' දෙමිතුරෝ මිතුරෝ මැ වූහ.

යුද්ධය එපමණෙකි. මේ ප්‍රවෘත්තිය විදුලිය මෙන් දෙකඳවුරෙහි පැතිරැ ගියේ යැ. පසු දිනැ උදයෙහි එහි දක්නට ලැබුණේ කඳවුරු උගුළුවා යන්නට සැරැසෙනු පමණෙකි. සත්‍ය වූ මිත්‍ර ධර්මයක් බැලුව මැනවි. දහස් ගණන් ජනයාගේ මරණය වැළැකිණ. මහාවිහාරය පමණක් නොවැ, නසන ලද සියලු විහාර මැ පෙරළා කැරැවිණ. මහා ජනයාගේ කෝපය නිවිණ. රට සුවපත් විණ.

## අරුත් පැහැදිලි කිරීම

| | |
|---|---|
| උභයාංශය | - දෙඅංශය |
| කවස | - යුද ඇඳුම |
| චරයෝ | - තොරතුරු සොයමින් රහසේ හැසිරෙන පුද්ගලයෝ |
| ජම්බුද්වීපයෙන් | - දඹදිවින් |
| තෝමරය | - යුද්ධයේ දී සතුරන්ට ඇනීම සඳහා භාවිත කෙරෙන ආයුධයකි |
| පුව මැනව | - බොනු මැනවි |
| පුර | - නගර |
| ප්‍රණීත | - ඉතා රසවත් |
| ප්‍රතිඥාව | - පොරොන්දුව |
| මුළාව | - මෝඩකම |
| ශ්‍රමණයක් | - භික්ෂුවක් |
| සන්නද්ධ කොට | - යුද්ධයට සූදානම් කර |
| සුරත් | - ඉතා රතු |
| සර්වාංග | - සියලු අංග |

## අවබෝධය

1. **පාඩම කියවා අසා ඇති ප්‍රශ්නවලට පිළිතුරු සපයන්න.**

   i. මහසෙන් රජතුමාගේ ගුරුතුමා ලංකාවට පැමිණියේ කුමන කාලයේ දී ද?
   ii. පාඩමට අනුව සංඝමිත්‍ර ලංකාවට පැමිණියේ කෙබඳු අදහසක් ඇතිව ද?
   iii. මහාවිහාර භික්ෂූන්ට ආහාර නො ලැබුණේ ඇයි?
   iv. මහසෙන් රජුගේ මිත්‍රයා කවුද?
   v. මහසෙන් රජු හා මිතුරා අතර අමනාපයක් ඇති වූයේ ඇයි?
   vi. මේඝවර්ණයන්ගේ ක්‍රියාව පිළිබඳ ඔබේ අදහස් දක්වන්න.

1. **හිස් තැනට සුදුසු වචනය තෝරා හිස්තැන් පුරවන්න.**

   i. මහසෙන් රජතුමා මහාවිහාර භික්ෂූන්ගේ මතයට ...................... අයෙකි.

   (අ) ඇහුම්කන් දුන් (ආ) විරුද්ධ වූ (ඇ) පක්ෂපාතී

   ii. ........................... රටෙහි මිනිස්සු මේඝවර්ණයන්ගේ සේනාව ශක්තිමත් කළහ.

   (අ) සියම් (ආ) මලය (ඇ) රුහුණු

   iii. අඳුර වැටෙත් ම කඳවුරු දෙකෙහි ම රකවල් ඉතා ..................... විය.

   (අ) තර (ආ) මඳ (ඇ) බිය

   iv. හිරු බැස ගිය පසු මහසෙන් රජුගේ කඳවුරට පැමිණි පුරුෂයා වූයේ .................................

   (අ) සංඝමිත්‍ර ය (ආ) දූරතිස්ස ය (ඇ) මේඝවර්ණ ය

   v. මහසෙන් හා මේඝවර්ණ යන යහළුවන් දෙදෙනා යළි මිත්‍ර වීම නිසා රට ........................... විය.

   (අ) භේද (ආ) සුවපත් (ඇ) එක්සේසත්

2. **පහත සඳහන් වාක්‍යවල තද කළු අකුරින් මුද්‍රිත පදවල අදහස ඔබේ වචනයෙන් ලියන්න.**

   i. සංඝමිත්‍රයන්ගේ ශාසන නාසන ක්‍රියා මොවුන්ගේ **මිත්‍ර ධර්මය ලිහිල් කළේ** ය.

   ii. ඇඳිරි ගැසෙත් මැ දෙකඳවුරෙහි මැ **රකවල්** ඉතා තර යැ.

   iii. තෝමරය **තර කොට** අල්ලා ගත්තේ ය.

   iv. "මාගේ **පරම මිත්‍ර** වූ තෙපි මට කවර හෙයින් දාමරික වූ ද?"

3. **මේ පාඩමේ ඇතුළත් මහාප්‍රාණ අක්ෂර සහිත වචන අභ්‍යාස පොතේ ලියන්න.**

4. **පහත සඳහන් නාමපදවල අනුක්ත පද ලියන්න.**

| | | | | | |
|---|---|---|---|---|---|
| i. | මහාසේනයෝ | - | vi. | මිනිස්සු | - |
| ii. | භික්ෂූහු | - | vii. | රජ | - |
| iii. | ඔවුහු | - | viii. | යහළුවෝ | - |
| iv. | ගුරුහු | - | ix. | යන්නෝ | - |
| v. | සංඝමිත්‍රයෝ | - | x. | ඇතැම්හු | - |

5. **පහත සඳහන් වාක්‍යවල ඉරි ඇඳි පද කුමන පුරුෂයට අයත් දැයි ලියන්න.**

i. මහා විහාර භික්ෂූහු ආහාර නොලැබ, මලයයට ද රුහුණට ද ගියෝ යැ.

ii. "මම, මේඝවර්ණ ..."

iii. "තෙපි ද හිඳැගනුව, මේඝවර්ණයෙනි."

iv. "ඔබවහන්සේහට මම දාමරික නොවීමි..."

v. දෙමිතුරෝ මිතුරෝ මැ වූහ.

## ප්‍රායෝගික අභ්‍යාස

1. **මේ පාඩම ශබ්ද නඟා කියවන්න.**
2. **දෙදෙනා බැගින් එක් වී මහසෙන් රජු හා මේඝවර්ණ ඇමති අතර ඇති වූ සංවාදය නාට්‍යානුරූපීව කියවන්න.**
3. **මහා විහාරය හා විනාශ කෙරුණු අනෙකුත් වෙහෙර විහාර නැවත ඉදි කළ පසු මහසෙන් රජු සතුටට පත්ව සිටින අවස්ථාවක, මේඝවර්ණ ඇමති මුණගැසුණු විට ඔවුන් දෙදෙනා අතර ඇති විය හැකි දෙබසක් නිර්මාණය කරන්න.**